සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව 2556ක් වූ මැදින් මස (ව්‍යවහාරික වර්ෂ 2013 මාර්තු)

17 වෙනි කලාපය

## මිනී ඇළුවලින් කරන කොඩිවිනවලින් ලෙඩ රෝග කරදර ඇති වෙන හැටි



රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයකට පෙර...



නම් ඇති සුමේධය තාපස තුම — එකලා
ගම් වැසියනගෙ වැඩ දානෙක තතු — දැකලා
පෙම් කර මුනිඳුනට වැඩුමට මග — රැකලා
තුම් බුදු බව පැතිය සෙත සදනට — සකලා

පස් මහ බලය තිබුණත් බෝසත් — තුමට
උස් ලොකු කමට පෙන්නුවෙ නැත එය — හැමට
දිස්වෙන මෙ කය පාවඩ කර මුනි — නමට
තොස් ලෙස පැතිය බුදු බව කය හැර — බිමට

කාම මඩ වලෙන් ලෝ සත එතෙර — කර
පැම පිණිස සදහම් නිවනටම — බර
බෝම ගරු බැතින් තම කය බිමට — හැර
යැම පිණිස පිට දුනි මුනිඳුනට — උර

කුළුණු ගුණය ලෝ සව් සත කෙරෙහි — යොමා
ඇළුණු කාම මඩ හරිනට දහම — දමා
වෙළුණු බැති සිතින් බෝසත් තපස — තුමා
ගිළුණු මඩෙහි සිට විවරණ ලදිය — අමා

තුන් ලෝ සතගෙ භව දුක නැති — කරලන්න
උන් මහ මුනිඳු ගුණ බල යළි — පතුරන්න
දුන් විවරණය මතු මල් එල — නගවන්න
පින් ඇති සුමේධය සැරසුනි — මෙලෙසින්න

මතු දවසකදී ගෝතම නම් නම — දරන
පැතුමන් සඵල වන දවසකි දෙන — සරණ
සතු වී බුදු බවම තුන් ලොව කළ — තරණ
නෙතු සව් සතට පහනකි නැණ එළි — කරන

අරිහත් වෙන්න නැණ බල තිබුණත් — එකල
බැරිවත් නෙවෙයි අදිටන ගත්තේ — විසල
එරිලත් මඩේ දීපංකර මුනි — අසල
දිරිමත් ලෙසින් ගති විවරණ ලෙස — සඵල

එදා මෙදා තුර පිරු පාරමී — ගොන්න
සදා සැනසුමක් ගෙන දුනි බල — යෙන්න
බදා ගත්තු ලොව හැර දුක — දුරලන්න
වෙදා ඔබයි හිමියනි ලොව වැඩ — උන්න

පබැඳුම - නිහිඳු චන්දන සිරිවර්ධන

# අපි නොදත් සසර ගනුදෙනුවල හැටි

ජාති ධර්ම තුළ සැඟවිලා තියෙන එකොළොස් මහා ගින්න සහ බෞද්ධ දර්ශනය පිළිබඳව 15 වන කලාපයෙන් පැහැදිලි කළා. ප්‍රියයි, මධුරයි, වටිනවා, අපට ඒවා උවමනායි කියල මේ ජාති ධර්මයන් රැස්කර ගන්න, ආයු කාලය අවුරුදු අසූවක් පමණ වන මේ ජීවිත කාලයෙන් අවුරුදු තිහක් තිස්පහක් පමණ කාලයක් ශ්‍රමය හා ධනය වැයකර ලබාගන්නා සියලු ජාති ධර්මයන්ගේ ස්වභාවය මෙබඳු සැඟවුනු ගිනි සහිත නම්, ඒවා වැඩි වැඩියෙන් රැස්කර ගත් පමණට, වැඩි වැඩියෙන් ගිනි එනවා. (ඛු.නි.1 විශාඛා සූත්‍රය-313 පිටුව) බුදු පියාණන් වහන්සේ මේ බව මනාව පැහැදිලි කර දේශනා කර තියෙනවා. දිනක් විශාඛාව තෙත් වස්ත්‍ර ඇතිව තෙත් කෙස් ඇතිව බුදු පියාණන් වහන්සේ වෙත ඇවිත්, සකසා වැඳ එකත් පසෙකට වී සිටියා.

එවිට භාග්‍යවතුන් වහන්සේ,

''විශාඛාවෙනි, දැන් තෙත් වත් ඇතිව, තෙත් කෙහෙ ඇතිව, තෙපි කොයින් එවුද? කොහි සිට මේ මධ්‍යාහ්නයෙහි මෙහි එළඹෙනුවද? '' යි විමසුවා.

''වහන්ස, මා ප්‍රිය මනාප මිණිබිරියක් කලුරිය කළාය. එහෙයින් මේ තෙත් වත් ඇතිව තෙත් කෙහෙ ඇතිව මද්දහන්හි මෙහි එළඹියෙමි'' යි ඇය උත්තර දුන්නා. ''විශාඛාවෙනි, සැවැත් නුවර යම් පමණ මිනිස්සු ඇත්නම් එපමණම දූ පුතුන් ද මුණුබුරු මිණිබිරියන් ද කැමැත්තහුදැ''යි භාග්‍යවතුන් වහන්සේ ඇහුවා. ''වහන්ස, සැවැත් නුවර යම් පමණ මිනිස්සු ඇත්නම් එපමණම දූ පුතුන් මුණුබුරු මිණිබිරියනුත් කැමැත්තෙමැ''යි ඇය උත්තර දුන්නා. (දේශනාව කෙටි කර දක්වා ඇත.)

''විශාඛාවෙනි, දිනපතා කොපමණ මිනිස්සු සැවැත් නුවරෙහි කලුරිය කෙරෙත්ද?.... වහන්ස, දිනපතා සැවැත් නුවර දස දෙනෙකුත් මිනිස්සු කලුරිය කෙරෙත්, දිනපතා සැවැත් නුවර නව දෙනෙකුත්.... අට දෙනෙකුත්.... හත් දෙනෙකුත්.... දිනපතා සැවැත් නුවර දෙ මිනිසෙකුත් කලුරිය කෙරෙයි. වහන්ස කලුරිය කරන මිනිසුන්ගෙන් සැවැත් නුවර නොසිස්'' යැයි ඇය පැවසුවා.

''විශාඛාවෙනි, ඒ කිමැයි සිතුවද? තෙපි කිසි විටෙකත් නොතෙත් වස්ත්‍ර ඇතිවනු, නොතෙත් කෙස් ඇතිවනු හැක්කහුද? වහන්ස, මෙය නොවන්නකි. වහන්ස, මට එතරම් බොහෝ දූ පුතුන්ගෙන් මුණුපුරු මිණිබිරියන්ගෙන් කම් නැ''

''විශාඛාවෙනි, යම් කෙනෙකුන් හට, ප්‍රිය වස්තු සියයක් වේ නම් ඔවුනට සියෙක් දුක් වේ. යම් කෙනෙකුන් හට ප්‍රිය වස්තු අසූවෙක් වේ නම් ඔවුනට අසූවෙක් දුක් වේ. යම් කෙනෙකුන් හට.... හැත්තෑවෙක් දුක් වේ...... හැටක් දුක් වේ.....



**යම් කෙනෙකුන් හට ප්‍රිය වස්තු එකක් වේ නම්, ඔවුනට දුක් එකකි. යම් කෙනෙකුන් හට ප්‍රිය වස්තුවක් නැත්නම්, ඔවුනට දුකක් නැත.** ඔහු ශෝක නැත්තෝ රාගාදී රජස් නැත්තෝ උපායාස නැත්තෝ යැයි කියමි''.... යි උන්වහන්සේ දේශනා කළා.

යම් කෙනෙකුට කොච්චර ධනය තිබුණත් එයින් තම ප්‍රයෝජනය සඳහා ගත හැකි වන්නේ පෙර කරපු කුසල අකුසල විපාක අනුව තමන්ට ගන්න පුළුවන් ප්‍රමාණය විතරයි. ඉතා ධනවත් සිටුවරයකු වූ රජගහ නුවර විසූ මච්ඡරිය කෝසිය සිටුතුමා නිවුඩු හාලේ බතුත්, කාඩි හොදිත් ආහාරයට ගත් බව හා මසුරුකම අධික තවත් සිටුවරයෙක් සුරා පානයට කැමැත්තක් ඇති වී ඒකටම ඇබ්බැහි වෙලා දන් පින් නොකළ බවත්, ඒ සඳහා වියදම් නොකළ බවත් ධර්ම කතාවල සඳහන් වෙනවා. වර්තමානයෙත් ඉතා ධනවත්, ව්‍යාපාර, ඉඩකඩම් හිමි, මිල මුදල් ඇති සමහර පුද්ගලයන්ට තමා ප්‍රිය මනාප ආහාරපාන ගැනීමට නොහැකිවන කර්ම රෝග, විවිධ ආසාත්මිකතා, දියවැඩියාව, කොලෙස්ටරෝල් ආදිය හේතුවෙන් වත්කම් තිබුණත් භුක්ති විඳින්න නොහැකි වෙලා තියෙනවා. ඒ වගේම ඉතාම ධනවත් පුද්ගලයෙක් වුනත් ප්‍රණීත ප්‍රිය මනාප ආහාරවලින් කෑම මේසය පුරවා තබන්න පුළුවන්, නමුත් ආමාශයේ ඉඩ තියෙන ප්‍රමාණයට පමණයි ඒවා පරිභෝග කරන්න පුළුවන් වෙන්නේ. තමා කැමති හැඩ ඇති, වර්ණ ඇති, සුවඳ ඇති ඇඳුම් ආයිත්තම්වලින් අල්මාරිය පුරවා තබන්න පුළුවන්. නමුත් එක් වරකට අඳින්න පුළුවන් එක ඇඳුම් කට්ටලයක් පමණයි. නුවරඑළියේ එක් නිවසකුත්, මාතර තව නිවසකුත් එංගලන්තය, ඕස්ට්‍රේලියාව වැනි විදේශ රටක තවත් සුඛෝපභෝගී නිවාසත් තිබුණට එක් මොහොතක් ගතකරන්න පුළුවන් වෙන්නේ එක් නිවසක පමණයි. ලෙඩක් දුකක් හැදුනම කොච්චර දක්ෂ වෛද්‍යවරු හමුවෙලා ප්‍රතිකාර ගැනීමේ හැකියාව තිබුණත් කර්මානුරූපව යොමුවන්නේ එක් වෛද්‍යවරයකු වෙතටයි. සමහරවිට ලබාගත් ප්‍රතිකාර අසාර්ථක වුණාම, ''අපරාදෙ, මට මුලින්ම අහවල් වෛද්‍යවරයා වෙත යන්නයි තිබුණෙ....'' කියලත් කියනවා. අපරාදෙ වෙන්නෙ පෙර පරාද කර්මයක විපාක වශයෙන්. කර්මානුරූපව යොමු වෙනවයි කිව්වෙ ඒ නිසයි.

අපේ ජීවිත පවත්වාගෙන යන්න අත්‍යවශ්‍ය වෙන ආහාරපාන, ඉඳුම් හිටුම්, ඇඳුම් පැළඳුම්, බෙහෙත් ඖෂධ සඳහා ''මේ ප්‍රමාණය මට ඇති...'' කියල තමා ජීවත්වන සමාජ මට්ටම වත්කමට ගැලපෙන ප්‍රමාණයට සීමාකර ගැනීම පිළිබඳ අවබෝධය නොමැතිකම නිසාත්, ලෝකය පිළිබඳ අසීමිත තණ්හාව නිසාත්, ජාති ධර්මයන්ට උරුම ගිනි ගැන නොදන්නා නිසාත් ලෝක සත්ත්වයා මේ ජාති ධර්ම රැස් කිරීමටම ඇලෙනවා, බැඳෙනවා. පහන් දැල්ල දැවෙන ☞

ගින්නක් ඇති හේතු-ඵලයක් බව නොදන්නා පළගැටියා එහි බැඳී විනාස වෙනවා වගෙයි, මේ ජාති ධර්ම කියන්නේ හේතු-ඵල රටාවක් බව නොදන්නා පුද්ගලයා එහි බැඳී අනන්ත අප්‍රමාණ දුකට පත්වෙනවා. ජෝගුවකට පුරවන්න පුළුවන් ප්‍රමාණය ඉක්මවා තවත් පුරවන්න බෑ. තව පුරවන්න උත්සාහ කළොත්, වැඩි ප්‍රමාණය ඉතිරිලා ඉවතට ගලා යනවා. ඒ වගේ **අනන්ත අප්‍රමාණ දුක් විඳගෙන ධනය ඉපයුවත් තමාට උරුම ප්‍රමාණයට වැඩි කොටස විවිධාකාර පෙර සබඳතා ඇති අන්‍ය වූ දූ-දරු දෙමාපිය ආදීන්ටත්, රෝගාබාධ නඩුහබ වියවුල් ආදී නොයෙක් කාරණා උදෙසාත් වැය කිරීමෙන් හෝ සොර සතුරු උපද්‍රව, ස්වභාවික ආපදා ආදියෙන් හෝ අහිමි වෙලා යනවා.**

අපි බඩගිනි දැනුනම ආහාර ගන්නවා. බඩගිනියි කියල දැනුම් දෙන්නේ මනසයි. මනසේ විධානයට ආහාර ගත්තම ඒ ආහාර යන්නේ කොතැනකටද? මනසින්ම සකස් කරගත් ආමාශය කියන උපකරණය තුලටයි.

මේ ආමාශය කියන්නේ සීමා සහිත අවකාශයක් තියෙන මල්ලක්. හිතේ තියෙන තරම් ආහාර ඒකට පුරවන්න බෑ. ආහාරය රසවත් නම් ප්‍රියමනාප නම් තව කෑමට හිතේ කැමැත්ත තියෙනවා. ඒ වුනාට ආමාශයේ ඉඩ නෑ. ''දැන් ඇති, බඩ පිරුනා..'' කියන්නේ මානසික අවශ්‍යතාවය පිරිල නෙවෙයි, ආමාශයට දැන් ඇති නිසයි, ඊට වැඩිය දාන්න බැරි නිසයි. හිතට ඇති වෙන්න අපට කවදාවත් ආහාර ගන්න පුළුවන් කමක් නෑ. කොච්චර රසට, ගුණට, සුවඳට කැමති ප්‍රිය මනාප හැටියට තිබුණත් හිත අසන්තෘප්තයි. හිත පිරිල නෑ. ධර්මය අනුව අපි දන්නවා මනස අනන්තයට විහිදුවන්න, පතුරවන්න පුළුවන් කියල. ආර්ය මෛත්‍රී භාවනාව කරන කොට අපි ඒ මෙත් සිත දස දහසක් සක්වලට, අනන්ත සක්වලට විහිදුවනවා. මනසේ විධානයන් අනන්තයට විහිදුවන්න පුළුවන් නම් ආහාරවලට තියෙන අපේ කැමැත්තත් අනන්තයි කියල දැන් වැටහෙනවා. (චිත්ත, මනස, හිත ආදී විවිධ නම්වලින් හඳුන්වන්නේ සිතේම විවිධ මට්ටම්වල කෙලෙස් ඇති විට භාවිතා කරන නම් හෙයින් ඒවා ගැටළු කර නොගෙන අදහස වටහා ගන්න උත්සාහ කරන්න) කවදාවත් හිත පුරවන්න බෑ. පිරෙන්නෙ නෑ. අපි මුළු ජීවිත කාලය පුරාම, අනන්ත සසර පුරාම මනසේ විධානයට අවනත වෙවී බඩ පුරවන්න වෙහෙසුනා. පතුල සිදුරු වෙච්ච භාජනයකට වතුර පුරවනව වගේ, ගන්න ගන්න ආහාර මළ බවට පත් වෙවී පිටවෙනවා. නැවත නැවත පුරවනවා. කවදාවත් පිරෙන්නෙ නෑ. මේ ආමාශය දිරල බිඳිල ගිය දාට (මරණය) තවත් අලුත් මල්ලක්, ආමාශයක් හදා ගන්නවා. මොකද පුරවන බලාපොරොත්තු අත හැරියෙ නැති නිසා.

මේ වගේ මන වඩන රූප, මන වඩන ශබ්ද, මන වඩන සුවඳ, මන වඩන රස, මන වඩන පහස ඇසුරු කරමින් ආස්වාද විඳීමේ බලාපොරොත්තුව, ඒ ඒ බලාපොරොත්තු පිළිබඳ හිත හිතා ඉඳීමේ බලාපොරොත්තුව කියන මේවාත් කවදාවත් පිරෙන්නෙ නෑ. මේ බලාපොරොත්තු අත්හරින තාක් ඇස, කන, නාසය, දිව, කය, මන කියන මේ උපකරණ නිපදවීමත් මනස පූර්වාංගමව නොකඩවාම සිදු කරනවා. ''මන වඩන'' කියන එකේ අදහසත් හොඳින් තේරුම් ගන්න ඕන. සුචරිත, දුෂ්චරිත දෙකටම මනස ක්‍රියා කරනවා. දුෂ්චරිත කරන්නත් මනස වැඩෙනවා. ඒ නිසා සසර ගමන සැප දුක් විපාක ලබනවා.

අනන්තයට විහිදුවන්න හැකි මනසේ මේ විධානයන්ට නොනැමී බුද්ධියෙන් දෙන අවවාදයට නැමී සිටීම පුහුණු කරන්න, අපි ආහාර ගන්නකොට ප්‍රත්‍යවේක්ෂ කරන්න අවශ්‍යයි. මේ ආහාර ප්‍රත්‍යවේක්ෂා කිරීම බුද්ධ අවවාදයක් නිසා බුද්ධි ගෝචර අවවාදයක්. ''නේව දවාය, න මදාය, න මණ්ඩනාය, න විභූසනාය...'' ආදී වශයෙන් ඒ ඒ ප්‍රයෝජනය සිහිකර ප්‍රත්‍යවේක්ෂා කර පරිභෝග කළ යුතුයි. එනම් මේ ආහාරය ක්‍රීඩා කෙලි සෙල්ලම් ජව පිණිස නොවේ, මද (කාමාස්වාදය) පිණිස නොවේ. කාය අලංකාර, කාය සැරසිලි පිණිස නොවේ, විවිධ හැඩයන්ට පත්කර ගන්න නොවේ. (ආර්ය මාර්ගය පූර්ණ කරගැනීම පිණිස) මේ කය පවත්වාගෙන යාම පිණිසත්, ආහාර නොගැනීමෙන් ඇතිවන ක්ලාන්ත කැරකිලි වේදනා දුරු කරගැනීම සඳහාත්, පහසු විහරණය සඳහාත්, පමණ දැන (අසීමිතව බඩ පුරවා ගැනීමට නොවේ.) පරිභෝග කරමි...'' යි දැනගෙන සිහි ඇතිව පරිභෝග කළ යුතුයි. මේ විධානයට මනස හුරු කරන කොට පවතින කය පවත්වාගෙන යාම පිණිස මිසක් යලි කයක් ගොඩ නැගීමට හේතු නෑ. රස පිණිස නොවේ නම්, මතු රස විඳින්න දිවක් අවශ්‍ය නෑ. ක්‍රීඩා පිණිස නොවේ නම්, මතු කයක් ගොඩනගන බලාපොරොත්තුවක් නැත්නම් සසර ගමන අවසන් වෙනවා. එහෙම නම් ප්‍රත්‍යවේක්ෂා කර ආහාර ගැනීම නිවන් දකින මගක් වෙනවා.

අපි මේක දැනගත්ත පමණින්ම ක්‍රියාවට නැංවීම පහසු නෑ. ඉතා වෙහෙස මහන්සි වෙලා උපයාගත් ධනය වැයකර, කාලය හා ශ්‍රමය වැයකර බොහෝ දෙනෙක් සමගියෙන් එක් රැස් වෙලා නිදි වරාගෙන සකස්කර, සිල්වතුන් උදෙසා ගෞරවයෙන් පිරිනමන රසවත් ප්‍රණීත දානය, ඒ පින්වතුන් කෙරෙහිත් දයානුකම්පාවෙන් ඔවුන්ට මහත් වූ කුසලයක් වන පරිදි, පෝය දින පුරාම මනා සිහි නුවණින් ප්‍රත්‍යවේක්ෂාව නොකැඩෙන පරිදි පරිභෝග කරන්න සිල්වතුන් උත්සාහ කරනවනම් ඉතා වැදගත්. එසේ කරන්න වීර්ය කළ යුතුයි. අනන්ත සසර පුරාවටම නොකළ දෙයක් කරන්න මනස හුරු කර ගැනීම දුෂ්කර වුණත් එහි ඇති ගුණාත්මක අගයන් වගේම නිවන් දකින මගක් ද වන නිසා එය පුහුනු කිරීමට උත්සාහ ගැනීම ඉතා වැදගත්.

අපි මුලින් දැනගත්තා ජෝගුවකට පුරවන්න පුළුවන් ප්‍රමාණය ඉක්මවා පුරවන්න ගියොත් වැඩි ප්‍රමාණය ඉතිරී පිටාර යන බව. ඒ වගේම වැඩිපුර උපයන ධනය තම ප්‍රයෝජනය සඳහා නැතුව කර්මානුරූපව මුණගැසී ඇති දූ දරු, දෙමාපිය, ඥාති, හිත මිතුරු ආදීන්ටත්, නඩු හබ, රෝග පීඩා, ස්වභාවික විපත් ආදී කුමන කරුණකට හෝ වැයවන බවත් දැන ගන්න. ඒ ඒ පුද්ගල සැප සම්පත් විඳින්න පුළුවන් වෙන්නේ පෙර කරපු කුසල අකුසල විපාක අනුව හිමි ප්‍රමාණයට සහ ප්‍රයෝග සම්පත්තියේ ප්‍රමාණයටයි. ඒ නිසා නුවණ මෙහෙයවා කටයුතු කළොත්, වැඩිපුර උපයන ධනයෙන් වැහි වතුර වැව් බැඳ රැස්කර ක්‍රමානුකූලව බෙදාහැරීමෙන් බොහෝ ප්‍රයෝජන ලබනවා වගේ බොහෝ ප්‍රයෝජන ලබන්න පුළුවන්. බුද්ධ දේශනාව අනුව උපයන ධනයත් ක්‍රමානුකූලව බෙදා වියදම් කිරීමෙන් යහපත උදාවෙනවා.

අග්‍ර කොටස ශ්‍රමණ බ්‍රාහ්මණාදීන්ට දන්පැන් පිළිගැන්වීම, විහාර ආරාම චෛත්‍ය සකස් කිරීම ආදී කටයුතුවලට යෙදවීම අති උතුම්. ලෝක ආරම්භයෙන් පසු කාමභෝගී වූ පිරිස විසින් පොදු දේපල පුද්ගලික කර ගැනීම නිසා, එසේ නොවී සුචරිතව ධ්‍යානලාභීව හිටපු පිරිසට සිදු කරන ලද අසාධාරණයට වන්දි ගෙවීම පිණිසත්, නිර්වාන අවබෝධයට උපනිශ්‍රයන් ලැබීම පිණිසත් එබඳු පරිත්‍යාග පින් දහම් කළ යුතු බව දැනගෙන, පිළිගෙන ඥාන සම්ප්‍රයුක්තව ගෞරව පූර්වකව ඒ කටයුතු කිරීමෙන් යහපත උදා කරගන්න පුළුවන්. දෙවන කොටස දෙමාපිය ඥාති හිතමිත්‍රාදීන්ටත් දුගී මගී යාචකාදීන්ටත් සංග්‍රහ පිණිස, උපකාර පිණිස යෙදවීමත් එසේම යහපත උදාකරගන්න හේතු වෙනවා. **අප අවට සැරිසරන කුඹීන් කෘමි සතුන් ක්ෂුද්‍ර ජීවීන් මෙන්ම පියවි ඇසට නොපෙනෙන නමුත් අප අවට සැරිසරන විවිධාකාර අමනුෂ්‍යයන් අතරේත්, අනන්ත සසර ගමනේදී අපට මවු නොවූ, පියා නොවූ, සහෝදර ඥාති හිත මිත්‍රාදීන් නොවූ කිසිදු සත්වයෙක් නොමැති තරම්** අපේ සසර ගමන අති දීර්ඝ වූවක් බව බුදුපියාණන් වහන්සේ දේශනා කරල තියෙන නිසා, බුද්ධ දේශනාව අනුව ගෞරවයෙන් විශ්වාස කරල, ඒ සියළු ☞

සත්ත්වයින්ටත් පින් පෙත් දී දානමාන ආදියෙන් යුතුකම් ඉටු කිරීම වැදගත්.

අපි ඇසුරු කරන හැම දෙනාම ධර්මය ගුරුකර, ධර්මය ගරු කර කටයුතු කරන්නන් නෙවෙයි. අධර්මය ගුරුකර, අධර්මය ගරු කර කටයුතු කළ පිරිස පහත් මනෝ භාවයට පැමිණි නිසා අද පහත් ජීවීන් බවට පත් වෙලා ඉන්නවා. නමුත් පූර්වයේ අපි ඔවුන් ඇසුරු කරපු අත්බැව්වලදී අපට ඔවුන් උදව් උපකාර කළාම '' ජීවිතේ ගියත් මේ උපකාරය අමතක කරන්නෙ නෑ... මම ඔයාට පණ වුනත් දෙන්නම්...'' ආදී වශයෙන් පොරොන්දු දීලත් ඇති. එවැනි වචන පාවිච්චි කරන වෙලාවට නම්, ඒව පොරොන්දු බැඳීම් කියල නිකමටවත් හිතෙන්නෙ නෑ. නමුත් එබඳු පොරොන්දු සසරේ කවදා හෝ දිනක ඉටුකරන්න ධර්මතාවය විසින් අවස්ථා ළඟා කර දීම සිද්ධ වෙනවා. එතකොට පොරොන්දුව මතක නෑ. මෙබඳු පොරොන්දුවක් පිළිබඳ ධර්ම කථාවක් තමයි මේ.

එක් හිඟන මනුස්සයෙක් තමා එදින හිඟමන් නොලැබුන නිසා, තව හිඟන්නෙක්ගෙන් ණයට හාල් හුණ්ඩුවක් ඉල්ල ගත්තා. පොලී සමග පසුව දෙන පොරොන්දුව ඉෂ්ට කරන්න පෙර හාල් ලබාගත් හිඟන්නා මිය ගියා. බොහෙ කලකට පස්සෙ මේ හිඟන මිත්‍රයන් දෙන්නා, මිනිසත්ව ඉපදිලා බුදු සසුනෙ පැවිදි වෙලා, අරිහත්වය පිණිස කමටහන් වැඩුවා. මෙහෙම කමටහන් වඩන කොට දෙන්නටම හාල් කඳු දෙකක් මැවිල පේන්න පටන් ගත්තා. දූන් එතැනින් එහාට කමටහන් වැඩෙන්නෙ නෑ. දෙන්නාම බුදුපියාණන් වහන්සේ වෙත ඇවිත්, හාල් කන්ද මැවුනට පස්සෙ කමටහන නොවැඩෙන බව පවසා සිටියා. මේ දෙන්නාගේ පෙර අත්බැව් හා හාල් පොරොන්දුව බුදු ඇසින් දැකපු බුදුපියාණන් වහන්සේ, තමාගේ හාල් කන්ද අනෙක් භික්ෂුවට පවරන්න කියල එක් භික්ෂුවකට පැවසුවා. එසේ කිරීමෙන් ප්‍රශ්නය විසඳුන බව පැරණි බණ කතාවක සඳහන් වෙනවා.

කෘමි නාශක යොදල වඳ කරන්න, විනාශ කරන්න අද අපි කටයුතු කරන කුඹීන්, කැරපොත්තන් වගේ කෘමි සතුන් අතරේ මේ ආකාරයේ පොරොන්දු ඉටු කළ යුතු පිරිසත් ඉන්න පුළුවන්. මේ බව තේරුම් අරගෙන පළමු කොටම ඒ සතුන්ටත් ජීවත් වීමේ අයිතිය ඇති බව පිළිගෙන ''මේ සත්තු වඳ කරන්න ඕන...'' කියන ද්වේශ සහගත සිතිවිල්ලෙන් ඉවත් වෙලා අභය දානය කළ යුතුයි. අපි උපයන ධනයෙන් දුගී මගී යාචකාදීන්ට දෙන කොටසට මේ කරුණත් අදාළ කරගත යුතුයි. ඇසට පෙනෙන දුගියා වගේම දුගී බවේ පතුලටම ගිලුනු, කිසිදා කුස පුරා අහරක් නොලබන, බියෙන් තැති ගැනීමෙන් මුළු ජීවිත කාලයම ගත කරන මේ සත්වයින් දෙස අපේ දයානුකම්පාව යොමු විය යුතුයි. කෘමි සතුන් විනාශ කිරීමේ, වඳ කිරීමේ මානසික ද්වේශ සහගත බලාපොරොත්තුව හේතුවෙන් අපිව විනාශ කරන වඳ කරන විවිධාකාර රෝග, දුර්භික්‍ෂ, ස්වභාවික විපත් විපාක විදිහට අපි කරා එනවා. මීට අවුරුදු පනහකට පමණ පෙර ගොවි බිම්වල කුරුල්ලන් හා කෘමි සතුන්ට කුඩා ලියැද්දක් වෙන්කරල තිබුණා. ඒ කාලෙ කෘමිනාශක භාවිතා කළේ නෑ. සතුන්ට වෙන් කරපු කොටසේ ඒ සතුන් ජීවත් වුනා. කර්ම





විපාක හැටියට උන් කුරුල්ලන්ට ගොදුරු වුනා. කුඹුරු සකස් කරන කොට ස්වභාවික පොහොර කලවම්කරල වී ඉස්සා. ගොයම් පැල ලොකු වෙනකොට ඒ පෝර වන ද්‍රව්‍ය ක්‍රමයෙන් දිරාපත් වෙලා පොහොර වුනා. කෘත්‍රිම පොහොර භාවිතා කළේ නෑ. ළමයින්ට විනෝද වෙන්න කුඩු කරල සත්තු හැදුවෙ නෑ. හුණු ගාපු මුට්ටියක සිදුරක් හදල බිත්තියේ එල්ලනවා. කුරුල්ලො නිදහසේ ඇවිත් බිත්තර දානවා. පැටවුනුත් හැදෙනවා.

**එකිනෙකාට මවු නොවූ, පියා නොවූ, සහෝදර සහෝදරියන් නොවූ කෙනෙක් සසර සත්ත්වයන් අතර නැති බවත්, පුංචි පුංචි අමනාපකම් ලොකු කරගෙන බේදවෙන්නෙ, රිදවන්නෙ මෙබඳු සසරක මවු වෙලා, පියා වෙලා, සහෝදර සහෝදරියන් වෙලා විවිධාකාර අන්‍යොන්‍ය උදව් උපකාර ලබාගත් අය සමග නේද කියලත් කල්පනාවට ගැනීම සමගියට** උපකාර වෙනවා.

එක් කොටසක් රැකියාවේ හෝ ව්‍යාපාරයේ දියුණුවට යෙදවිය යුතුයි. මේක කාටත් මනාව වැටහෙන කරුණක් නිසා විස්තර කිරීම අවශ්‍ය නෑ. තව කොටසක් අනාගත ආපදාවකදී ප්‍රයෝජනය සඳහා නිදන් කළ යුතුයි කියල සඳහන් වෙනවා. අද මේ නිදන් කිරීම සඳහා බැංකුවක් වගේ මූල්‍ය ආයතනයක මුදල් තැන්පත් කළ යුතුයි කියන එකයි අහන්න ලැබෙන්නේ. බැංකුව හෝ වෙනත් මූල්‍ය ආයතනයක් කියන්නෙත් ජාති ධර්මයක්මයි. එහි මුදල් තැන්පත් කිරීම, රැකියාවේ හෝ ව්‍යාපාරයේ අභිවෘද්ධිය පිණිස යොදවන කොටසටයි අයිති වෙන්නේ. තැන්පතු භාරගන්නා ආයතනය අපට පොලී වශයෙන් මුදලක් ගෙවා, ඒ තැන්පතු මත විවිධාකාර ණය ලබා දීමෙන් ආදායමක්, පොලියක් උපයා ගන්නවා. ජාති ධර්මයන්ට උරුම ගිනි ඒ මූල්‍ය ආයතනවලටත් උරුමයි. ඒ නිසා එබඳු තැනක මුදල් තැන්පත් කිරීම බුදු දහමේ එන නිදන් කිරීම නෙවෙයි.

නිදානයක් නම් ඒක කවදාවත් කිසිවෙකුටත් පැහැර ගත නොහැකි විය යුතුයි. ගින්නෙන්, ජලයෙන් ස්වභාවික ආපදාවලින් විනාශ නොවිය යුතුයි. නිදානය උරුම තැනැත්තාටම හිමිවන්නක් විය යුතුයි. කිසිදා කිසිවෙකුට පැහැරගන්න බැරි ස්වභාවික ආපදාවලින් විනාස නොවන, උරුම තැනැත්තාටම ලැබෙන හතර මහා නිදානයක් බෞද්ධයාට තියෙනවා. පියා අනුව ජීවත්වෙන පුතාට පිය උරුමය ලැබෙනවා වගේ, බෞද්ධ ප්‍රතිපදාව අනුව ජීවත්වෙන බොදුනුවන්ට බුදු පිය උරුමය ලැබෙනවා. ''යථා ලද්ද සම්පත්තියෝ...'' යනුවෙන් පෙන්වා තියෙන සෝවාන් ඵල සම්පත්තිය, සකෘදාගාමි ඵල සම්පත්තිය, අනාගාමි ඵල සම්පත්තිය හා අරහත් ඵල සම්පත්තිය තමයි ඒ පරමාර්ථ වූ සතර මහා නිදානය. ලෝකෝත්තර වූ මේ කාරණය අද වෙනකොට ප්‍රසිද්ධව නැතත් එය විශේෂ බව නිශ්චය කරන්න පුළුවන්.

ඒ වගේම ලෞකික වූ හතර මහා නිදානයකුත් තියෙනවා. එනම් සතර දෙසින් පැමිණෙන ශ්‍රමණ, බ්‍රාහ්මණ, දුගී, මගී, යාචක ආදීන්ට දන් දීමෙන්, විවිධ ක්‍රමවලින් චිත්ත ප්‍රසාදයෙන් කරන පින් දහම් නිසා සතර දිසාවෙන් මුදල්, භවභෝග සම්පත් ආදිය ලැබෙන්න හේතු වෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී )
කඩවත

# නිවැරැදි පුණ්‍යානුමෝදනාවක් සඳහා දැනගත යුතු කාරණා...

යාළුවෙක් ඇවිත් ඔහු ළඟ ඇති යම්කිසි අපහසුතාවයක් පවසා, අනේ මට පොඩි උදව්වක් කරන්න පුළුවන්ද, හදිස්සියකට රුපියල් දහදාහක් ගන්න පුළුවන්ද කියල ඉල්ලනවා. දැන් මේ ඇවිත් ඉන්නෙ හොඳම යාළුවෙක්. ඔහු ළඟ තිබුණ වෙලාවේ තමන්ටත් උදව් කරල තියෙනවා. බැහැ කියන්න විදියක් කොහොමටවත් නෑ. දැන් මොකද කරන්නේ? දුවල යනවා බැංකුවට, ගිණුම පරීක්ෂා කරනවා. රුපියල් දහදාහක් තියා රුපියලක්වත් බැංකුවේ නෑ. දැන් කොහොමද යාළුවට උදව් කරන්නේ? මේ එක පැත්තක්. අනෙක් පැත්ත තමයි බැංකුවට ගියා, ඕන තරම් සල්ලි තියෙනවා, ගත්ත රුපියල් දහදාහක් කෙලින්ම යාළුවට දුන්නා, දෙන්නම සතුටුයි. සරල උපමාවක් පෙන්නුවේ කෙනෙකුට යමක් දෙන්න නම් දෙන අය ළඟත් තියෙන්න ඕන කියන කාරණාව පෙන්වන්න.

ඉතින් මේ මනුස්සයෝ ගනුදෙනු කරන ලෝකය ගැනයි එහෙම කිව්වේ. ඒවගේම දිව්‍යසක් නැති පින්වතුන්ට, පරලොව කියල නොපෙනන ලෝකයක් (මේ ගැන වටිනා ලිපි පෙළක් ''අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...'' කියන මාතෘකාව යටතේ මෙම සඟරාවේ කොටස් වශයෙන් පළ වෙනවා) තියෙනවා. එතන මේ ලෝකෙට වඩා මෙලොව ජීවත් වෙන ඥාති මිත්‍රාදීන්ගෙන් උදව් උපකාර බලාපොරොත්තු වෙන අය වැඩියි. ඉන් බොහොමයක් මෙලොව සිටින අයගෙ ඥාති මිත්‍රාදීන්. ඒ වගේම මෙලොව සිටින කොට තම පිරිසට බොහෝ උදව් උපකාර කරපු, කන්න බොන්න දුන්න අය. මොකක් හරි සසරෙ වුන අතපසු වීමකින් තවත් කෙනෙකුගෙන් උදව් උපකාර ගන්න තත්වයට පත්වෙලා. කලින් කිව්ව වගේ කෙනෙකුට දෙන්න නම් දෙන අය ළඟ තියෙන්න ඕන. හොඳයි, ඒත් දෙන්නෙ මොනවද?

මළ ගිය කෙනෙකුට සල්ලි දීල හරි යන්නෙ නෑ. ඒ අයට ගැලපෙන දෙයක් දෙන්න ඕන. මොනවද ඒ අයට ගැලපෙන්නේ? සමහර විට ප්‍රශ්නයක් එනවා. මේ ඉන්න ලෝකයේ වගේ, ආ මෙන්න කියල කෑම ටිකක් හෝ අවශ්‍ය දෙයක් දෙන්න බෑ. එහෙම දෙන්න නම් ඒ ගැළපෙන දේ, දෙන අය විසින් රැස් කර ගන්න ඕන. නිතර අහන්න ලැබෙන දෙයක් තමයි ඒ අයට පින් දෙමු කියන කතාව. කලින් කිව්ව වගේ පින් දෙන්න නම් දෙන අය ළඟ තියෙන්න ඕන. නැති දෙයක් කොහොමද දෙන්නේ? ඒක හරියට මේ



වගේ දෙයක්. කෙනෙකුට එන්න කියල, ''අයියෝ මම හිතුවා බැංකුවේ සල්ලි ඇති කියල බලද්දි නෑ නේ! දැන් මොකද කරන්නේ!''මෙහෙම කියනවා වගේ දෙයක්. එතකොට ඒ පුද්ගලයාට මොනව හිතෙයිද? අනේ මේකා වගේ කාලකණ්ණියෙක්! මම මේකට කොච්චර උදව් කළාද? නෑ කියල දැන ගෙනත් බොරුවට එන්න කියල රවට්ටල යැව්වා. මෙහෙම කියල දුක් වෙලා හෝ සාප කරල යන්න පුළුවන්.

කෙනෙක් මෙහෙම අහන්න පුළුවන්. ''ඔබ කොහොමද කියන්නෙ පින්ම දෙන්න ඕන කියල, ඔප්පු කරන්න පුළුවන්ද?'' අද කාලෙ ඕන තරම් ඔය ජාතියේ ප්‍රශ්න අහනවා. නොපෙනෙන දෙයක් ගැන හෝ ඒක ලැබෙන ක්‍රමයක් ගැන සැකයක් බොහෝ විට එන්න පුළුවන්. තමන් තුලින්ම යම් කිසි ශක්තියක් (දිවැස්) ලබාගෙන බලන තුරු විශ්වාසයෙන් තමයි පිලිගන්න වෙන්නෙ. කාවද ඉතින් විශ්වාස කරන්නේ? අද කාලෙ බොහෝ විට පොතපතින් පාඩම් කරගත් දේ මිසක් අවබෝධයෙන් බණ කියන දේශකවරුන් අඩුයි. කවුරු නැතත් මුලින්ම බෞද්ධයෙකුට විශ්වාසය ඇති කෙනෙක් ඉන්නවා. ඒ තමයි තිලෝගුරු සම්මා සම්බුදු පියාණන් වහන්සේ. උන්වහන්සේ දෙයක් කිව්ව නම් සියල්ල ඒ ආකාරයෙන්ම දැකල තමයි කියන්නේ. ඒකෙ කිසිම සැකයක් නෑ. ඒ කියපු දේශනා තියෙන ප්‍රධාන මූලාශ්‍රයක් තමයි ත්‍රිපිටක පොත් වහන්සේලා. ඒ ඇසුරෙන් ගත්ත උදාහරණයකින් අපට මේ ගැන දැන ගන්න පුළුවන්. ධර්ම රත්නය සන්දිට්ඨික නිසා ඒ අනුසාරයෙන් උදාහරණ උපමා පෙන්වා ධර්ම දේශනා කරන කොට මනාව වැටහෙනවා.

''ඒ ප්‍රේත ලෝකයේ ගොවිතැන් කරන්න, කඩයක් දමා ගෙන ජීවත් වෙන්න, රස්සාවක් කරන්න, ගනු දෙනු කරන්න ක්‍රමයක් නෑ. සල්ලි හුවමාරු කරන්න ක්‍රමයකුත් නෑ. ඔහොම මැරිල ගිහින් ඔතන ඉන්න අයට තියෙන එකම පිහිට තමයි, තමන්ගේ නෑ හිත මිතුරන් දානමාන දීල ඒ මගින් ඒ අය රැස් කරගත්ත පිනක් පත්තිදාන වශයෙන් දෙන එක.'' (ඛුද්දක නිකාය - ඛුද්දකපාඨපාළි - තිරෝකුඩ්ඩ සූත්‍රය - 15 පිටුව)

එතකොට ඉහත බුද්ධ දේශනාවෙන් පැහැදිලි වෙනවා, පින් දෙන්න ඕන කියන කාරණය. මීට කලින් සඟරාවේ (16 වෙනි කලාපයේ) පිනක් කියන්නෙ මොකක්ද කියල පැහැදිලි කරල තියෙනවා. එනම් පින් දෙන්න ඕන කියල පැහැදිලියි. ඊළඟට පින් රැස් කර ගන්නෙ කොහොමද?

මේ පින් රැස් කරන ක්‍රම තුනක් තියෙනවා. එකක් දන් දීලා පින් රැස් කරන එක. දෙවෙනි එක සිල් රැකලා පින් රැස් කරන එක. තුන්වෙනි එක භාවනා කරලා පින් රැස් කරන එක. මේ තුනම හෝ එක එක හෝ කිරීමෙන් පින් රැස් වෙනවා. (අංගුත්තර නිකාය 5 - දාන වර්ගය - පුඤ්ඤකිරියාවත්ථු සූත්‍රය - 159 පිටුව)

එහෙනම් පින් රැස් කරන ක්‍රමය පැහැදිලියි. ඉතින් ඕව කරල පින් රැස්වෙන ක්‍රමය මොකක්ද, ඒකෙන් යමෙකුට පිනක් එන්නෙ කොහොමද කියන ප්‍රශ්නය ඊළඟට එන්න පුළුවන්. මේ පිළිබඳව වටහා ගන්න දානය ගැන විග්‍රහ කර ගත යුතුයි. දන් දෙන ක්‍රම 13 ක් බුදුරජාණන් වහන්සේ පැහැදිලි කරල තියෙනවා. ඒ නිසා කෙනෙකුට එදිනෙදා ජීවිතයේ පහසුවෙන්ම කර ගන්න පුළුවන් දෙයක් තමයි සතුන්ට කෑම ටිකක් දෙන එක. ඒක තමයි මූලිකම මට්ටමෙ ක්‍රමය.

ආනන්ද මේ තිරිසන් සතුන්ට දෙන දෙයින් අනුහස් සියයක් බලාපොරොත්තු විය යුතුයි (මජ්ඣිම නිකාය 3 - <u>දක්ඛිණ විභංග සූත්‍රය</u> - 525 පිටුව)

ඒ කියන්නේ සතෙකුට යම් දෙයක් දුන්නොත්, උගේ බඩගින්න නිව්වොත්, කෙනෙකුට ඒ වගේ සිය ගුණයක් ලැබෙනවා කියන එකයි. ඉතින් මේ කිසි දෙයක් නොදන්න, තමන් කරගත්ත දේ නිසා තිරිසන් අපාගත වෙලා දුක් විඳින සත්වයෙකුට යමෙක් එකක් දුන්නොත් ඔහුට සීයක් ලැබෙනවා. ඒ වගේම තවත් බුද්ධ දේශනාවක් තමයි, **තමන් කෑම කාල ඉවරවෙලා අත සෝදන ඉඳුල් වතුර ටික පවා, අනේ මේකත් යම් කිසි සතෙකුට ආහාරයක් වෙනව නම් එසේම වේවා, උන්ගෙ බඩගිනි නිවේවා කියල හිතල දැම්මොත් ඒකෙනුත් පිනක් ලැබෙනවා කියන කාරණය.** ඉතින් මනුස්සයෙකුට, සංඝයා වහන්සේලාට, වීතරාගී උතුමන්ට පැහැදිලා දෙන දන් ගැන කවර කතාද?

ඉතින් මේව කරල පින් රැස් වෙන්නෙ කොහොමද?

පුඤ්ඤ කිරිය කියන පාලි වචනයේ සරල තේරුම නම් යහපත් ක්‍රියාව කියන එකයි. කලින් සඳහන් කළ සියලු දාන ආදිය යහපත් ක්‍රියා හැටියට ගන්න පුළුවන්. එතකොට යහපත් ක්‍රියාවක් කළා. ඒකෙන් ඒ හොඳ වැඩ කළ අයගේ හිතට යම් කිසි දැනීමක් එනවා. ඒක සියුම් සතුටක්. ඒ සතුට කෙනෙකුට නරකක් කරල නෙවෙයි, හොඳක් කරල එන සතුටක්. ඒක සුවයි. පසුව හිතට බයක් දැනෙන සතුටක් නෙවෙයි. ඒ අය ළඟ කලින් නොතිබුන දෙයක් දැන් තියෙනවා. මේ තමයි දැනගන්න ක්‍රමය. ඒ පින කරපු අය ළඟට පිනක් (පිනා යෑමක්) ලං වුනා, රැස් වුනා. **මේ ලැබුන සතුට සැනසුම තව කෙනෙකුට දෙන්න පුළුවන් නම්, ඒකට කියනවා පින් දෙනවා කියල.** ඒක බුදු දහමේ සඳහන් වෙන්නෙ පත්තිදාන කියල. ඒ දීමෙන් ඔහුට අඩුවක් වෙනවද? නෑ, ඒ අය කරා අර සියුම් සතුට සුවය තවත් එනවා. එතකොට පින් දීමත් පිනක්.

එහෙම කියල බෑ, හරියට කියන්න පුළුවන්ද පින් දෙන්නෙ කොහොමද කියල? කෙනෙක් මෙහෙම ප්‍රශ්නයක් ඇහුවොත්? දැනටමත් මේ ටික කියවන කෙනෙකුට එහෙම හිතෙන්න පුළුවන්.

බුදුන්වහන්සේ දස පුණ්‍ය ක්‍රියාවන් ගැන (ඉහත විස්තර කළ දාන, සීල, භාවනාවලට තව හතක් එකතු වෙන්න ඕන) කළ විස්තරයක් පහත දැක්වෙනවා.

**දානං සීලං ච භාවනා**
**පත්ති පත්තානුමෝදනා**
**වෙයාාවච්චාපචායං ච**
**දේසනා සුති දිට්ඨිජු**

සරල සිංහල තේරුම නම්,

1.දාන ය 2.ශීල ය 3. භාවනා ය 4. පින්දීම ය 5. පින් අනුමෝදන් වීම ය 6. වතාවත් කිරීම ය 7. වැඩිහිටියන්ට සැලකීම ය 8. බණ දෙසීම ය 9. බණ ඇසීම ය 10. දෘෂ්ටිය සෘජු කිරීමය.

බුදුපියාණන් වහන්සේ යමක් ආවට ගියාට නිකන් දේශනා කරන්නෙ නෑ. ඒකෙ ක්‍රමයක්, අනු පිළිවෙලක් තියෙනවා. මෙයින් පළමු කාරණා තුන පැහැදිලියි. ඒ තමයි පින් රැස්කරන ක්‍රමය. ඊළඟ කාරණා දෙක වන පත්තිදාන, පත්තානුමෝදනාව පැහැදිලි කිරීම තමයි මේ ලිපියේ අරමුණ. එනම් රැස් කළ පින වෙන කෙනෙකුට දෙන ක්‍රමය. සරලව කියනව නම් පින්දීම සහ පින් අනුමෝදනාව.

පත්තිදාන කියන පාළි වචනය සරලව පින්දීම කියල පොදුවේ හඳුන්වනවා. නමුත් මේ වචනයේ මීට එහා ගිය ගැඹුරු තේරුමක් තියෙනවා. ඒක මුලින් විග්‍රහ කරගත යුතුයි. ඒක මෙහෙම කියන්න පුළුවන්. කෙනෙක් ප්‍රත්‍යය දෙනවා. මොනවද මේ ප්‍රත්‍ය කියන්නේ. සරල උපමාවක් අරගෙන බැලුවොත්, තමන් ළඟ පැළ කරන්න සුදුසු අඹ ඇටයක් තියෙනවා. ඉන් අඹ පැළයක් හදාගන්න ඕන නම් එයට අවශ්‍ය කරන, සම්පූර්ණ කළ යුතු එහෙම නැත්නම් අඹ ඇටයේ නැති, එය වැඩීමට සුදුසු දෙයක් බාහිරින් දෙන්න ඕන. එතකොට මෙතන පැහැදිලිව ජේන කොටස් දෙකක් තියෙනවා. අඹ පැළයක් ලබාගන්න ඕන නම්,

1. පැළ කරන්න අඹ ඇටයක් - අඹ ඇටය තුල පැළ වෙන්න අවශ්‍ය සියලු ජවය තියෙන්න ඕන.

2. පැළ වීමට අවශ්‍ය බාහිර පරිසරය - සුදුසු පසක්, හිරු එළිය ලැබෙන තැනක්, වෙලාවට ජලය සැපයීම වගේ දේවල්.

මේ කොටස් දෙකම අනිවාර්යයෙන් තියෙන්න ඕන. පරිසරය තිබිල අඹ ඇටය වැඩීමට අවශ්‍ය ජවය නැත්නම් ඒත් වැඩක් නෑ. සුදුසු පරිසරයක් නැත්තම් අඹ ඇටය පමණක් තිබිලත් මදි. එහෙම බැලුවම අඹ ඇටය පැල වෙන්න ඕන පරිසරය කියන බාහිරින් එහි වැඩීමට උදව් දෙන දේට තමයි ප්‍රත්‍ය කියල කියන්නේ. එතකොට ඒ තැනට ප්‍රත්‍ය දුන්නට මදි, අඹ ඇටය පැලවෙන්න ඕන ජවය තියෙන්නත් ඕන. ඒකට කියනව හේතු කියල. එතකොට පැහැදිලියි අවශ්‍ය ප්‍රතිඵලය ලබාගන්න නම් හේතු සහ ප්‍රත්‍ය කියන දෙකම තියෙන්න ඕන බව. අඹ ඇටයට තමන් තුලින් පැලවෙන්න ඕන ජවය (හේතු) කාටවත් දෙන්න බෑ. කෙනෙකුට පුළුවන් බාහිර පරිසරය එහෙම නැත්නම් ප්‍රත්‍ය සපයන්න. එහෙම ප්‍රත්‍ය දීල ඒක පැලවෙන්න හේතු නැත්නම් තව කෙනෙකුට කරන්න දෙයක් නෑ.

ඒ වගේම තමයි මේ පින් දීම හෙවත් පත්තිදාන කියන එක. කෙනෙකුට දෙන්න පුළුවන් ඒ ටික විතරයි. **පින් ගන්න එන ඥාතියා හෝ කවුරු හරි කෙනා තුල පින් ගන්න ක්‍රමයක් නැත්නම්, හේතු නැත්නම් තව කෙනෙකුට කරන්න දෙයක් නෑ.** ඒවගේම තව කෙනෙකුට මෙහෙම හිතෙන්නත් පුළුවන්. ''අපේ අම්ම අපිව හදන්න දහ දුක් වින්දා, අපිට කිසි අඩුපාඩුවක් කළේ නෑ. වෙලාවට කන්න බොන්න දුන්නා. ඒ පිනම ඇති ඇයට දිව්‍ය ලෝකෙ යන්න. ඔබ කොහොමද කියන්නෙ අපේ අම්ම පින් ගන්න බලාපොරොත්තුවෙන් දුක් විඳිනවයි කියල''. මෙහෙම අහන අවස්ථා ඕන තරම් තියෙනවා. ඇත්තටම දෙමව්පියන් දරුවන් වෙනුවෙන් කරන කියන දේ, කරන යුතුකම් පිනක් හැටියට ගැනෙනව නම් ඒ අය අර වගේ තැන්වල ඉන්න පුළුවන් ද? ඒක පිනක් වෙනවද? ඇත්තටම ඒක පිනක් හැටියට ගන්න බෑ. දේපල දුන්නෙ තමන්ගෙ දරුවන් නිසා මිසක් වෙන දරුවෙකුට නම් දෙයිද? දේපල බෙදන වෙලාවෙ අල්ලපු ගෙදර මනුස්සයගෙ දරුවෙක් ඇවිත් මටත් ඉඩම් කෑල්ලක් දෙන්න කියල ඉල්ලුවොත් දෙයිද? එහෙනම් තමන්ගෙ ළමයින්ට දෙන්නෙ ඇයි? ඒ තමන්ගෙ නිසා, මමත්වය නිසා, මගේ එකාට මේවා තියෙන්න ඕන, අනෙකාට නෙවෙයි කියන හැඟීම නිසා. මගේ පුතාට මම කන්න දෙන්නේ, උඹලට නෙවෙයි. මේ වගේ අදහසක් තමයි එතැන ක්‍රියාත්මක වෙන්නෙ.

ධර්මයේ සඳහන් වෙනවා (පේත වත්ථු, විමාන වත්ථු) මෙහෙම කතාවක්. තමන් තුලින්ම බුද්ධිමත්ව හිතුවොත් ඒක පිනක් නොවන හැටි තෝරගන්න පුළුවන්.

එක්තරා ප්‍රේතියක් සැරියුත් මහරහතන්වහන්සේ ඉදිරියේ පෙනී ඉඳල කියනවා, ස්වාමීනී දැනට අත්බැව් ගණනකට උඩදී මම ඔබ වහන්සේගේ මව, කරපු නරක වැඩ නිසා දැන් ප්‍රේතියක් වෙලා, මට පුණ්‍යානුමෝදනාවක් කරන්න කියල.

දැන් මේ කතාවේ වැදගත්ම ☞

සාක්ෂියක් තියෙනවා. ඇයි එහෙම කිව්වේ? අත්බැව් ගණනකට උඩදී සැරියුත් මහරහතන්වහන්සේගේ අම්මා. සැරියුත් මහරහතන්වහන්සේ කියන්නෙ එසේ මෙසේ කෙනෙක් නෙවෙයි. ගෞතම බුද්ධ ශාසනයේ අග්‍ර ශ්‍රාවක වෙන්න පෙරුම් පුරපු උතුමෙක්. පින් කඳක්. දැන් අර ප්‍රේතිය උන්වහන්සේගේ ඒ අත් බැවේ අම්මා. එතකොට කන්න බොන්න දුන්නෙ නැත්ද? කිරි පෙව්වෙ නැත්ද? බඩගින්නෙ අඬනකොට වඩා ගත්තෙ නැත්ද? ඒ යුතුකම් සේරම කරන්න ඇති. ඉතින් ඒවා පින් වුනානම්, ශ්‍රාවක පාරමිතාවක් පුරන උතුමෙකුට අර ජාතියේ උදව් උපකාර කළානම් ඒ අම්මා ප්‍රේතියක් වුනේ කොහොමද? ඒකෙන් තේරෙනවා ඒව පින් හැටියට ගන්න බෑ කියල. ඉතින් විශේෂයෙන් දැන ගන්න ඕන පින් කරන වැඩ පිළිවෙල මොකක්ද, ඒ ප්‍රත්‍ය හදාගන්න ක්‍රමය මොකක්ද කියල.

යමෙක් කොහොමද ප්‍රත්‍ය හදාගන්නේ?

කලින් සඳහන් කළා වගේ දාන, සීල, භාවනා තුළින් පින් කරන අය තුල ප්‍රත්‍ය හැදෙනවා. කරන යහපත් ක්‍රියාව අනුව, තමන් තුල ඇති සිතිවිලි අනුව ඒ අය තුල ගොඩ නැගෙන පුණ්‍ය ශක්තිය අඩු වැඩි වෙනවා, ප්‍රමාණය තීරණය වෙනවා. සිල්වත් කෙනෙකුට දුන්නම, දුස්සීල මනුස්සයෙකුට දුන්නට වඩා වැඩි පිනක් ලැබෙනවා. ඒ අනුව පින් ලැබීම, ගුණයෙන් ඉහලට යන්න යන්න වැඩි වෙනවා. දෙනවා කියන එකත් එක එක විදිහට වෙන්න පුළුවන්. කෑම බීම වෙන්න පුළුවන්, ඉන්න තැනක් වෙන්න පුළුවන්. අඩු තරමේ ඉඳගන්න පුටුවක් දුන්නා වෙන්න පුළුවන්. එහෙම නැත්නම් යහපත් වචනයක් වෙන්න පුළුවන්. මේ හැම ක්‍රමයක්ම සිතේ සතුටින්, එහෙම නැත්නම් පහන් සිතින් කරන වැඩ නිසා ඒ අය තුල ප්‍රත්‍ය ගොඩ නැගෙනවා. මේ සිතේ සතුටින් කරන වැඩ, කොටස් අටකට කඩල ධර්මයේ පෙන්වනවා.

දන් දෙන අවස්ථාවක් අරන් බැලුවොත්,

1. දානය කාටද දෙන්නේ, ඒ උතුමන්ගේ ගුණ දැකලා සතුටු සිතින් තමන්ට බලාපොරොත්තුවක් නැතුව දීම.

2. දානය කාටද දෙන්නේ, ඒ උතුමන්ගේ ගුණ දැකලා සතුටු සිතින් තමන්ට යම් කිසි බලාපොරොත්තුවක් ඇතිව දීම.

3. දානය කාටද දෙන්නේ, ඒ උතුමන්ගේ ගුණයක් දකින්නෙ නෑ. මේ අයට දුන්නම හොඳයි යන හැඟීමෙන් දෙනවා. ඒත් සතුටු සිතින් තමන්ට බලාපොරොත්තුවක් නැතුව දීම.

4. දානය කාටද දෙන්නේ, ඒ උතුමන්ගේ ගුණයක් දකින්නෙ නෑ. මේ අයට දුන්නම හොඳයි යන හැඟීමෙන් දෙනවා. ඒත් සතුටු සිතින් තමන්ට බලාපොරොත්තුවක් ඇතිව දීම.

5. දානය කාටද දෙන්නේ, ඒ උතුමන් ගේ ගුණ දැකලා මැදහත් හැඟීමකින් (මහා ලොකු පිනා යෑමක් නෑ, හිතේ තරහක් කිලුටකුත් නෑ) තමන්ට බලාපොරොත්තුවක් නැතුව දීම.

6. දානය කාටද දෙන්නේ, ඒ උතුමන්ගේ ගුණ දැකලා මැදහත් හැඟීමකින් (මහා ලොකු පිනා යෑමක් නෑ, හිතේ තරහක් කිලුටකුත් නෑ) තමන්ට යම් කිසි බලාපොරොත්තුවක් ඇතිව දීම.

7. දානය කාටද දෙන්නේ, ඒ උතුමන්ගේ ගුණයක් දකින්නෙ නෑ. මේ අයට දුන්නම හොඳයි යන හැඟීමෙන් දෙනවා. ඒත් මැදහත් හැඟීමකින් (මහා ලොකු පිනා යෑමක් නෑ, හිතේ තරහක් කිලුටකුත් නෑ) තමන්ට බලාපොරොත්තුවක් නැතුව දීම.

8. දානය කාටද දෙන්නේ, ඒ උතුමන්ගේ ගුණයක් දකින්නෙ නෑ. මේ



අයට දුන්නම හොඳයි යන හැඟීමෙන් දෙනවා. ඒත් මැදහත් හැඟීමකින් (මහා ලොකු පිනා යෑමක් නෑ, හිතේ තරහක් කිලුටකුත් නෑ) තමන්ට බලාපොරොත්තුවක් ඇතිව දීම.

මේ පෙන්නුවේ අභිධර්මය අනුව කුසල් සිත් 8 දානය මුල් කරගෙන සකස් වෙන ආකාරයයි.

මෙහි බලවත්ම ප්‍රත්‍ය ලැබෙන ක්‍රමය තමයි පළමුවෙන්ම තියෙන්නේ. ඒ උතුමන්ගේ ගුණය, ගුණය හැටියට දැකල, කාටද මම මේ දෙන්නේ, වීතරාගී වීතද්වේශී, වීතමෝහී උතුමන්ට නේද, ඒ සංඝ පරපුරට නේද කියල දැකල ඉතාමත් සතුටු සිතින් කරන යහපත් ක්‍රියාවක්. එයින් පුණ්‍ය ගංගා කුසල ගංගා ගලායන බව ධර්මයේ සඳහන් වෙනවා. ගඟක් නිකන් ගලන්නෙ නෑ. ඒකට මහ වැස්සක් අවශ්‍යයි. ඒ මට්ටමෙන් ප්‍රත්‍යයක් ලබා ගන්න නම්, ඒ මට්ටමෙන් තමන්ගේ හිත නැගෙන්න ඕන. මේ බුද්ධ දේශනාවෙනුත් ඒක පැහැදිලියි.

සැපයට ප්‍රත්‍ය (පරිසරය හදන) වෙන පුණ්‍ය ගංගා කුසල ගංගා හතරක් තියෙනවා. ඒ හතර නම් යම් කෙනෙක්, බුදුන්වහන්සේ මේ මේ හේතුවෙන් දෙවියන්ට මනුස්සයන්ට ශාස්තෘන් වහන්සේය, බුද්ධය, භගවත්ය... ආදී ගුණයන් දැක බුදුන්වහන්සේ කෙරෙහි නොසැලෙන ප්‍රසාදය ඇතිවීම, එසේම දහම් කෙරෙහි ගුණයන් දැක නොසැලෙන ප්‍රසාදය ඇතිවීම, එසේම සංඝයා කෙරෙහි ගුණය දැක නොසැලෙන ප්‍රසාදය ඇති වීම, එසේම ආර්යකාන්ත සීලයේ පිහිටීම යන හතරයි.

මේ හතර ආකාරයේ පුණ්‍ය ගංගාවෝ කුසල ගංගාවෝ මෙච්චරයි කියල කියන්න බෑ. ගණනක් කියන්නත් බෑ. ප්‍රමාණයක් පෙන්වන්නත් බෑ. අප්‍රමාණයි.

(සංයුක්ත නිකාය 5-2, අසංඛෙයිය සූත්‍රය - 233 පිටුව)

දැන් ප්‍රත්‍ය හදාගන්න හැටි එහෙම නැත්නම් පින් රැස්කරගන්න හැටි පැහැදිලියි. ඉතින් ඒ ලබාගත් ප්‍රත්‍ය දෙන්නෙ කොහොමද?

යම් කෙනෙක් ළඟ ඕන තරම් දේවල් තියෙනවා, දෙන්නෙ කොහොමද? සාමාන්‍යයෙන් ජීවත්වෙලා ඉන්න කෙනෙකුට නම්, ආ මෙන්න කියල දෙන්න පුළුවන්. එහෙම නැත්නම්, ඒ අයගේ බැංකු ගිණුමට දාන්න පුළුවන්. නමුත් මිය පරලොව ගිය අයට පින් දෙන්නෙ කොහොමද? මේකට බුද්ධ දේශනාවක්ම අරන් බැලිය යුතුයි.

නෑයන් අතරෙන් යම් කෙනෙක් ඔවුන්ට අනුකම්පා කරන්නාහු වෙත්ද, ඔහු තුමූ "මේ පින පරලොව ගිය අප නෑයන්ට වේවා, ඒ නෑයෝ සුවපත් වෙත්වා"යි කියා, ඔවුන් අවුත් සිටි කල්හි ඒ නෑයන් උදෙසා පවිත්‍ර වූ ප්‍රණීත වූ කැප වූ ආහාර පාන දන් දෙත්. ඒ ඥාති ප්‍රේතයෝ ද ඒ දන් දෙන තැනට නොයෙක් දිශා භාගයෙන් අවුත් එක් රැස් වූවාහු, තමන් උදෙසා බොහෝ ආහාරපාන දෙනු ලබන කල්හි සකසා පින් අනුමෝදන් කෙරෙත් (හෙවත් එය අනුව සතුටු වෙත්) (ඛුද්දක නිකාය - ඛුද්දකපාඨපාළි - තිරෝකුඩ්ඩ සූත්‍රය - 15 පිටුව)

දැන් පැහැදිලියි පින් දෙන්න මහ ලොකු වැඩක් කරන්න නෑ කියල. මේ පින මේ මේ අයට ලැබේවා, ඒ අය සුඛිත මුදිත වෙත්වා කියල ප්‍රාර්ථනා කරන්න විතරයි තියෙන්නේ. තම තමන්ගේ මට්ටම අනුව ඒක කරගන්න පුළුවන්. යමෙක් ප්‍රත්‍ය දෙන හැටි දැන් වැටහෙනවා. එතනින් එහාට පත්තිදාන වැඩ කොටස ඉවරයි. ඒ අයට හේතු තියෙනව නම්, ඒ පින අනුමෝදන් වෙන්න සුදුසු මානසිකත්වයක ඉන්නව නම් ඒක ඒ අයට ලැබෙයි.

එතකොට අනුමෝදන් ☞

වෙනව කියන්නේ, සුදුසු මානසිකත්වයක් කියන්නෙ මොකක්ද?

ඉහත බුද්ධ දේශනාවට අනුව සකසා පින් අනුමෝදන් කෙරෙත්, (හෙවත් එය අනුව සතුටු වෙත්) අනුමෝදන් වෙනව කියන්නෙ ඒ අය සතුටු වෙනව කියන එකයි. කෙනෙක් කරන දේකට සතුටු වෙන්න නම් යමෙක් ඒ දේ අනුමත කරන්න ඕන. එහෙම නැත්නම් ඒ ජාතියේ සතුටු වෙන්න පුළුවන් වැඩ මීට කලින් කරල තියෙන්න ඕන.

උදාහරණයක් අරගෙන බැලුවොත්, යමෙකුට පුරුද්දක් තියෙනවා බස් එකේ යන විටකදී බුදු පිළිමයක් හෝ පන්සලක් ළඟින් යන කොට අසුනෙන් නැගිටල ගෞරව කරන්න. ඉතින් ඒක ඒ අයගෙ හොඳ පුරුද්දක්, එහෙම නැත්නම් යහපත් ක්‍රියාවක්. එසේම යම් කෙනෙක් හිටගෙන යනවා, කුඩා ළමයෙක් අසුනේ ඉඳගෙන ඉන්නවා. අර ළමයා බුදු පිළිමයක් දැක්ක ගමන් නැගිටල සාදු කියල වඳිනවා. දැන් ඒ ළමයා දැක්කම ඒ දැකපු අයගෙ හිතේ සතුටක් ඇතිවෙනවා. ඒ ළමයා කරපු යහපත් ක්‍රියාව දැකල ඒ අනුව සතුටු වෙනවා. කෙනෙකුට මෙහෙම සතුටු වෙන්න පුළුවන්කම ලැබෙන්නෙ ඇයි? ඒ යහපත් ක්‍රියාව ඒ අයත් අනුමත කරපු නිසා, ඒකට තිබිච්ච පුරුද්ද නිසා. ඒ අය සතුටු වෙන ජාතියේ වැඩක් ඒ ළමයත් කරපු නිසා.

යමෙකුගේ මිය ගිය ඥාතීනුත් ඔය වගේ තමන් ජීවත් වෙලා ඉන්න කාලෙ කරපු කියපු දේවල්, ඒ අය සතුටු වෙච්ච දේවල් තියෙනවා. ඒවා කළාමයි ඒ අය සතුටු වෙන්නේ. ඒ අනුව එක එක්කෙනා සතුටු වෙන ක්‍රමය වෙනස්. හිඟන්නෙකුට කන්න ටිකක් දීලා කෙනෙක් සතුටු වෙන්න පුළුවන්. ඒ කෙනාම මුලාවට පත්වෙලා ඉන්න පුළුවන්, ඔය පන්සලේ හාමුදුරුවන්ට ඕන තරම් ලැබෙනවා, ඒ අයට මොකටද දෙන්නෙ කියල. දැන් යමෙක් ඒ ඥාතියා වෙනුවෙන් සංඝයාට දන් දීලා පුණ්‍යානුමෝදනාවක් කළොත් මොකද වෙන්නෙ? ඔහු සතුටු වෙයිද? ඔහුගේ මානසිකත්වය ඒකට සතුටු වෙන්න පුළුවන් තැනකද තියෙන්නෙ? ඒ ගැනත් හිතන්න ඕන. ඒ මිය ගිය කෙනා සතුටු කරන්න නම්, මෙලොව ඉන්න පිරිස හිඟන්නෙකුට දන් දීලා පුණ්‍යානුමෝදනාවක් කරන්න වෙනවා. ඉතින් එහෙම සතුටු වුනා කියල ඔහුට පින් ලැබෙන්නේ කොහොමද?

උදාහරණයක් අරගෙන බැලුවොත්, යමෙක් සාංඝික දානයක් පිළියෙල කරනවා. සංඝයා වහන්සේලාගේ ගුණ දැකල ඒ අනුව සතුටු සිතින් දානය පිළියෙල කරනවා. උන්වහන්සේලා වඩම්මනවා, දානය වළඳනවා. මේ සියල්ල වැටෙන්නෙ මෙන්න මේ කොටසට.

**දානය කාටද දෙන්නෙ, ඒ උතුමන්ගේ ගුණ දැකලා සතුටු සිතින් තමන්ට බලාපොරොත්තුවක් නැතුව දීම.**

මේක මහ බලවත් පිනක්. අවසාන ප්‍රතිඵලය තමයි ඒ යහපත් ක්‍රියාව ගැන සිතින් සතුටු වීම. ඒ අනුව ඒ අයට පිනක් නැගිල තියෙනවා. දැන් අර ඥාතියාටත් හේතු තියෙනව නම්, ඔහුත් ජීවත් වෙලා ඉන්න කාලෙ දන් දුන් කෙනෙක් නම්, නමුත් යම් සසර දෝෂයක් නිසා අතපාන්න වෙන තැනක ඉන්න වෙලා තියෙනව නම්, දැන් අර කාරණය දැක්ක ගමන් මොකක් වෙයිද? අර තරම් බලවත් නැති වුනත්, සිත සතුටින් පිනා යනවා. පිනා ගිහින් මේ කාරණා අටෙන් එකක් සම්පූර්ණ වෙනවා. (මහා කුසල් සිත් 8 හැදෙන ක්‍රමය මුලදී පෙන්වා දුන්නා.)

තමන් දුන්නෙ නැතත් අවසාන ප්‍රතිඵලය වන පිනක් ලැබීමට නම් සිත පිනා යා යුතුයි. ඉහත ක්‍රමයන්ගෙන් එකකට ඒ ඥාතියා පිනා යනවා. ඔහු කරාත් පින එනවා. ඔන්න ඔය ක්‍රමයට තමයි අනුමෝදනාවෙන් පින් ලැබෙන්නේ. **කෙනෙක් අමුතුවෙන් පිනක් නොකළත්, කරන්න හැකියාවක් නැතත්, තව කෙනෙක් කළාම ඒ අනුව සතුටු වෙලා ඒ අයටත් සමහර විට කළ කෙනාටත් වඩා පිනක් රැස් කරගන්න පුළුවන්.** මේ ලෝවැඩ සඟරාවෙන් උපුටා ගන්නා ලද ඉහත කාරණය ගැන ලියැවුන කවියක්.

**දන් දෙන සඳෙහි දෙව්රම් වෙහෙර මුනිඳු ට**
**පින් අනුමෝදන්ව මිනිසෙක් එතැන සි ට**
**පින් ලැබ ගතිය වැඩි කරමින් එ සිටු හ ට**
**ඉන් දුන නුදුන කිම අනුමෝදනාව ට**

මේ කවියෙන් එන වැදගත් කාරණයක් තියෙනවා. ඒ කියන්නෙ **පිනක් අනුමෝදන් වෙන්න, කෙනෙක් මිය පරලොව යන්නම ඕන නෑ.** ධර්මයේ සඳහන් වුන සිද්ධියක් තමයි මේ කවියට නගල තියෙන්නේ. දෙව්රම් වෙහෙර බුදුන්වහන්සේට පූජා කරපු වෙලාවේ, අනේපිඬු සිටුතුමාට ඒ හා සමාන රිදී විමානයක් දෙව්ලොව මැවුනා. නමුත් එතන සතපහක්වත් වියදම් නොකළ දුප්පත් මනුස්සයෙක් ඒ අනුව සතුටු වුනා. නිකන් නෙවෙයි ගුණයක් දැක්කා. අනේ කොච්චර හොඳ වැඩක් ද, ශාසනයේ ගුණ දැක්කා... ආදියෙන් සිත පිනා ගිහින් සාදුකාර දුන්නා. ඉතින් ඒක කොච්චර බලවත්ද කියනව නම් ඔහුට මැවුනේ රත්තරන් විමානයක්. අනුමෝදනාව ඒ තරම්ම බලවත්. අනේ මට කරගන්න විදිහක් නෑ, මට මුදල් නෑ කියල තැවි තැවී ඉන්න දෙයක් නෑ. පිනක් කරන කෙනෙක් ළඟ ඉඳන් අනේ කොච්චර හොඳ වැඩක්ද කියල අවංකව හිතුවත් ඇති. (හැබැයි අර ක්‍රම 8 අනුව තමයි පින සිද්ධ වෙන්නේ)

කෙනෙක් තනියම පුණ්‍යානුමෝදනාව කරන්න දන්නෙ නැත්නම්, ඒ ගැන දන්න ස්වාමීන්වහන්සේ නමක් හෝ ගිහි පින්වතෙක් ලවා තමන් කළ පින කියල අනුමෝදනාව කරන්න පුළුවන්. තමන්ගේ නම, ඒ කරපු පින, ඉන්න තැන, ඥාතියාගේ නම... ආදිය විස්තර දුන්නම ඒ උතුමන් විසින් ඒ අනුමෝදනාව තමන් වෙනුවෙන් කරනවා. ඒ අයට තියෙන්නෙ සතුටින් සාදුකාර දීම විතරයි. එයින් ඒක අනුමත කළා වෙනවා.

''අනේ මම පින් කළා තමයි, මට ඔය නම් කියව ගන්න නම් ඕන නෑ, මම කරපු පින මම දන්නවා.'' සමහරෙක් මෙහෙමත් හිතනවා. මේක ලොකු දෘෂ්ටියක්. නොදැන අනෙක් අයට කරන අසාධාරණයක්. ඊට හේතුව තමයි ඒ පින අනුමෝදන් වෙන්න බලාපොරොත්තුවෙන් අපේ මළගිය ඥාති මිත්‍රාදීන් ඒ තැනට එන්න පුළුවන් නමුත් එහෙම අනුමෝදනාවක් නොකළොත් ඒ අය හිස් අතින් ආපහු හැරිල යන්නෙ නිකන් නෙවෙයි. අපි ඔහුට ජීවත් වෙලා ඉන්න කාලෙ එච්චර කළා, ඔහුට පුළුවන් වෙලාවෙ අපිට දෙයක් කරල දෙන්නෙ නැනෙ කියල සාප කරන්න පුළුවන්. ඊනිසා කෙනෙකුට ඒක කරගන්න බැරිනම් හොඳම ක්‍රමය තමයි ඒ ගැන දන්න උතුමන් ලවා කරගැනීම.

තනියම කරගන්න පුළුවන් ක්‍රමයක් තියෙනවද?

ඔව්, එහෙම ක්‍රමයක් තියෙනවා. කෙනෙක් මුලින් දැනුවත් වෙන්න ඕන මොකක්ද පින කියන්නෙ, ඒක කරගන්නෙ කොහොමද, රැස් කර දෙන ක්‍රමය මොකක්ද කියල. පින් දෙනකොට සියලු දෙනාම මතක් කිරීම වැදගත්. කෙනෙක් කුඩා කල අත පය හොලව ගන්න බැරිව කෑ ගහල අඬනකොට වඩාගත්ත දෙමව්පියෝ, අනේ අඬන්න එපා බබෝ කියල හුරතල් කරපු නෑදෑ හිතවතුන්, පාසැලේ උගන්වපු ගුරුවරුන්, තමන්ට වචනයෙන් හරි උදව් කරපු යාළුවන්, තමන් රැකියා කරන ස්ථානයේ පාලකයන්, රැකියාවේ තමන්ගේ සගයන්, කන බත් ටික ළඟට එනකල් ඒ හාල් ටික, පොල් ටික, එළවලු ටික වගා කරපු අය. ඒ අයට වගා කරන්න වැව් අමුණු බැඳලා ඒ පහසුකම් සලසපු අය, තමන් විවාහක නම් තමන්ගේ ළඟම ඉන්න බිරිඳ/සැමියා, දරුවන්. මේ ලෝකයට යහපතක් කරල සුගතියේ, දේව අත්බැව්වල ඉන්න සියලුම දෙවිදේවතාවුන් වහන්සේලා, මෙතෙක් තමන් සසරේ ආ ගමනේ උදව් උපකාර කරපු අය, තමන්ගෙන් අවැඩක් අසාධාරණයක් වුන අය.... මේ ආදී සියලුම දෙනා එකතු කරගන්න ඕන. එතකොට තමයි කෙනෙක් අතින් නියම පින් දීමක් සම්පූර්ණ වෙන්නේ.

එහෙම පුණ්‍යානුමෝදනාවක් ගැන අදහසක් දෙන්න පුළුවන්ද?

පුළුවන්. කලාතුරකින් අහන්න ලැබෙන ධර්මානුකූලව කරන පුණ්‍යානුමෝදනාවක් පහත දැක්වෙනවා. මේක තමන් තුලින්ම කරගන්න පුළුවන්.

මේ කරගත්තා වූ අනන්ත පුණ්‍ය වාසනා කුසල වාසනා නිසා තම පවුල්වල ජීවත් වන්නා වූ සෑම සියලු දෙනාටම මාරක බාධක අපල උපද්‍රව දුරුවී සැනසිල්ල ශාන්තිය උදා වෙත්වා.

ඒවාගේම කළ ගුණ සැලකීම් වශයෙන් තමන්ව මෙලොවට බිහි කළා වූ දෙමව්පියන් ඇතුලුව ඇති දැඩි කළා වූ යම් තාක් අය ඇත්ද... ඒවාගේම දැනීම් ඉගෙනීම් කියා දුන්නා වූ ගුරු දෙගුරුන් ඇතුලු යම් තාක් අය ඇත්ද... ඒවාගේම රැකී රක්ෂා සපයා දුන්නා වූද නොයෙක් ආකාරයෙන් උදව් උපකාර කළා වූ යම් ස්වාමි පක්ෂයක් ඇතුලුව ඒ ආකාරයෙන් තමන්ට උදව් උපකාර දෙන සෑම සියලු දෙනාම ඇතුලුව.. අපට යහපත් ආශිර්වාදයක් කරන්නා වූ යම් තාක් ඉෂ්ඨ දේවතාවන් ඇතුලු යහපත් පිරිස් ඇත්ද.. ඒ සියලු දෙනාටමත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයන් විහිදී පැතිරී පිහිටා සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා.

ඒවාගේම යම් ආකාරයකින් අප ඇසුරු කරන්නා වූ ගේ දොර, දේපල, ඉඩ කඩම් ආදියක් ඇත්ද.. යාන වාහන, වතු පිටි, මං මාවත්, ලිං තොටු, ගහ කොළ, රැකි රක්ෂා ව්‍යාපාර කරන ස්ථානයන් ආදියක් ඇත්ද.. මේ ආදී සෑම සියලු තැන්හි වවා හදා සකස්කර දීමට කටයුතු කර දුන්නා වූ යම් තාක් පිරිස් ඇත්ද ඒවා ආරක්ෂා කරන්නා වූ දෙව් දේවතා කොට්ඨාස ඇත්ද.. මේ සෑම සියලු දෙනාත් සිහි කරමින් දිව්‍ය බ්‍රහ්ම ආදී පටන් දයාවෙන් කරුණාවෙන් යුක්තව මේ පින් බලාපොරොත්තු වෙන යම් තාක් අය වෙත්ද ඒ සෑම සියලු දෙනාම සිහි කරමින් අද අප උදා කරගත්තා වූ සියලු පුණ්‍ය කුසල ආශිර්වාදයෝ ඒ සියලු ලෝකයාටද ගලා යාවා... විහිදේවා... පැතිරේවා... පිහිටාවා... සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා... මෙලොව ජීවත්වන්නා වූ සැමට යහපත අභිවෘද්ධිය උදා වෙත්වා... මියගිය සියල්ලන්ටම දුගතියක් නොවෙත්වා... සුගතියක් අභිවෘද්ධියක්ම ලැබෙත්වා... උතුම් වූ නිවන් සාක්ශාත් කර ගැනීමටත් එතෙක් සියලු අභිවෘද්ධිය උදා වෙන්නටත් ඒ සැමටම හේතු වාසනා වෙත්වා. සාදු! සාදු! සාදු!

ඒවාගේම අනන්ත සංසාරයේ මියගිය සතර වරිගයේ ඥාතීන් මෙන්ම අපට උදව්වක් උපකාරයක් ආශිර්වාදයක් මේ මොහොත දක්වා කළ සියල්ලන්ටම කෘතෝපකාර සලකන ගුණයෙන් මේ අප්‍රමාණ පුණ්‍ය කුසල ආශිර්වාදයෝ ගලා යාවා... විහිදේවා... පැතිරේවා... පිහිටාවා...

ඒ සියල්ලෝම කෙබඳු උපතක කෙබඳු භවයක කෙබඳු තැනක සිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයෝ මහා පුණ්‍ය ගංගා කුසල ගංගා ගලන්නා සේ විහිදේවා... පැතිරේවා... පිහිටාවා... සසර වසනා තාක් කල් නිවන් දක්නා ජාති දක්වා මොහොත දක්වා කිසි කලෙකත් දුගතියක් නොවෙත්වා.. සුගතියක් වෙත්වා.. පිරිහීමක් නොවෙත්වා.. උතුම් වූ නිවන් සාක්ශාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් එතෙක් සියලු අභිවෘද්ධිය උදාකර ගැනීමටත් ඒ සැමටම හේතු වාසනා වෙත්වා. සාදු! සාදු! සාදු!

අනන්ත සංසාරයේ අපගෙන් අවැඩක් අසාධාරණයක් වරදක් ප්‍රමාද දෝෂයක් යමෙකුට සිද්ධ වී නම් ඒවාට ගෝචර වූ ලෝක සත්වයෝ කෙබඳු උපතක කෙබඳු භවයක කෙබඳු තැනක සිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාද ඒ සියල්ලන්ටම විහිදී පැතිරී පිහිටා සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා.. කිසි කෙනෙකුටත් දුගතියක් නොවෙත්වා... සුගතියක් අභිවෘද්ධියක්ම වෙත්වා.. උතුම් වූ නිවන් සාක්ෂාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාදයෝ හේතු වාසනා වෙත්වා. සාදු! සාදු! සාදු!

ඒවාගේම අනන්ත සංසාරයේ පටන් මේ දක්වා අපගෙන් අවැඩක් අසාධාරණයක් වරදක් ප්‍රමාද දෝෂයක් සිද්ධ වූ සියල්ලන්ටම වන්දි ගෙවා නිදහස් වීම හේතුකොට ගෙන, මේ දක්වා අප වෙත තිබූ පාප අන්ධකාරයන් දෝෂ අන්ධකාරයන් මේ මොහොතේ සමනය වෙලා.. මෙතැන් පටන් නිවන් දක්නා ජාති දක්වා මොහොත දක්වා මාරකයක් බාධකයක් අපලයක් උපද්‍රවයක් දුකක් කරදරයක් දෝෂ අන්ධකාරයක් අහලකට ළං නොවෙත්වා... සසර කරන ලද පුණ්‍ය කුසල ආශිර්වාදයන් ඇදී එත්වා... මේ පුණ්‍ය කුසල ආශිර්වාදයෝ ක්‍රියාත්මක වෙත්වා. දුර්භික්ෂ භය, අමනුෂ්‍ය භය දුරු වෙලා අට අනූවක් රෝග නව අනූවක් ව්‍යාධි දෙසිය තුනක් අන්තරා දුරු වෙලා, ඇති බව, භව භෝග, සැපත, ණය නැති බව,වරදක් නැති බව කියන ගුණයන්ද ආයුෂ, වර්ණ, සැප, බල , පටිභාන ඥානය කියන කාරණාද පූර්ණ භාවයට පත් වේවා!

අප විසින් යහපතක් ශාන්තියක් අභිවෘද්ධියක් උදා කරගත්තා සේම දිව්‍ය බ්‍රහ්ම, මනුෂ්‍ය අමනුෂ්‍ය සතර වරිගයේ ඥාති මිත්‍රාදී කොට්ඨාශ මෙන්ම අනන්ත ලෝකවාසී සියලු සත්වයන්ටත් මේ යහපත් ශාන්තිය උදා වෙත්වා! සාදු! සාදු! සාදු!

මේ දාන මාන පූජා සත්කාර සඳහා යම් කෙනෙක් අත හිත දෙන ලද්දේ ද ඒ සඳහා සුළු අත් උදව්වක් දෙන ලද්දේද.. ඒවාගේම යම් මිල මුදලකින් හෝ වේවා තමන්ගේ ශ්‍රම කඳුලකින් හෝ වේවා ආධාරයක් උපකාරයක් කරන ලද්දේද... බඩු බාහිරාදියකින් උදව්වක් උපකාරයක් කරන ලද්දේද... වචනයකින් හෝ වේවා යම් ප්‍රශංසාවක් කරන ලද්දේද... චිත්ත ප්‍රබෝධයක් පහල කරන ලද්දේද... අංශු මාත්‍රයකින් හෝ විරුද්ධතාවක් නොදක්වා මේ සත් කටයුතු කිරීමට ඉඩ ප්‍රස්ථාව දෙන ලද්දේද... දිව්‍ය බ්‍රහ්ම තැන් පටන් කවුරුන් හෝ වේවා ආශිර්වාදයක් කරන ලද්දේද... ඒ ආදී සියල්ලෝම මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයන් ලබන්න හේතු වාසනාවන්තයෝ වෙත්වා...!

ඒ සෑම සියල්ලෝම කෙබඳු තැනක හිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයෝ මහා පුණ්‍ය ගංගා කුසල ගංගා ගලන්නා සේ විහිදේවා... පැතිරේවා... පිහිටාවා... සසර වසනා තාක් කල් නිවන් දක්නා ජාති දක්වා මොහොත දක්වා කිසි කලෙකත් දුගතියක් නොවෙත්වා... සුගතියක්ම වෙත්වා... පිරිහීමක් නොවෙත්වා... උතුම් වූ නිවන් සාක්ෂාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් එතෙක් සියලු අභිවෘද්ධිය උදාකර ගැනීමටත් ඒ සැමටම හේතු වාසනා වෙත්වා...! සාදු! සාදු! සාදු!

අතීතයේ පටන් මේ දක්වා මෙම ස්ථානයන්ට අයිතිවාසිකම් කී අය මෙන්ම මෙම ස්ථානයන් ගොඩ නැගූ පිරිස් වේද... මේවා ගොඩ නැගීමේදී තමන්ගේ ශ්‍රම කඳුලකින් හෝ වේවා වැලි කැටයකින් හෝ වේවා අත් උදවු මාත්‍රයකින් හෝ උදව්වක් උපකාරයක් කළ කෙනෙක් වේද යම් චිත්ත ප්‍රසාදයෙන් යුක්තව ප්‍රසංසාවක් කළ කෙනෙක් වේද, අංශු මාත්‍රයකින් හෝ විරුද්ධතාවයක් පල නොකළ කෙනෙක් වේද... යහපත් අයුරින් කටයුතු කරගැනීමට මග පාදා දෙන ලද දිව්‍ය බ්‍රහ්ම තැන් පටන් කවුරුන් හෝ වේවා ආශිර්වාදයක් කරන ලද්දේද... ඒ ආදී සියල්ලෝම මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයන් ලබන්නට හේතු වාසනාවන්තයෝ වෙත්වා...!

ඒ සෑම සියල්ලෝම කෙබඳු උපතක කෙබඳු භවයක කෙබඳු තැනක සිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාද සියල්ලන්ටම විහිදී පැතිරී පිහිටා සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා... කිසි කෙනෙකුටත් දුගතියක් නොවෙත්වා, සුගතියක් අභිවෘද්ධියක්ම වෙත්වා...!

උතුම් වූ නිවන් සාක්ශාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් හේතු වාසනා වෙත්වා...! සාදු! සාදු! සාදු!

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**

# පටිභාන කවිත්වයෙන් මතු වූ මහා ධර්මස්කන්ධයෙන් බිඳක්

*(පසුගිය කලාපයෙන් - ලොව අති දුර්ලභ වූ පටිභාන කවීත්වය නැවතත්...)*



ශාසන මාර්ගයේදී එන පටිභාන කවිවල වුණත් කර්ණ රසායනය (කනට මිහිරි යම් දෙයක්) හා ශෘංගාර රසය (කාමය මුල්කරගත්) කියන ඒවා නැත්තෙ නෑ. නමුත් ඒක ශාසන මාර්ගයේදී උපක්‍රමයක් විදියටයි භාවිතා වෙන්නේ. ඒ උපක්‍රමය නම් ශ්‍රාවකයා දහම් මගට මූලිකවම අවතීර්ණ කරවීමයි. මොකද නිකන් ශබ්ද රටාවක් නැගෙන්නෙ නැතිව කියන කොටත් බොහෝ දෙනෙක් ඒක මූලික අවස්ථාවේදී ගන්න කැමති නෑ. මේ නිසා යම් කිසි රසවත්භාවයක් ඒකට එකතු කරන්න වෙනවා. හැබැයි යමක් කමක් තේරුම් ගත්තු කෙනාට නම් ශෘංගාර රසයක් අවශ්‍ය නෑ. හරියට බෙහෙතේ ප්‍රත්‍ය බව, වටිනාකම දැනගත් කෙනාට ඒකට පැණි රස දවටල බෙහෙත් දෙන්න අවශ්‍ය නැතුවා වගෙයි. බෙහෙතේ ප්‍රත්‍ය බව, වටිනාකම දැක්ක නම් ඒක කොච්චර තිත්ත වුණත් ඒ පුද්ගලයා ඒක පාවිච්චි කරනවා. නමුත් පුංචි ළමයා ඒක දන්නෙ නැති නිසා බෙහෙත් ටික දෙන්න අර වගේ උපක්‍රමයක් යොදන්න වෙනවා. නමුත් හොඳට මෝරපු කෙනාට බෙහෙත් පොවන්න ඒ මොකවත් ඕන නෑ.

මේ වගේ තමයි මුලින්ම ශාසන මගට ඇතුළුවන පිරිසටත් මේ ක්‍රමය හුඟක් වැදගත් වෙනවා. මේ නිසා පටිභාන කවිත්වය විශේෂයි. නිකන් අහනවාට වඩා කවියෙන් අහන්න කැමති පිරිස වැඩියි. බොහෝ දෙනෙකුගේ ප්‍රසාදය නැගෙන්නේ කාව්‍යමය රටාවට. කවීත්වය ගත්තමත් හතර පද ගැළපෙන විදියට යන ක්‍රමයට හුඟ දෙනෙක් කැමතියි. ඒ ක්‍රමයට අහගෙන ඉන්න ආසයි. වෙලාව යනවා දැනෙන්නෙත් නෑ. පුංචි ළමයිනුත් සවන් දීගෙන ඉන්නවා. නමුත් අර්ථය විතරක් දෙන්න ගියොත් පුංචි ළමයින්ට තේරෙන්නෙ නැති නිසා ඒ අය කෑ ගහනවා. මේ නිසා කවියෙන් කියන ක්‍රමය පුංචි ළමයින්ටත් ගෝචර වෙලා යහපතට හේතු වෙනවා. දැන් මේ තියෙන්නේ ඒ විදියට විවිධ අවස්ථාවල අවස්ථානුකූලව වහරක අභයරතනාලංකාර හිමියන්ගේ සමාධියට නැගුණු පටිභාන කවි කිහිපයක්. මේ වගේ සිය ගණනක් එක දේශනාවක දී නැගෙනවා.

**බුදු පිය රජ ගුණය අපමණ මතු වේවා**
**බුදු නැණ දම් දහර මුවගට ගෙන දේවා**
**බුදු මග යන සතට ලොව තතු වැටහේවා**
**බුදු පිළිසරණ ලැබ සත නිවනට ඒවා**

**සදහම් ගඟ ගලා මුනි සත් දහම දෙන**
**ලොව තතු පෙනේවා මරු වසඟයට යන**
**මරු පරදවන සදහම් ගඟ මුවග ගෙන**
**පතුරම් දම් කදේ අවසර සුවය ගෙන**

**අපමණ සියලු හැම සක්වලකම ඉන්නා**
**හැම ලෝ සතට නද පතුරම් මෙලෙසින්නා**
**මෙම නද අසා බුදු රැස් ගඟෙ නහමින්නා**
**සුගතිය නිවන ලබනුව සැම සතුටින්නා**

**මේ හැම දෙනගෙ නෑ හිතවත් සියලු දෙනා**
**මොන භවෙ සිටිනමුත් සිහිකර සිටිනු මැනා**
**ඒ සැම වෙතද හැම යහපත ලැබෙන මෙනා**
**මේ සෙත පතුරවමු මහ සෙත නැගෙනු දැනා**

ක්ෂණිකවම සමාධියට නැගුණු මේ කවි පද, ලෝ සත වෙත කෙරෙන යම් කිසි ප්‍රාර්ථනාවක් ද සමගින් ශ්‍රාවක පින්වතුන් කෙරෙහි ශ්‍රද්ධාවක්, භක්තියක් වගේම ධර්මයට කැමැත්තක් මතු කිරීමටත් ඉවහල් වෙනවා. ඒ වගේම අනන්ත අප්‍රමාණ වූ සක්වල ධාතුවල ඉන්නා අනන්තා පරිමාණ වූ දෙවියන්, බ්‍රහ්මයන්, අමනුෂ්‍යයන් ආදී සියලුම සත්වයන්ටම බුදුන් වහන්සේ වදාළ ශ්‍රී සද්ධර්මයේ හඬ පැතිරී, සුගතිය නිවන ලැබේවායි ආශිර්වාදයක් ද කෙරෙන මේ කවි පද වැල් මගින් ඒ සියලු සත්වයන්ටද, තම තමන්ගේ හේතු වාසනා පරිදි මහා උපනිශ්‍රයක් ලබන්න හේතු වෙනවා. විශේෂයෙන්ම ඒ පටිභාන ශක්තිය මතු කරන දේශකයන් වහන්සේගේ අධිෂ්ඨාන ශක්තියේ ප්‍රමාණයට අනුකූලව ඒ

ශක්තියේ බලවත් භාවයත් වැඩිවෙනවා.

**ලස්සන සුවඳ රස මුදු පහස ද කියන**
**රොන් පැණි ආදී රස මේ මල්වල තිබෙන**
**ලෝ සත වසඟ කරවන හැටි සිහි කරන**
**දහමක් දෙවම් ලොව තතු කොහොමද හැඳින**

**ලෝ සත හරි හැඩයි හරි සුවඳයි කියති**
**ඒවට ඇලී ඇලී ඒ පසු පස හඹති**
**මරුවගෙ මුළාවක් මේ ලෙස ලොව තිබෙති**
**ඒකට වසඟ වූ විට නිවනක් නොමැති**

**බලනෙමු දැන් මෙබඳු මලකින් කුම වන්නේ**
**මේ මල වසඟ කරවන හැටි පවසන්නේ**
**මඳ මඳ සුළඟෙ මේ මල් වැනි වැනී ඉන්නේ**
**සුවඳ ද මුසු සුළං රැලි හැම අත යන්නේ**

**බඹරුන් බිඟුන් එම සුවඳට මත්ව එති**
**මේ හැම මුදු පහස රොන් සුව සොයනු ඇති**
**මල්වල වස වසා ඒ රොන් සුනු අඳිති**
**මේකෙන් වන දෙයක් මේ ලොව තව නැගෙති**

දැන් මේ කවි පෙළ දිහා බැලුවම එකපාරටම යම්කිසි ශෘංගාර රසයක් තමයි නැගෙන්නේ. නමුත් ඒ ශෘංගාර රසය ඔස්සේ සමවතින් සිටින ශ්‍රාවක පින්වතුන් උපක්‍රමිකව යම්කිසි විදර්ශනා භාවනාවක් කරා යොමු කිරීමයි සිද්ධ කරන්නේ. එනම් ''ඒවං උප සංහරති'' කියන බුද්ධ දේශනාව අනුව මල් උයනක ඇති මල් උපමාව ලෙස අරගෙන මේ කයට උපමා කරල අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ත්‍රිලක්ෂණය මගින් ලෝකයේ ඇති තතු, ඇති හැටියෙන්ම පෙන්වා දීමකුයි කරන්නේ. ඒක ශ්‍රාවක පින්වතුන්ගේ ලෝකෝත්තර වූ සම්මා දිට්ඨියට පත් වීමේ ඊළඟ පියවර සඳහා බොහෝ වැදගත් වෙනවා. මේ විදියට මලක් උපමා කරගෙන මිනිසත් කයේ ස්වභාවය විස්තර කිරීමක් සිද්ධ වෙනවා. කාව්‍යමය දේශනාවේ තවත් ඉදිරියට යද්දී ඒක ක්‍රමානුකූලව ගැඹුරු දහමක් මතු කරන අවස්ථාවකට පැමිණෙනවා.

**ඇස කන නාස දිව කය මන කියන තැනා**
**මේ කය ඉඳුරනුත් සසරෙදි ලැබුව තැනා**
**හැම අත් බවෙහි ලබමින් මම කියපු දිනා**
**මතකයෙ නොමැති මුත් මේ හැම සිදුම වුනා**

**මේ එක කපක මුල සිට මේ වන තුරුම**
**සැරි සැරු අත් බවක ඉපදුන් ගෙන එදම**
**කොපමණ ගණන් කෙරුවත් වෙන්කර එහෙම**
**බැහැ නිම කරන්නට අත්බැව්වල තරම**

**මේ මහ පොළොවෙ පස් කඳ පැත්තක තබලා**
**භවයෙන් භවය එන ගමනෙහි ඇට දිරලා**
**ගිය ඒ සියලු ඇටකටු ගොඩ එක් කරලා**
**තබලා බැලුව නම් මොන ගොඩ වැඩි කියලා**

**ඇටකටු ගොඩ වැඩියි පස් නම් මඳම වෙති**
**මෙතරම් මැරි මැරී ඇටකටු දිරල ඇති**
**එනමුත් මම කියපු ඒ භව කොහොම වෙති**
**මම කිව් කෙනා කෝ දැන් ලොව දකිනු නැති**

අපි අනන්ත සංසාරයේ පටන් ආපු භව ගමනේ තරම දැනගන්න මේ කවි පදවැල් ටික හොඳටම ප්‍රමාණවත්. ''මම, මගෙ'' කිය කියා අරන් ආපු කයවල්වල ඇට කටු ගොඩ එක ගොඩකට ගොඩගැහුවොත් මේ මහ පොළොවේ පස් කඳත් ඒකට පරාදවන බව මේ උපමාවෙන් පෙන්වනවා. ඒ තරමටම අපි මේ දක්වා ආපු භව ගමන අනන්තයි අප්‍රමාණයි. නමුත් ඒ එකක්වත් අපට මතක නෑ. මතක නැති වුණත් ඒක සිද්ධ වෙලා තියෙනවා. ඒ ඥානය (පූර්වේනිවාසානුස්සති) පහල වුණා නම් අපිටත් ඒක දැක බලා ගන්න පුළුවන්. ඒ බැලුවත් ඒකෙ කෙළවරක් හොයා ගන්න බෑ. ඒ තරමටම දුරයි. ඒ හැම අත්බවකදීම ''මම, මගෙ'' කියල අල්ලගත් පුද්ගලයා දැන් කෝ කියලයි මේ අහන්නේ. එහෙම කියන්න පුළුවන් අත්බැවක් ලබපු කෙනෙක් මේ දක්වාම මේ තුන් ලෝකයේ කොතැනකවත් ඉඳල නෑ. එහෙම හිටිය නම් අදත් ඉන්න ඕන. නමුත් ඒක සිද්ධ වෙලා නෑ.

**ඇඳ මත පැදුර මත අගු පිලකද වෙනවා**
**යන එන මගක කානුවක ද මිය යනවා**
**මහ රජවරුත් අම්බලමේ පණ යනවා**
**මේ වගෙ මොහොත කොයි තැනමුත් හිමි වෙනවා**

**දේපොළ කොහිද මේ කයවත් උරුම නැත**
**මරණය ළඟයි තව හුස්මක් දෙකක් ඇත**
**තම සහයෝගෙදී මගෙ පණ පෙරත් යත**
**මගෙ පණ කියපු අය දැන් අහලකත් නැත**

**ඇහුවොත් අනේ අයියෝ පව් කර ගත්තා**
**දේපොළ ඉඩකඩම් මට මගෙ යැයි ගත්තා**
**ඒවා රකින්නට මර මර ජය ගත්තා**
**අද මම පරාදයි කයටත් නැත ඇත්තා**

**ළං වී හිටියමුත් මොනවා කරන්නද**
**ඇඬුවත් අත තබා සිටියත් රකින්නද**
**මරණෙදි හුස්ම උඩ අරගෙන එවන් සඳ**
**කොපමණ දුක් වුණත් හැර යයි මැරෙන්නද**

රජ වුණත් සිටු වුණත් මරණය කියන එක කොතන කොයි මොහොතක වෙයි ද දන්නෙ නෑ. සමහර විට ඒක මහා අප්‍රසන්න තැනක, අප්‍රසන්න විදියට වෙන්නත් පුළුවන්. මේ විදියට මේ කයවත් අපට ඕන විදියට පවත්වන්න බැරි නම් දේපොළ ගැන කවර කතා ද? ඉතින් දේපොල තියෙද්දී, මගේ පණ මගේ පණ කියපු අය මරණ මොහොතෙ දී දකින්න අහලකවත් නෑ. දැන් මේ වගේ වෙලාවක ඇහුවොත්, ජීවිත කාලයේ දී මොනවද කරගත්තෙ කියල, අනුන්ට හිංගි හිංසා කර කර තණ්හාවෙන් දේපොළ ගොඩගසා ගැනීම හැර, ජය ගත්තා කියල උදම් අනන්න තරම් දෙයක් කරගෙන නෑ. කොච්චර දිනුවයි කිව්වත් අන්තිමට මරණයෙන් පරාදයි. සංසාරයේදී පරාදයි. ඉතින් ඒ මරණ මොහොත ළං වුණාම ඒක වළක්වන්න මේ තිස් එක් තලයේ මොනම ජගතෙකුටවත් මොනම ක්‍රමයකින්වත් බෑ. ඒකට දුක් වුණයි කියල ඇති වැඩකුත් නෑ. මේ තමයි ලෝවාසීන්ගෙන් අති මහත් බහුතරයක් උරුමකරගෙන සිටින සත්‍යය යථාර්ථය. **මැරෙන බහුතරය සතර අපාගත වෙනවයි කියල** බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙත් මේ නිසයි.

දැන් මේ පෙන්වපු පටිභාන කවිවලට පෙර, අත්ථ කවි, සෘත කවි, චින්තා කවි කියල තවත් කවි වර්ග තුනක් පෙන්නුවා. එතනදී අත්ථ කවි හා සෘත කවි සඳහා අපේ පැරණි කවි කිහිපයකින් උදාහරණත් පෙන්නුවා. ඒ වගේම අත්ථ කවියක් පසුකාලීනව සෘත කවියක් ලෙසත්, සෘත කවියක් අත්ථ කවියක් ලෙසත් භාවිතා කරන්න පුළුවන් බවත් පෙන්නුවා. දැන් මේ කියන අත්ථ කවිය පසුකාලීනව සෘත කවියක් වෙන්න පුළුවන් වගේම, ඒක නිර්මාණය වුණේ එවෙලේම යම් කිසි පටිභාන ඥානයකින් නම් ඒක පටිභාන කවියක් වෙන්නත් පුළුවන්. එකම කවිය මේ තුන් ආකාරයෙන්ම වෙන්න පුළුවන්. අර්ථ කවියකින් යම් කෙනෙක් කිව්ව නම් අර්ථයක් ගැබ් වෙලා තියෙන නිසා අත්ථ කවියක්. ඊට පසුව ඒක සෘත කවියකින් තමයි අහගෙන කට පාඩම් කරගෙන එන්නේ. සමහර විට පටිභාන ඥානය තිබුණ නම් ඒ හදන වෙලාවේ පටිභාන කවියක් වෙනවා.

**උපන්නාට මේ ලොව වැනෙනවා විනා**
**ලෝ සිරිතට අඹු දරු රකිනවා විනා**
**රූපය අරන් පාපය ගෙවනවා විනා**
**ගෙනියන දෙයක් නැත ණය ගෙවනවා විනා**

දැන් මේ තියෙන්නේ අපේ පැරණි කරත්ත කවියක්. රෑට කරත්ත ගෙනියනකොට කාන්සියට කිව්වත් මේකෙන් යම් කිසි ධර්මයක් තමයි කියවෙන්නේ. එදා යම් කිසි අර්ථයකින් හදල අද වෙන කොට කටපාඩම් කරගෙන සෘත කවියක් විදියට අරන් එනවා. උපන් හින්දා කරන්න තියෙන දේවල් කරනවා මිසක්, නැත්නම් මේ ලෝකයේ

කරන්න හරයක් නෑ කියල දකපු කෙනෙකුගේ අදහසක් තමයි මේ. නිකන් වැනි වැනි ඉන්නවා කිව්වෙ ඒකයි, කරන්නම් වාලේ කරනවා. නමුත් යථාර්ථය දැක්කට පස්සෙ මේවා රැකලා කරගන්න හරයක් නෑ කියල දකිනවා. නමුත් ඉතින් මොනව කරන්නද? අර බැඳ ගත්තු බෙරය ගහනවා වගේ ලෝකයේ සිරිතට ජීවත් වෙන්න සිද්ධ වෙනවා. ඉතින් මේ ලස්සනයි, හැඩවැඩයි කියල ලස්සන වෙන්න හැදුවට, කරන්නෙ පව් ගෙවන එක තමයි. ඒ කියන්නෙ මැරෙනකොට අරන් යන දෙයක් නෑ. අනෙක් අයට වෙච්ච ණය ගෙවන එකයි කරන්නේ. ඒ තමයි සංසාර ගනුදෙනු. දුක් විඳලා ණය ගෙවලා මැරිල යනවා. අයිතිවාසිකම් කාටවත් නෑ. ඉතින් කල්පනා කරල බලනකොට මරණ මොහොත ළං වුණාම කරල තියෙන්නෙ ඔච්චරයි. හිමි කරගත්තු දෙයක් නෑ. මේ තමයි ලෝක ස්වභාවය. දැන් මෙතන මූලික පටිභානත්වයකුත් තියෙනවා. ඒ නිසා මේ වගේ කවි සමහර විට පටිභාන කවි වෙන්නත් පුළුවන්.

ඒ වගේම පෙර කාලයේ ගොයම් නෙලමින් හිටපු කාන්තාවන් පිරිසක් කියපු නෙළුම් කවියක් අහගෙන ඉඳල, සංඝයා වහන්සේලා හැට නමක් රහත් වූ බවත් සඳහන් වෙනවා. මේ තියෙන්නේ ඒ නෙළුම් කවිය,

**නෙළුමක් තිබේ පිපිලා හැඩ වැඩ ගන්නා**
**දුටු දුටුවන් දෙනෙත් සිත් හැම පොබ යන්නා**
**කොපමණ වෙලාවක් මේ ටික මෙහි වන්නා**
**ඉර බැස ගිය මොහොතෙ සේරම නැති වන්නා**

දැන් මේ කවිය කියමින් කාන්තාවන් පිරිසක් ගොයම් නෙලමින් හිටියා. ඒ අවස්ථාවේදී එතනින් සංඝයා වහන්සේලා හැට නමක් පිණ්ඩපාතෙ වැඩියා. ඉස්සරහින් වැඩිය ලොකු හාමුදුරුවන්ට මේ කවිය ඇහෙනකොට උන්වහන්සේ, තමන් පිටුපසින් වඩින අනෙක් සංඝයා වහන්සේලාටත් කියනවා, නැවතිලා ඔය කියන කවිය සාවදානව අහගෙන ඉන්න කියල. මේ වගේ අවස්ථාවකදී එක් නමක් නැවතුනොත් අනෙක් සංඝයා වහන්සේලාත් නවතින සිරිතක් එදා තිබුණා. මේ නිසා උන්වහන්සේලාත් එක පෙලට නැවතිලා මේ කවියට සවන් දුන්නා. අවසානයේ හැට නමම රහත් වුණා. හැබැයි මෙතනදී දැනගන්න ඕන කාරණයක් තමයි උන්වහන්සේලා එහෙම රහත් වුනේ, ඊට පෙර බණ අහල මූලික දහම් අවබෝධය ලබල තිබ්බ්ච නිසයි කියන කාරණය. මොකද මේ වගේ අවස්ථාවකදී වුණත් උන්වහන්සේලා කර්මස්ථානයක් වඩමින් සතර සති පට්ඨානයෙන් තමයි වඩින්නේ. ඒ වගේ වෙලාවකට ධර්මානුකූල දෙයක් ඇහුනොත් හෝ ඇස ගැටුනොත් ඒකට හිත යොමු වෙනවා. උන්වහන්සේලාට සමාධිය ස්වභාවයෙන්ම තියෙනවා. ප්‍රඥාව පහළ වෙන්න අවශ්‍ය පසුතලය හැදිල තියෙනවා. අරිහත් ඵලයට පත්වෙන්න දත්තයක් විතරයි අවශ්‍ය වෙන්නේ. දැන් මේ සිද්ධිය ගැන වීදාගම මෛත්‍රිය මහා නා හිමියන් කවියකින් ලෝවැඩ සඟරාවේ මේ විදියට සටහන් කරල තියෙනවා.





**දහමට සරි කොට එළුවෙන් පෙරැ කී**
**කවියට සිත පහදා සිටැ නිසැකී**
**සිහි කොට කඳ පිලිවෙල දොස් නොයෙකී**
**නිවනට සපැමිණි සඟ සැට නමකී**

මෙතනදී එළුවෙන් පෙරැකී කියල කිව්වේ හෙළ බසින් පෙර ප්‍රකාශ කළා කියන එකයි. එතකොට මේ නෙළුම් කවිය එදා සෘත කවියක් විදියට මුඛ පරම්පරාවෙන් ඇවිත් තිබුණත්, පෙර හිටපු යම් කෙනෙක් ඒක මූලිකවම නිර්මාණය කරල තිබුණේ පටිභානත්වය මුල්කරගෙන. එහෙම නැතිව මේ වගේ කවියක් ගෙතෙන්නෙ නෑ. ඒ නිසා තමයි අර විදියට ලෝකෝත්තර දහම් අවබෝධය ලබල අරිහත් ඵලයට පත්වෙන්න පුළුවන් වුනේ. පටිභාන කවියක් පසුකාලීනව අසා දැනගෙන ඇවිත් සෘත කවියක් වෙච්ච තවත් අවස්ථාවක් තමයි මේ.

ඒ වගේම මේ කවි ගැන කතා කරනකොට දකින්න තියෙන තවත් වැදගත් ලක්ෂණයක් තමයි, එළිසම හා එළිවැට කියන ක්‍රමය. ඒ ක්‍රමය තියෙන්නේ හෙළ භාෂාවේ කවිවල විතරයි. ඒක හෙළ බසට ආවේණිකයි. උදාහරණ විදිහට ඉහත සඳහන් කළ අවසන් කවියේ අග හැම පදයක්ම "කී" යන්නෙන් අවසන් වෙනවා. ඒවගේම පද පේලි හතරෙම මුල අග පද ගැලපීම සමානයි. නමුත් වෙනත් භාෂාවල කවිත්වය තිබුණට එහෙම එළිසම එළිවැට සම්බන්ධයක් නෑ. පාලි භාෂාවේ එන ගාථා ගත්තොත් ඒවායේ තියෙන්නේ නිසඳැස්, අග පදය සමාන නෑ. නමුත් කාව්‍යමයයි. උදාහරණ විදියට,

යේ බ්‍රහ්මණා වේදගු සබ්බ ධම්මේ - තේ මේ නමෝ තේච මං පාලයං තු......
වශයෙන් කියන ගාථාව කාව්‍යමය වුනත් මේ විදියට එළිසම එළිවැට පිහිටීමක් නෑ.

ඒ වගේම අත්ථ කවි, සෘත කවි, චින්තා කවි හා පටිභාන කවි කියන මේ කවි වර්ග හතරෙන්ම කවීත්වය නෙවෙයි බුදුරජාණන් වහන්සේ එපා කිව්වේ. මේ හතරෙන්ම ගීත ස්වරයයි එපා කිව්වේ. මෙතැන දී ගීත හා අභි ගීත කියන දෙකේ වෙනස හඳුනාගත යුතුයි. ගිහියන්ගේ හිත පිනවන්න කරන දේවල් තමයි (ගෘහ හිත) ගීත කිව්වේ. ඒ කියන්නේ ලෞකිකව හිත පිනවීම සඳහා නොයෙක් රාග ස්වභාවයන්ගෙන් කියන එකයි. ඒවා ඇහුවට පස්සෙ අල්ලගෙන බඳාගෙන, ඉඹින්න නටන්න තියෙන මානසිකත්වයක් ඇති වෙනවා මිසක් ලෝකය අතහැර දමන මානසිකත්වයක් නෙවෙයි එන්නේ. නමුත් මේ කියන ගීත ස්වභාවය අභිබවා යන එකක් තමයි අභි ගීත කියන්නේ. එතැනදී අර වගේ ශෘංගාර රසයෙන් වල්මත් වීමක් වෙන්නෙ නෑ. ඒක අභිබවා ගිහින් ලෝකය අතහැර මිදෙන ස්වභාවයක් තමයි අවසානයට සිද්ධ වෙන්නේ. ඒ ක්‍රමය ධර්ම දේශනාවකට ගැළපෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ලොව සෑම වචනයකටම නිරුක්තියක් හා ඊට අනුකූල අදහස් ගැළපීමක් ඇත

*(පසුගිය කලාපයෙන් - භාෂාව පරිණාමය වුණත් දහම් අදහස නොවෙනස්ව ගත හැකි මාගධී ප්‍රාකෘත ක්‍රමය)*

නිරුක්ති සම්බන්ධයෙන් තවත් වැදගත් විස්තරයක් පෙන්වන තැනක් තමයි නෙත්ති ප්‍රකරණයේ 55 පිටුවේ එන <u>චතුබ්‍යූහාර විභංගය</u>. ලෝකයේ තියෙන විවිධ ජනපදවල භාවිතා කරන විවිධ භාෂාවල ජනපද නිරුක්ති ගත්තම ඒ කතා කරන හැම වචනයකටම නිරුක්තියක් ඇති බවත්, ලෝකයේ තියෙන සත්ව නාම, ස්ත්‍රී, පුරුෂ, නපුංසක.... මේ ආදී සෑම වචනයකටමත් නිරුක්ති දෙන්න පුළුවන් බවත් එහි සඳහන් වෙනවා.

''නිරුක්තිය කවර යත් පදයන්හි සංහිත වූ යෙදුණා වූ යම් නිරුක්තියක් ඇත්ද එයයි. යම් හෙයකින් ඥෙයිය ධර්මයන්ගේ (මේ මේ දේවල් යැයි හඳුන්වා, විස්තර වශයෙන් මාතෘකාව ඉක්මවා දන ගැනීම) නාම වශයෙන් දැනීම වේද එහෙයිනි. යම් කලෙක මහණ ශබ්දාභිධේය වූ අර්ථයාගේ නාමය දනීද (එනම් මේ මේ දෙයට මේ මේ නම තියෙනවයි කියන කාරණය. උදාඃ දෙහි ගහක් කියන්නෙ මේකයි, කොස් ගහ කියන්නෙ මේකයි, මේ තමයි රූපය කියන්නේ, මේ තමයි වේදනාව කියන්නේ... මේ ආදී වශයෙන් යමකට කියන නම දනී නම්), ස්වභාව ධර්මයාගේත් නාමය දනීද, ඒ ඒ අර්ථ, ධර්ම ඒ ඒ පරිදි ව්‍යවහාරයට නගයි. දෙසයි. මේ මහණ, පෙළ අරුත්හි නිපුණය, පෙළ දහම්හි නිපුණය, ව්‍යංජනයෙහි නිපුණය, නිර්වචනයෙහි කුසලය, පූර්වාපරයෙහි නිපුණය (මුල අග පෙන්වන ක්‍රමය), ධර්ම දේශනයෙහි නිපුණය, අතීත ප්‍රඥප්තියෙහි නිපුණය, අනාගත ප්‍රඥප්තියෙහි නිපුණය, වර්තමාන ප්‍රඥප්තියෙහි නිපුණය (මේකට අතීතයේ කිව්වේ මෙහෙමයි, වර්තමානයේ කියන්නෙ මෙහෙමයි, අනාගතයේදී කියන්නෙ මෙහෙමයි කියල විග්‍රහ කිරීමේ හැකියාව), ස්ත්‍රී ප්‍රඥප්තියෙහි නිපුණය (උදා : ඇය, ඕ තොමෝ, එතුමිය, කීවාය.... ආදී වශයෙන්), පුරුෂ ප්‍රඥප්තියෙහි නිපුණය (උදාඃ ඔහු, එතුමා, කීවේය... ආදී වශයෙන්), නපුංසක ප්‍රඥප්තියෙහි නිපුණය (උදාඃ ඒක, එය, ඒවා.... ආදී වශයෙන්), ඒක වචනයෙහි නිපුණය, අනෙක වචනයෙහි (බහු වචන) නිපුණ යැයි කියනු ලැබේ. මෙපරිද්දෙන් සියලුම ජනපද නිරුක්ති සංඛ්‍යාත, සත්ව ව්‍යවහාර පදයෝ කිය යුත්තාහුය, සියලු ලෝක සංඥාවෝ ද කිය යුත්තාහුය. මේ නිරුක්ති පද සංහිතායි''




මේ අනුව ලෝකයේ තියෙන සෑම භාෂාවකම සෑම වචනයකටම නිරුක්තියක් තිබිය යුතුයි. නිරුක්තියක් නැති පදයක් නෑ. සියල්ල පටිච්ච සමුප්පන්නයි, සංඛතයි කියන එකෙනුත් මේ කාරණය ඔප්පු වෙනවා. යම් කිසි වචනයකට මූලික වචනයක් තියෙනවා මෙන්ම, ඒකට ඊට පසුව තියෙන අධි වචන කියන ඒවාත් පෙන්වන්න පුළුවන්. මේ ලෝකයේ තියෙන තරම් මොනවා හරි සංඥා තියෙනව නම් ඒවත් ගන්න පුළුවන්. සියලුම ලෝක ව්‍යවහාර කිව්වම ඉංග්‍රීසි හෝ සිංහල හෝ මාගධී හෝ විතරක් නෙවෙයි ඕනෑම ව්‍යවහාර භාෂාවක සියලුම පද ප්‍රඥප්ති කියන මේ ඔක්කෝගෙන්ම නිරුක්ති පෙන්වන්න පුළුවන්. ඊළඟට යම් ධර්මයක නාම ඥානය හෙවත් ඒකට කියන නම දකින ඥානයක් තියෙනවා. මේ විදිහට ඒ භික්ෂුව අර්ථ නාමය දකිනවා, ධර්ම නාමය දකිනවා. ඒ තමයි අත්ථ පටිසම්භිදා, ධම්ම පටිසම්භිදා කිව්වේ. මේක සිව්පිළිසිඹියාවෙන් දෙකක්. මේ ආකාරයෙන් මේකට මේ පදය ආරෝපණය වෙනවයි කියල විග්‍රහ කර පෙන්වීම අත්ථ කුසලතාවයි. මේ විදිහට ධර්ම කුසලතාව, ව්‍යංජන කුසලතාව, පද බෙදීමේ කුසලතාව, නිරුක්ති කුසලතාව කියන හැකියාවනුත් තියෙනවා. මේ කියන සියලුම කාරණා පිළිබඳ නිරුක්ති තියෙනවා. මොන භාෂාවෙන් වුනත් වචන කියන ඒවා නිකන් හැදිල නෑ. නමුත් ඒවා භාෂා විශාරදයන්ගේ නීති මාලාවන්ට කොටු වෙලා හැදිච්ච ඒවා නෙවෙයි. යථාර්ථය පෙන්වන්න භාෂා නීති රීති අවශ්‍ය නෑ. යම් කිසි බුද්ධ වචනයකින් පෙන්වපු මූල සිද්ධාන්ත-යක් නිරුක්තියකින් විග්‍රහ කරනවා. නිරුක්ති දන්න කෙනා ලෝකයේ ඇති විවිධාකාර උපමා සංසන්-දනය කර විග්‍රහ කර තේරුම් කර නිර්වචනය කරනවා. ඒක හැඟීමට ආවට පස්සෙ අවබෝධ වෙනවා, අදහස වැටහෙනවා. ඉන්පසු අදහස මිසක් එතැන වචන නෑ.

උදාහරණයක් විදිහට අපි පොල් ගෙඩිය කියල වචනයක් භාවිතා කරනවා. දැන් මොකක්ද පොල් ගෙඩිය කියන්නෙ කියල පොල් ගෙඩියක් අරගෙන දැක බලා ගන්නවා. එතකොට යම්කිසි ☞

ක්‍රමයකින් ඒක අපට පෙන්නුම් කරනවා. දැන් තවත් කෙනෙක් කොකනට් (Coconut), තේංග කියන්නෙ මොනවද කියල ඉංග්‍රීසි හා දෙමළ භාෂාවෙන් අපෙන් ඇහුවොත් සහ ඒ භාෂා දෙකෙන්ම කියන වචන දෙක අපි ජීවිතයටම අහලත් නැතිනම්, ඒ කිව්වෙ මොකක්ද කියල තේරුම් ගන්න බැරිව අපි ඒ ගැන හොයනවා. ඉන්පසු ඔහු, මෙන්න මේකට තමයි කොකනට් කියන්නෙත්, තේංග කියන්නෙත් කියල පොල් ගෙඩියක් අපිට පෙන්නුවොත් දැන් අපි දන්නවා මේ වචන තුනෙන්ම කිව්වේ එකම දෙයයි, එකම අදහසයි කියල. දැන් වචන අභිබවා ගිහින් නිර් වචන වුණා. අදහස හිතට ආවා. මේකට කියනවා නිර් වචන කරනවා කියල. නිරුක්තිවලින් කරන්නෙ මේක තමයි. මේ නිසා **නිරුක්ති කියන්නේ පදයක් නෙවෙයි, පදය තුළින් අර්ථය දීම. අර්ථය ගන්න අමාරු නම් විවිධ උපමා අරගෙන ඒක විග්‍රහ කරනවා.** මේ තමයි බුදුන්වහන්සේ දේශනා කරපු මාගධී ප්‍රාකෘත රටාව.

දැන් එහෙනම් බුද්ධ දේශනාව අනුව අපට පෙනී යන කරුණක් තමයි මේ ලෝකයේ සත්ව නාම, ගස්, ගල් ආදී සෑම වචනයකටම නිරුක්තියක් තියෙන බව. ඒ වගේම ඒ **දෙනු ලබන නිරුක්තිය දහම් අදහසට ගැළපිය යුතු බවත්** ඉතාම පැහැදිලියි. ඒ විදිහට ගැළපෙනව ද කියන කාරණයත් අපටම දැනගන්න පුළුවන්. උදාහරණයක් විදිහට පුරුෂ හෙවත් පිරිමි කියන වචනය ගත්තම පෞරුෂත්වය පෙන්වන්නේ පිරිච්ච දේකින්. පිරිල නැතිනම් අඩුපාඩු සහිතයි. කාගෙන් හෝ ගන්නයි බලන්නේ. පිරිල තියෙන කෙනාට අඩුපාඩුවක් නෑ. ඔහු අනෙක් අයටත් දෙන්නයි බලන්නේ. හැබැයි මෙතනදී භෞතිකව තියෙන ධන සම්පත් විතරක් නෙවෙයි, ධෛර්යයෙන්, ඥානයෙන්, ත්‍යාගයෙන් ආදී විවිධ වත්කම්වලින් පිරිල දීමේ බලාපොරොත්තුවත් අයිති වෙනවා. භෞතිකව තියෙන ධනය කියන්නේ එක කොටසක් විතරයි. මේ විදිහට පිරීමෙන් ඇති වන පිරිච්ච බව තමයි පිරිමි කියන්නේ. නමුත් අද සමහරු පිරිමිකම කියල කියන්නෙ ඕකට නෙවෙයි. අරක්කු වීදුරුවක්, සිගරට් එකක් බීගෙන බොරු චණ්ඩිකම් පෙන්නගෙන සල්ලාලකම් කරන්න පුළුවන්නම්, හොඳට කාල බීල විනෝදෙන් ඉන්න පුළුවන්නම් ඒක තමයි සමහර උදවිය පිරිමිකම විදියට හිතන් ඉන්නේ. නමුත් දහම අනුව පිරිමි කියන්නෙ ඒක නෙවෙයි.

ඒ වගේම පිරිල නැති කෙනාට යම්කිසි මදි පාඩුවක්, ඉතිරියක් තියෙනවා. ඒ වගේ ඉතිරි (මදි පාඩු) කෙනාට කොච්චර දුන්නත් මොකක් හරි මදියක් තියෙනවා. මේ නිසා ඉල්ලනවා. දෙන්නෙ නැත්නම් අඬල දොඩල හරි ගන්න බලනවා. මේ කියන ඉතිරි ලක්ෂණය තමයි ස්ත්‍රී කියන්නේ. ඊළඟට නපුංසක කියල වචනයක් තියෙනවා. පූර්ණ සකයක් නෑ කියන එකයි මේකෙන් කියන්නේ. එනම් ආස්වාදය සඳහා බලාපොරොත්තු වන දේ එතැන නෑ කියන එකයි. එහෙම නැතිව ඒ දෙයින් නික්මිලා ගියා කියන එක නෙවෙයි. ඒ බලාපොරොත්තුව නිසා අසහනකාරීව ඉන්නවා. ආස්වාදය සඳහා බලාපොරොත්තු වෙන දේ පිරි/ඉතිරි කියන දෙකේම තියෙනවා. නපුංසක කිව්වම මේ දෙකම නෑ. ඒ ආස්වාදය විඳගන්න බෑ. අසහනකාරීයි.

දැන් මේ කියන ගති ලක්ෂණ අපට සමාජයෙන්ම දැක බලා ගන්න පුළුවන්. ලෝකයේ සමස්තය ගත්තම ස්ත්‍රී පක්ෂයේ ලක්ෂණයක් තමයි අර කියපු මදි පාඩු හෙවත් ඉතිරි ස්වභාවය. කාගෙන් හරි පිළිසරණක් බලාපොරොත්තුවෙන් ඉන්නවා. මේ නිසා ඒ අය කොච්චරවත් කාගෙන් හෝ යමක් ඉල්ලන බලාපොරොත්තුවෙන් ඉන්නව වගේම, තවත් කෙනෙකුට දෙන ගතිය ඊට සාපේක්ෂව අඩුයි. මේ නිසා ලැබුණු දෙයින් සෑහීමට පත් වීමේ ගති ස්වභාවය අඩුයි. ඒ අය මොනව හරි ගන්න සාප්පු සවාරි ගියත් ඒ කාරණය පැහැදිලිවම දැක බලා ගන්න පුළුවන්. එක වර්ගයක එකකින් සෑහීමට පත්වෙන්නෙ නෑ. තියෙන තරමක් ගන්න ඕන. ලඟපාත කෙනෙක් යමක් පාවිච්චි කරනවනම් තමන්ට ඊටත් වඩා හොඳ එකක් ඕන. මෙහෙම ගති ස්වභාවයක් තමයි බොහෝකොටම තියෙන්නෙ. කොහොම නමුත් සමස්තය ගත්තම පිරිමි අයගේ තියෙන්නේ මීට වඩා වෙනස් ගති ලක්ෂණ. තමන් අනුන්ගෙන් ඉල්ලා නොගෙන අනුන්ට අත නොපා තමන්ම නැගිටින්නයි බලන්නේ. ඒ විදිහට පුරවගෙන පිරීම නිසා අනුන්ටත් යමක් ලබා දෙන ගති ස්වභාවය වැඩියි. ලැබිච්ච දෙයකින් සෑහීමට පත් වීමේ හැකියාව සාපේක්ෂව වැඩියි. පිරීමේ ස්වභාවයේ උපරිමයේදී අනුන්ටත් ලබා දීමේ හැකියාව ලෝකානුකම්පාව, දයානුකම්පාව මුල් කරගෙන උපරිමයෙන් කරන්නත් පුළුවන්. ලොව්තුරා බුදු කෙනෙකුගෙන් මේ කාරණය උපරිම ලෙසින් දිස්වෙනවා. පෙරුම් පිරීම කියන්නෙත් පිරීමක්. මේ නිසා තමයි ලොව්තුරා බුදු වන හැම කෙනෙක්ම නියත විවරණ ලබා ගැනීමෙන් පසු පිරිමි අත්භවයන් පමණක් ලබන්නේ. සතෙක් වෙලා ඉපදුනත් පිරිමි සතෙක් විදියට සත්තු අතර නායකත්වයට පත්වෙනවා.

දැන් ඉතින් මේ කියන ස්ත්‍රී ගති ලක්ෂණ වැඩීමෙන් මතු අත් භවයේ ස්ත්‍රී වෙන්නත්, පිරිමි ගති ලක්ෂණ වැඩීමෙන් පිරිමියෙක් වෙන්නත් හැකියාව තියෙනවා. මේ නිසා දැන් ස්ත්‍රී අත්බැව් ගත කරන සමහර අය මතු පිරිමි අත්බවත්, දැන් පිරිමි අත්බැව් ගත කරන සමහර අය මතු ස්ත්‍රී අත්බවත් මේ ක්‍රමයට ලබන්න පුළුවන්. මේ කාරණය සමාජයේ අත්දකින්නත් ලැබෙනවා. අදත් සමහර පිරිමි ඉන්නවා ස්ත්‍රීන් වගේ වැඩ කරන. ඒ වගේම සමහර ස්ත්‍රීන් ඉන්නවා පිරිමි වගේ වැඩ කරන. දැන් ස්ත්‍රී පුරුෂ වෙලා තියෙන්නෙ පෙර වඩපු සංඛාරවලින්. සංඛාර යම් සේ ද ජාතිය ඊට අනුකූලයි. මෑත කාලයේදී කරනු ලැබූ පුනර්භව පර්යේෂණ මගිනුත් පෙර පිරිමි අත්බැව් පසුව ස්ත්‍රී අත්බැව් ලබා ගත් බවත්, පෙර ස්ත්‍රී අත්බැව් පසුව පිරිමි අත්බැව් ලබාගත් බවත් හොයාගෙන තියෙනවා. එහෙම වෙන්නේ අර කියපු ගති ලක්ෂණ අනුව තමයි. නමුත් නිවන් අවබෝධයට ස්ත්‍රී පුරුෂ භේදයක් නෑ. ලැබූ අත්බවයෙන් ප්‍රයෝජන අරගෙන ධර්මාවබෝධයට උත්සාහ ගැනීමයි කළ යුත්තේ. මේ විදිහට නිරුක්ති දැන ගත්තම ස්ත්‍රී පුරුෂ වෙන හැටිත් හොයා ගන්න පුළුවන්.

මාගධී ප්‍රාකෘත ක්‍රමය අනුව නිරුක්ති ගන්න කොට භාෂාව බලපාන්නෙ නැති බවත් කලින් පෙන්වා දුන්නා. භාෂාව මොකක් වුණත් අදහස ගන්න පුළුවන්. උදාහරණ විදිහට අපි අද භාවිත කරනවා කෝප්පය කියල වචනයක්. කප් (CUP) කියන වචනය තමයි මේ කෝප්පය වුණේ. මේකෙ සිංහල වචනය තමයි බඳුන කියන්නේ. නමුත් අපි දැන් භාවිතා කරන්නේ කෝප්පය කියන වචනය. ආපය කියන්නේ ආපෝ ධාතුව හෙවත් ජලය හා සම්බන්ධයි කියන එක. යම් කිසි තැනක ජලය තියෙනව නම් අපි, ජලය කෝ? කියල අහනවා. මේ විදිහට **ජලය හා සම්බන්ධ කරගත් දේ තමයි කෝ + (ආපය) අප්පය - කෝප්පය වුණේ. කෝප්පයෙන් කරන්නේ ජලය වගේ දෙයක් රැස් කරන එක. සිංහල වචනය ගත්තම බඳුන කියන්නේ බන්දු වුණා හෙවත් බැඳුණා කියන එකයි.** බැඳෙන්නේ ආපෝ ධාතුව. එතකොට කෝප්පය කියන එකේ අදහසට

සමානයි. ඒවගේම දෙමළෙන් කෝප්පෙයි කියලත් කියනවා. මේ විදියට විවිධාකාරයෙන් අදහස එන්න වචන සකස් වෙලා තියෙනවා.

මෙතැනදී මතුවන දහම් අදහස, අදාළ වචනයෙන් හෝ වචනය දුන් ද්‍රව්‍ය වස්තුව මගින් සිද්ධ කරන කාර්ය හා මනාව ගැළපෙනවා. ඒ කාරණය ඔප්පු කරල පෙන්වන්න පුළුවන්. තවත් උදාහරණයක් ගත්තොත් අපි දන්නවා උණ කියන ශාකය. මේ උණ ශාකය හැඳුණු හැටි එහි නිරුක්තියෙන් කියන්න පුළුවන්. **ඌන භාවය කියන්නෙ යම් කිසි අඩුපාඩු වීමක්, ගුණයන්ගේ යම් අඩු පාඩුවක්.** මිනිස්සු දස කුසලයේ ඉන්න තාක් කල් රෝග හැදුණෙ නෑ. එහෙම හිටපු මිනිස්සු දස අකුසලයට බැස්සම තමයි සියලුම ඌනතා පටන් ගත්තේ. ඒකෙන් ගුණ හීන වීමක් සිද්ධ වුණා. හැබැයි මේ කියන කාරණය පොත්වල නෑ. නමුත් මෙතන තියෙන ධර්මතාවය දැන ගන්න හොඳ සාක්ෂියක් වශයෙන් මේ කියන කාරණය පෙන්වන්න පුළුවන්. ඉතින් අර කියපු **ගුණවල ඌන වීම නිසා පිටවෙලා ගිය ශක්තිය විශ්වයට විහිදිලා විවිධාකාරයේ දේවල් හට ගත්තා.** (වි + ස්ව - තමන්ගෙන් විසි වුණා කියන එකයි විස්ව කියන්නෙ) එහෙම හටගත් දෙයක් තමයි උණ කියන ශාකය.

ඊළඟට අද අපිට විවිධාකරයේ උණ රෝග කියල ලෙඩ හැදෙනවා. ඒ හැදෙන්නේ ශරීරයේ යම් කිසි ඌනතාවක් හට ගැනීම නිසා. **මනුස්සයෙකුගේ ඌන භාවය නිසා ඇති වෙන්නේ අභ්‍යන්තරයේ හිස් වූ ස්වභාවයක්. උණ ගහේ ඇතුළත කුඹල හෙවත් හිස් බව ඒ අනුව හටගත්තක්.** එතකොට අර උණ කියන ශාකයේ තැන්පත් වෙච්ච, ඌන වුණ කොටසේ ශක්තිය ආපසු ගන්න පුළුවන් ප්‍රයෝග සම්පත්තියක් පිහිටනවා. ඒක උණ රෝගයට බෙහෙතක් වෙනවා. උණ ශාඛයේ ළපටි අවස්ථාවේ ඇති උණ ගොබය සුද්ද කර තලා මිරිකාගත් උණ යුෂය මොලේ මැලේරියාව ඇතුළු සියලුම උණ රෝගවලට මාහැඟි ඖෂධයක් විදියට භාවිතා කරන්න පුළුවන්. මේක නිකන් ආවට ගියාට කියන එකක් නෙවෙයි. අත්හදා බලල අත්දැකීම් ඇතිවයි කියන්නේ. නූතන වෛද්‍ය ශාස්ත්‍රයට හසුනොවුනත් සමාධියේදී මේ වගේ කාරණා හසුකර ගන්න පුළුවන්. නිරුක්ති ගැන පහදන්න ඕන නිසයි මේ උදාහරණය ගත්තේ. ඒ නිසා උණ ගොබයෙන් උණ රෝගයට ඖෂධය උකහා ගන්නා හැටි මේ අවස්ථාවේ දී සඳහන් නොකළත් ඉදිරි කලාපයකින් ඒ වටිනා ක්‍රමය සියලුම පින්වතුන්ට දැනගන්න ලැබේවි. එහෙනම් දැන් බලන්න උණ කියන වචනයේ නිරුක්තියත්, ඒ ශාකයත් එයින් සිද්ධ කරන කාර්යට ගැලපිලා තියෙන හැටි. හැබැයි මේ කාරණය සැඟවිලයි තියෙන්නේ. ඒක මේ විදියට මතු කරගත යුතුයි.

මේ වගේ තවත් ශාකයක් තමයි අක්කපාන ශාකය. අක්ක කියන වචනයෙන් පෙන්වන්නේ අක්‍රිය කරනවා කියන කාරණය. පාන කියන්නේ ගල්වලට. සඳකඩ පහන කියන වචනයෙන් ඒ බව ඔප්පු වෙනවා. පහන කියන එක තමයි පාන වුණේ. පාලි භාෂාවෙන් පහන් කියන්නේ ගල්වලට. ඉස්සර පහන් කෙටුවෙ ගල්වලින්. පහන් සිත කියන්නෙත් පැහැදීමෙන් ඇති වූ දැඩි සිත කියන එකයි. ඒ කියන්නේ ගලක් වගේ ස්ථිර සතුට, නොසෙල්වෙන සතුට. එහෙනම් ගල් අක්‍රිය කිරීමක් තමයි මෙතනින් පෙන්වන්නේ. අද කාලයේ සුලභව දකින්න තියෙන රෝගයක් තමයි මුත්‍රා ගල් කියන්නේ. මේ කියන අක්කපාන ශාකයෙන් මුත්‍රා ගල් සම්පූර්ණයෙන් අක්‍රිය කර දිය කර හරින ඖෂධයක් හදා ගන්නත් පුළුවන්. ඒ විදිහට අක්කපාන යොදාගෙන එක්තරා ඖෂධයක් සකස් කර ගන්නා ආකාරය 14 වන කලාපයෙන් පෙන්වා දුන්නා. එහෙනම් අක්කපාන කියන වචනයේ පද නිරුක්තිය ඒකෙන් කෙරෙන කාර්යට කොච්චර හොඳට ගැළපෙනවද කියන කාරණය පැහැදිලිව පේනවා.

ඊළඟට අපට පුරුදු ශාන්ති කර්මවලදී නිතරම යොදා ගන්නා දෙයක් තමයි දෙහි, දොඩම්. **දොඩනවා කියන වචනයෙන් පෙන්වන්නේ යම්කිසි අවසිහි ගති ලක්ෂණයක්.** යම් කිසි උෂ්ණ අධික වීමක් හෝ උණ වැඩි වීමක් වුණාම දොඩනවා. මේ වගේ අවස්ථාවක් සමනය කරන්නයි දොඩම් ගන්නේ. ඒ කියන්නේ දොඩවන ගති ලක්ෂණයෙන් යුත් නොගැළපෙන දේවල් කතා කරන කොට, කටයුතු කරන කොට අභ්‍යන්තරගතව තිබුණු ශක්ති විශේෂ පිටවෙනවා. නමුත් මේ කියන **දොඩවන ගතිය ඉස්සර පිහිටල තිබුණේ යහපත් පැත්තෙන්. ඒ කාලයේ දෙඩෙව්වේ යහපත් දේවල් මිසක් අද වගේ වල්පල් නෙවෙයි.** අනෙක ඒ කාලයේ දැන් වගේ දෙසන්න දෙයක් තිබුණෙ නෑ. මොකද මිනිස්සු බොහෝ කොටම හිටියේ දස අකුසල්වලින් වෙන් වෙලා. ඉතින් අවවාද අනුශාසනා කරන්න දෙයක් තිබුණෙ නෑ. දස අකුසල් කරන්න පටන් ගත්තම තමයි මේක මෙහෙම කරපන්, අරහෙම කරපන් ආදී වශයෙන් දේශනා කරන්න සිද්ධ වුණේ. එතකොට ඒක අහන්න පිරිස් හිටියා. නමුත් ඊට පෙර හිටපු ආදි කල්පික මනුෂ්‍යයින්ට එහෙම කියන්න අවශ්‍ය වුණේ නෑ. ඒ තමයි ලෝකයේ ආරම්භ කාලය. ඊට පස්සෙ තමයි දෙසන්න පටන් ගත්තේ. **අදත් කවුරුහරි වල්පල් දොඩන්න ගත්තොත් දොඩවන්නෙ නැතිව පලයන් කියල අපි අතර කියවෙනවා.**

''දෝ'' කියන හඬින් පෙන්වන්නේ දොඩනවා කියන අර්ථය. අඩම් කියන්නේ අඩ හෙවත් භාගය. ඒ කියන්නෙ, කියන එක හරියට කියන්නෙ නැතිව භාගෙට කියල නවත්වනවා. කියන දේ තේරෙන්නෙ නෑ. ඒකෙන් වැඩක් නෑ. මේ නිසා ලෝකය ආරම්භ වූ මුල් කාලයේ මේ දෙහි දොඩම් තිබුණෙ නෑ. මොකද ඒ ගුණයන් මිනිස්සු ළඟ අභ්‍යන්තර ශක්තිය වශයෙන් ගැබ් වෙලා තිබුණා. ඒ ශක්තිය **දුරට අස්වීම තමයි දුරස්වීම කියන්නේ.** නැති වුණා කියන එක නෙවෙයි. ඒක දෙහි දොඩම් ශාකවල තැන්පත් වුණා. දුරට අස්වෙච්ච ඒ ශක්තිය නැවත ගැනීමයි ශාන්ති කර්ම ආදියේදී දෙහි දොඩම් යොදා ගැනීමෙන් සිද්ධ කරන්නේ. **දෙහි කියන්නෙත් දේශනා කරනවා, දෙසනවා කියන එක. දෙහි කපනවා කියන වචනයත්, ක්‍රියාවත් අදත් අපි අතර භාවිතා වෙනවා.** එතකොට එදා දුරට අස්වුණේ හොඳ කොටසක්. ඒ වගේම ක්‍රමයෙන් නරක කොටසකුත් අස්වෙලා තියෙනවා. කොහොම හරි මේ දෙහි දොඩම් ආදියෙන් එන නිරුක්තිය ඒවායින් කරන කාර්යන්ට ඉතා හොඳින් ගැළපෙනවා. ශාන්ති කර්ම ආදියට දෙහි දොඩම් යොදා ගැනීමෙන් ඒ බව තහවුරු වෙනවා.

දැන් මේ විදියට මේ ශාක හඳුන්වන නම්වලින් කියවෙන නිරුක්තිය අරගෙන තමයි ඉස්සර හිටපු ඍෂිවරු බෙහෙත් ඖෂධ පෙන්වල දුන්නේ. ඒ විදියට **ඒ ඒ ශාකවල පද අර්ථ දකින නුවණට ද්‍රව්‍ය පදාර්ථ ඥානය කියල කියනවා.** ඒකත් නිරුක්ති පටිසම්භිදා ඥාණයේම ලෞකික කොටසක්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 17**

# රක්තවාතය නිට්ටාවට සුව කරන තෙල හිඳ ගන්නා හැටි...

*(පසුගිය කලාපයෙන් - දුර්ලභ ගණයේ සමාධිමය ප්‍රතිකර්මයකට එල්ලවුනු අභියෝග....)*



**- වහරක අභයරතනාලංකාර හිමි**

පිත විපරීත වීමෙන් හටගන්නා රක්තවාතය මුල් කරගත් රෝගයන්ට සමාධියෙන් බලවත් වූ ප්‍රතිකර්මයක් නැගුනු හැටි පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. දැන් ඒ ප්‍රතිකර්මයට අදාල තෙල හිඳගන්නා හැටි තමයි මේ ඉදිරිපත් කරන්නේ. මෙතන තියෙන **විශේෂත්වය තමයි බොන බෙහෙතකින් තොරව මේ තෙල ආලේප කිරීමෙන් රෝගය නිට්ටාවට සුව වීම.** හැබැයි මේ තෙල හිඳගන්නා ක්‍රමය බොහොම සංකීර්ණයි. ඒ නිසා ඉතා සියුම් විදියට එකින් එක ඒ තෙල හිඳගන්න හැටි මෙතැන් පටන් ඉදිරියට විග්‍රහ කරල තියෙනවා. ඒ ක්‍රමය හරියට දැනගත්තට පස්සෙ තෙල් හිඳලා අත්දැකීමක් තියෙන අයට ගැටළුවකින් තොරව ඒක කරගන්න පුළුවන්. අත්දැකීම් නැති අයට වුණත් තවත් අයගේ උදව් උපකාර ඇතිව බොහොම ඉවසීමෙන් මේ කියන ක්‍රමරටාව අනුගමනය කළොත් මේ තෙල හිඳගන්න පුළුවන් අත්දැකීම් ලැබෙනවා. මේ තියෙන්නෙ ඒ **තෙල් බෝතලයක් හදාගන්න අවශ්‍ය කරන ද්‍රව්‍ය ලැයිස්තුව.**

1. පැළය සමග පැළ පොල් ගෙඩි නවයයි. 2. තවත් අමතර පැළ පොල් ගෙඩි හයයි. 3. වට්ටක්කා ඇට මද අහුරු හයයි. 4. මහ අලයෙන් බෙදී ගිය මුල් සහ කටු සමග කොහිල කරටි හයයි (කොළ කඩා ගත්) 5. තුරු ගොලෑ පුවක් ගෙඩි දොළහයි. 6. නිදිකුම්බා මල් අහුරු දොළහයි. 7. නිදිකුම්බා මුල් අහුරු දොළහයි. 8. වරක ගහකින් ලබාගත් මල් වැරූ මට්ටමේ පොලොස් ගැට හයයි. 9. ඉරමුසු සහමුලින් අහුරු දොළහයි. 10. කුඩා අළු කෙසෙල් මොටෙයියන් හයයි. 11. කෝමාරිකා පිති නවයයි. 12. අමු කහ 200g යි. 13. වියළි කහ 100g යි. 14. ලොඳ නැති වතුර තියෙන කුරුම්බ ඇට්ටි ගෙඩි පහළොවයි. 15. මදන මෝදක හයයි (මොරවක මදන මෝදක නම් වඩා හොඳයි). 16. පොල් අරක්කු මේස හැඳි නවයයි. 17. අඟලක් දිග පළල රන් පත්‍ර කැබැල්ලයි.

දැන් මේ ද්‍රව්‍ය ලැයිස්තුව සකස් කරගන්නා ආකාරය එකින් එක විග්‍රහ කරල දැනගනිමු. පළමුවෙන්ම මේ තෙල හිඳගන්න රන් තැඹිලි තෙල් අවශ්‍ය වෙනවා. හැබැයි රන් තැඹිලි පොල් හදිස්සියට හොයන්න බෑ. රන් තැඹිලි පැළ හදාගන්න සෑහෙන්න කාලයක් යනවා. හැබැයි සාමාන්‍ය දේශීය පැළ පොල් අරගෙන රන් තැඹිලිවල සංයෝගය හදන උපක්‍රමයක් තියෙනවා. ඒක සමාධියට ආපු ක්‍රමයක්. ඒ ක්‍රමයෙන් රන් තැඹිලි හදාගන්න හැටි වෙනම දැනගන්න ඕන. ඒකට තමයි අර පැළ පොල් ගන්නේ. මෙතනදී සාමාන්‍ය පොල් තෙල්වලින් රන් තැඹිලි තෙල්වලට ආදේශකයක් තමයි හදාගන්නේ. ඒ කියන්නේ රන් තැඹිලි තෙල්වල එක්තරා රසායනික සංයුතියක් තියෙනවා. ඒක සාමාන්‍ය තෙල්වලට වඩා වෙනස්. නියම රන් තැඹිලි පොල් මදය කහ පාටයි. ඒවායේ පොල් කහ පාටයි. දුර්ලභ වර්ගයක් නිසා හොයාගන්න අමාරුයි. ඇස්ස කැපුවම ඇස්ස ලඟ රතු පාටයි. සමහරක් ඒවායේ ඇතුල කැපුවත් කහකඩ රතු පාට නෑ. මේ විදියට විවිධ මට්ටම්වලින් තියෙනවා. රන් තැඹිලි ගෙඩිය ඇතුලේ කහකඩ රතු පාටට මස් කෑල්ලක් වගේ තියේ නම් ඒක තමයි උපරිම මට්ටම. පොල් ගෙඩිය බින්දම පොල් කහ පාටයි. මේ තමයි හොඳම රන් තැඹිලි. නමුත් අද කාලෙ තියෙන මුහුම් වෙච්ච රන් තැඹිලි මේකට යොදාගන්නෙ නෑ. හොඳ රන්තැඹිලි හොයාගන්න අමාරු නිසා තමයි ඒ වෙනුවට ආදේශකයක් හදා ගන්නේ. ඒක තමයි දැන් විස්තර කරන්න යන්නේ. ඒක එවෙලෙම හිඳගන්න පුළුවන් රන් තැඹිලි තෙලක්.

මේ සඳහා පැළ පොල් ගෙඩියේ පහටිය කොටස (යට කොටස) තමයි යොදාගන්නේ. ඉහටිය කොටස යොදාගන්නෙ නෑ. ඒ නිසා පැළපී ගෙඩි නවය ලෙලි ගහල අරගෙන ඒවායේ ඉහටිය කොටස් කපා ඉවත් කර ගන්නවා. පැළපී ගෙඩියේ ගොබය සම්බන්ධ වෙන තැන උලක් වගේ කෑල්ලක් තියෙනවා. ඒකත් සම්පූර්ණයෙන්ම ඉවත් කරනවා. පොල් ගෙඩියේ සම්පූර්ණයෙන්ම උඩ කොටසින් (ඇස්ස පැත්තෙන්) 1/3 ක් විතර ඉවත් කළාම ඒ කොටස ඉවත් වෙනවා. පහටිය පලුවේ ඉතුරු 2/3 තමයි ගන්නේ. මේක හරියටම මනින්න ඕන නෑ. ඇහේ මිම්මට ගත්තම ඇති. පොල් ගෙඩිය බිඳින කොට පහටිය පැත්තෙන් ටිකක් ලොකුවට එන විදියට බිඳගත්තම හරි. මෙතනදී පොල් ගෙඩියේ තියෙන පැළපීයේ (පැළ මදයේ) ඉහටිය කොටසත් ගන්නෙ නෑ. පහටිය පලුවේ ඇතුලේ තියෙන පොල් ටික තමයි ගන්නෙ. හැබැයි පොල් ගෙඩියෙන් ආපු පැළයෙන් පොල් පිති ටික ගලවලා පුංචි සුදු ගොබය (බොඩ කැබැල්ල) වෙනම ගන්නවා වංගෙඩියට දමල කොටා ගන්න. පිටත තියෙන තද කොළ පාට ටික ඉවත් කරනවා. පැළ මදයෙනුත් පහටිය කොටසේ කහ පාටට හුරු පිටපොත්ත පිහියකින් රැහැල තෙල හිඳින කොට දාන්න ගන්නවා. ඉහටිය කොටසේ පොල් බෑයත් පැළපී කොටසත් ඉවත් කරනවා. මේ අනුව එක පොල් ගෙඩියකින් කොටස් තුනක් ගන්නවා. එනම් පැළපී පහටිය පළුව, පැළයේ සුදු ගොබය සහ පොල් බෑයේ පහටිය පළුව. මේ විදියට පොල් ගෙඩි නවයෙන්ම ගන්නවා. මේ තමයි ප්‍රධාන තෙලට ගන්න ටික.

ඒ වගේ කලින් සඳහන් කළ වෙනම පොල් ගෙඩි හයත් අමතරව අරගෙන ඒකෙත් පහටිය පළුවෙන් 2/3 ක් පමණ ගන්නවා. හැබැයි මේ ගෙඩි හයෙන් අමතරව හිඳින තෙලේදි පොල් ගෙඩිවල පැළපී කොටස වත් ගොබය වත් ගන්නෙ නෑ. ඒකට ගන්නේ පහටිය පළුවේ පොල් බෑයවල් හය විතරයි. අර පොල් ගෙඩි නවයෙන් හිඳින ප්‍රධාන තෙල මදි වුනොත් අමතරව දාන්න තමයි මේ පොල් ගෙඩි හයේ තෙල හිඳ ගන්නේ. මොකද මේ තෙල හිඳින කොට බෙහෙත් ද්‍රව්‍යවලට

තෙල උරා ගන්නවා. එතකොට තෙල් ටික මදි වෙනවා. මේ නිසා නියම තෙල් ප්‍රමාණය ගන්න මේකට තව තෙලක් එකතු කරගන්න වෙනවා. ඒ සඳහා පොල් ගෙඩි හයේ පහටිය පළුවෙ තෙල් ටික වෙනම හිඳගන්න ඕන. ඒක අර ගෙඩි නවයේ තෙලට සම්බන්ධ කරන්නෙ නෑ. මේ අමතර තෙල ප්‍රධාන තෙල හිඳින කොට තමයි එකතු කරන්නෙ. මේ නිසා පළමුවෙන්ම පොල් ගෙඩි හයෙන් අමතර තෙල හිඳගෙන තබා ගන්නවා.

මේ පොල් ගෙඩි හයේම 2/3 ක් පහටිය පළුව ගා ගන්නවා. ඒ වගේම පහටිය පළුවේ පැළ මදය හා පොල් බෑය අතර එළඟිතෙල් වගේ හැදිල තියෙන කොටසත් පොල් ටිකත් එක්කම හූරල ගන්නවා. පැළ පී කොටස අයින් කරනවා. මේ සියලු පොල් ගා ගැනීම සඳහා මෝරපු පුවක් හෝ කිතුල්වලින් හදපු පැතලි පතුරක් (පත්තක්) අග තුනී කර දැති කපා සකස් කර ගෙන, යමකට තද කරගෙන හිරමනය ලෙස ගත යුතුයි. යකඩ තල මිශ්‍ර උපකරණවලින් කැපීම් ගෑම් ආදිය හැකි තරම් අඩු කළ යුතුයි.

ඊළඟට අමු කහ හොඳට අඹරල අරගෙන ජිල් බෝලයක් තරම් ප්‍රමාණයට ගුලි හයක් හදාගන්නවා. ඉන්පසු ඇතුලෙ කුරුම්බා හැදිල නැති (අතගාල බලන කොට කුරුම්බැට්ටිය ඇතුලේ සෙවෙල තියෙන්න බෑ) වතුර තියෙන කුරුම්බැට්ටි හයක් අරගෙන ඒ හයේම වතුරෙන් අර කහ ගුලි හයම එකට දිය කරගන්නවා. පොල් බෑ හය වතුර නැතිව මිරික ගන්න අවශ්‍ය රසායනය තමයි මේ හැදුවේ. මේ විදිහට දිය කරගත් ද්‍රාවණයෙන් අර පොල් බෑයවල් හයේ පොල් ටික මිරික ගන්නවා. ඒ ද්‍රාවණය මදි වුනොත් විතරක් උණු වතුර ටිකක් දාලා අමතරව මිරික ගන්න පුළුවන්. ඒකත් මිශ්‍රණයටම එකතු කරගන්නවා. දැන් මේ හදාගත්ත කිරි ටික ලොකු මැටි ඇතිලියකට දාලා වෙනම හිඳගෙන තෙල් ටික පරිස්සම් කරල තියා ගන්නවා. තෙල් බෝතල් බාගයක් විතර මේකෙන් ගන්න පුළුවන්. මේ තෙල් ටික තමයි ප්‍රධාන බෙහෙත් තෙල හින්දවන කොට ඇතිලියට වැඩි පුර එකතු කරන්නේ. නැත්නම් තෙල් මදි වෙනවා.

ඊළඟට අර ප්‍රධාන තෙල හදන්න ගන්න පොල් ගෙඩි නවයෙත් අර වගේ 2/3 ක් ලොකුවට බිඳගත් පහටිය පළුවලින් පොල් ගාගෙන (පොල් බෑයේ ඇතුලෙ තියෙන එළඟිතෙල් වැනි කොටසත් සමග), අමු කහවලින් ජිල් බෝල වගේ කහ ගුලි නවයක් හදා ගෙන ඒකත් කුරුම්බ නැති බැට්ටි ගෙඩි නවයක වතුරෙන් දිය කරගෙන, ඒ ද්‍රාවණයෙන් අර පොල් ගෙඩි නවයේ පහටිය බෑයවල්වල පොල් ටික මිරික ගන්නවා. ඒ කිරි ටිකත් වෙනම පෙරා ගන්නවා. ඒකත් මදි නම් පෙරා ගත්තට පස්සෙ අමතරව වෙනම උණු වතුර ටිකක් දාලා මිරික ගන්න පුළුවන්. මේ කිරි ටික තමයි මූලික වශයෙන් ප්‍රධාන තෙල හිඳගන්න දාන්නේ. හැබැයි මේ පොල් ගෙඩි නවයෙන් අර ගෙඩි හයේ වගේ වෙනම තෙල හිඳ ගන්නෙ නෑ. ඒක අර විදිහට මිරිකල අරගෙන තෙල් හිඳින්නෙ නැතිව කිරි ටික වෙනම අරගෙන තියනවා.

දැන් අර භාණ්ඩ ලැයිස්තුවේ ඉතිරි ද්‍රව්‍ය ටික හිම්හිට කොටා ගන්නවා. ඒ සඳහා ගල් වංගෙඩියක් පාවිච්චි කරන්න පුළුවන්නම් වඩා හොඳයි. මොකද ගල් වංගෙඩියට බෙත් වර්ග උරන්නෙ නැති නිසා. ඒ වගේම විල්ල නැති මෝල් ගහක් තමයි කොටන්න පාවිච්චි කරන්නේ. මොකද විල්ල තිබුනොත් යකඩත් එක්ක රසායනයන් ඇති වෙන්න පුළුවන්. මේ නිසා විල්ල තියෙන මෝල් ගහක් වුනත් විල්ල නැති පැත්තෙන් කෙටුවට කමක් නෑ.



වට්ටක්කා ඇට ගන්නෙ මහ වට්ටක්කා (සිංහල වට්ටක්කා) කියන ස්වභාවික වට්ටක්කවලින් විතරයි. ජාන තාක්ෂණයෙන් හදාගත්තු ඒවා ගන්නෙ නෑ. ඒවගේ මෝරපු වට්ටක්ක ගෙඩියක, සාමාන්‍ය කෙනෙකුගෙ අතට අහුවෙනව වගේ පොතු ඇරපු වට්ටක්ක ඇට මද මිටවල් හයක් ගන්නවා. දැන් ඒක වංගෙඩියෙ දාල ලාටු වගේ වෙනකල් කොටා ගන්නවා. එහෙම නැත්නම් අනෙක් බෙහෙත් වර්ග දැම්මට පස්සෙ වට්ටක්කා ඇට මද නොකෙටී නිකන් පැන පැන තියෙන්න පුළුවන්. ඒ නිසා මෙහෙම කොටල වටේට මෝල් ගහ කරකවනවා. එතකොට ඒක මෘදු ගුලියක් වගේ හැදෙනවා.

දැන් ඒ වට්ටක්කා ගුලිය වංගෙඩිය ඇතුලෙ තියෙද්දී කොහිල ටික එකතු කරගන්නවා. කොහිල ගන්න කොට මහ කොහිල අලයෙන් අතු බෙදිල යන රිකිලි කොටසකුත් තියෙනවා. අන්න ඒ රිකිලි අල තමයි මෙතනදී ගන්නෙ. මහ අලය ගන්නෙ නෑ. ඒ රිකිලි අල මුල් එක්කමයි කපල ගන්න ඕන. ඒ නිසා අලය ගලවන කොට මුල් ටිකත් එක්ක ඇදල ගන්න ඕන. මෙතනදී එක්තරා මට්ටමකට (සාමාන්‍යයෙන් අඟල් හයක් පමණ දිගට) මුල් අහුවෙන්න තිබුනම ඇති. මේක අරගෙන අතු බෙදිල ගිය රිකිලිවල තියෙන ඉවතට විහිදිච්ච කොල ටික විතරක් කඩල ඉවත් කරනවා. දඬු ටික ඉතිරි කරනවා. දැන් මේ කොහිල කරටි හයත් කටු අරින්නේ නැතිව සෝදා ගත යුතුයි. ඒ කියන්නේ මුල්, අල, කටු, දඬු ඔක්කොම තියෙද්දී මඩ යන්න සෝදා ගන්නවා. ඊළඟට මේ කොහිල කරටි හයත් කටුත් එක්කම කැලිවලට කපා ගන්නවා. කොහිල කරටි කපන කොට එන කොහිල නූල් ටික වෙනම ඔතා ගන්නවා. පිහියෙන් (සුදු යකඩ පිහියක් නම් වඩා හොඳයි) කපන කොට වට රවුමක් යන කොට ඒ පිහියට එන නූල්, ගුලියක් වගේ වෙනම ඇදල තබා ගන්නවා. මෙතනදී හරියට ප්‍රමාණයක් ඕන නෑ. ඒ වගේ ලැබිච්ච නූල් ටික ප්‍රධාන තෙල් ඇතිලියට දාන්න වෙනම පැත්තකින් තියා ගන්නවා. දැන් අර කපා ගත් කොහිල කරටි හයත් වංගෙඩියට දමල කොටනවා.

ඊළඟට තුරු ගොලෑ පුවක් ගෙඩි 12 ගන්නවා. මේකත් ගන්න ක්‍රමයක් තියෙනවා. පුවක් ගෙඩියේ ලෙල්ල බාගයක් ඉවත් කළාම ඇතුලේ තියන ගෙඩියට ඇඟිල්ල තියන කොට ඒක එබෙන්න ඕන. ඒ මට්ටමේ තුරු පුවක් කියන්නෙ හොඳටම ගොලෑ කියන එකයි. ඒ තරම්ම මෘදුයි. මෙන්න මේ මට්ටමේ ගොලෑ පුවක් ගෙඩි දොළහක ලෙලි ඉවත් කරල ගෙඩි ටික අර වංගෙඩියට දාලා ඔක්කොම එකට කොටනවා.

ඊළඟට නිදිකුම්බා මල් ගන්න ඕන, අපි ස්වභාවිකව දකින කටු නිදිකුම්බ වලින්. (ස්පර්ශ වුනාම කොල හැකිලිලා යන) ඒවායේ මල් කඩල ගත්තට පස්සෙ අතට එන මල් අහුරු දොළහක් සහ නිදිකුම්බ මුල් අහුරු දොළහක් ගත යුතුයි. මෙතනදී නිදිකුම්බ මුල් හෝදල කපා ගත්තට පස්සෙ එන කැබලිවලින් තමයි අහුරු දොළහක් හදාගන්නෙ. මේ ටිකත් අර වංගෙඩියට දාලා කොටා ගන්නවා.

ඊළඟට පොලොස් ගැට ගන්න කොට වරක ගහක පොලොස් ගැට තමයි ගන්න ඕන. එතනදී කොස් ගැට පලාමඳුලෙන් එලියට ඇවිත් ටිකක් ලොකු වෙන අවස්ථාවක් තියෙනවා. ☞

එහෙම ලොකු වෙලා සාමාන්‍යයෙන් අතක් මිට මෙලෙව්වාම එන ප්‍රමාණයට ලොකු වෙන අවස්ථාවක් තියෙනවා. ඒ ගැට දිහා බැලුවම පුංචි රේනු ටිකක් එලියට ඇවිත් තියෙනවා. තවත් ටිකක් බලන කොට රේනු එලියට ඇවිත් යන්තම් මෝරලා මැලවිලා ගිය ගෙඩි තියෙනවා. ඒ මට්ටමේ තිබුනත් රිකිලි තවමත් ගැලවිලා අහකට ගිහින් නෑ. මේ වගේ අවස්ථාවක අතේ මිට මෙලෙව්වම දෙගුණයක් තරම් වන ගෙඩි හයක් කඩා ගත යුතුයි. ඒවායෙත් පහටිය පළුවෙන් 2/3 ක් වෙන් කරගන්නවා. ඉහටිය පළුව ඉවත් කරනවා (මේක වැරැද්දුවොත් තෙලේ බලය නැති වෙනවා). මෙතනදීත් සාමාන්‍යයෙන් ඇහේ මිම්මෙන් 2/3 ක් වෙන්න කපා ගත්තම ප්‍රමාණවත්. කෙස් ගහටම ඕන නෑ. දැන් මේ පොලොස් ගැටවල පහටිය පලු හීනියට කපා ගෙන වංගෙඩියට දාල කොටනවා. වංගෙඩියේ ඉඩ මදි නම් කොටසක් කොටලා ඒ ටික අරන් තියල නැවතත් ඉතිරි ටික කොටන්නත් පුළුවන්.

ඊළඟට ඉරමුසු ගස් සම්පූර්ණයෙන්ම මුලත් එක්කයි ගන්න ඕන. ඒකත් හෝදගෙන කැලි කපලා අර වගේම අතින් මිට මොලවාගත් අහුරු දොළහක් ගන්නවා. මේක වෙනම කෙටුවොත් තමයි වඩා හොඳ. මොකද පොළොස් ගැටත් එක්ක එකට කෙටුවොත් ඉරමුසු ටික කෙටෙන්නෙ නැතිව එහාට මෙහාට පනින්න පුළුවන්. මේ නිසා හොඳට කෙටෙන්න ඕන.

ඊළඟට අළු කෙසෙල් මොටොයියො ගන්න කොට උඩට කඳ ආපු ඒවා නෙවෙයි ගන්නේ. පොඩි මොටෙයියන් හයක් උගුල්ල ගන්නවා. මුල් අවශ්‍ය නෑ. අලය විතරයි ගන්නෙ. කඳ කැලිත් ඉවත් කරනවා. දැන් ඒ අල අර විදිහට හෝද ගෙන කැලිවලට කපල වංගෙඩියෙ දාල කොටා ගන්නවා.

ඊළඟට සාමාන්‍ය මට්ටිමේ කෝමාරිකා පිති නවයක් කැලි කපලා අරගෙන කොටා ගන්නවා.

ඊළඟට අර පැල පොල් දොළහෙන් වෙන් කරගත් (පිට ලෙල්ල ඉවත් කරල) පැළපී ගෙඩිවල (පැළ මදයේ) පහටිය පළුවලින් 2/3 ක කොටසේ වට රවුමේ තියෙන කහ පාටට හුරු දාර ටික වෙනම පොඩි පිහියකින් රහිනවා (අහිනවා). ඒක වෙනම තෙල් ඇතිලියට දාන්න තියාගන්නවා. පහටිය පලුවල ඉතිරි වන සුදු පැළ පී මද කොටස් ටික වංගෙඩියට දාල කොටා ගන්නවා.

ඊළඟට වෙලිච්ච කහ ග්‍රෑම් 100 ත් අරගෙන හීනියට කපල කුඩු කරගෙන ඒකත් වංගෙඩියට දාල කොටනවා.

මෙතනදී කඩවල්වල විකුණන්න තියෙන කහ කුඩු ගන්න එක පහසුවක් වුණත් ඒවාට නොයෙක් රසායන ද්‍රව්‍ය මිශ්‍ර කරල තියෙන නිසා මේකට යොදාගන්නෙ නෑ. මේ නිසා වියලි කහ අරගෙන තමන්ම හදාගන්න එක තමයි වඩා හොඳ.

ඊළඟට අර පොල් ගෙඩි නවයෙන් ඉවත් කරපු එලියට ආපු පැලවල කොල පාට කොටසක් තියෙනවා. ඒක රැහැල ඉතිරි වන සුදු ගොබ අරගෙන ඒකත් කැලි කපල කොටල ගන්නවා. දැන් මේ ද්‍රව්‍ය මේ කියන අනු පිළිවෙලටම කොටන්න ඕන නෑ, පහසුවෙන් කෙටෙන ක්‍රමයට දාගන්න පුළුවන්. ඒ වගේම මෙහෙම එකට කොටන කොට වංගෙඩියේ ඉඩ මදිනම් ඒවා වෙන වෙනම කොටා ගෙන පස්සෙ එකට කලවම් කරගත්තත් කමක් නෑ. ඒ වගේම පුළුවන් හැම අවස්ථාවකදීම පිහියෙන් කපන ජාති කපන්නෙ නැතිව තලා ගන්න පුළුවන් නම් වඩා හොඳයි. පිහියක් පාවිච්චි කරනව නම් සුදු යකඩ පිහියක් පාවිච්චි කිරීම වඩා සුදුසුයි.



ඊළඟ වැදගත් කාරණය තමයි මේ විවිධ ද්‍රව්‍ය සැකසූ පසු ඒවායේ ඉතිරි වන රොඩු බොඩු ආදී සියල්ලම සතෙකුටවත් කන්න බැරි වෙන්න වළ දමා ගත යුතුයි. මොකද ඒක ඉඳුල් වෙන්න හොඳ නෑ.

දැන් මේ විදියට ඔක්කොම ගැලපෙන ප්‍රමාණයට කොටා ගෙන ඒ සියල්ලම එකට උණුවතුරෙන් මිරික ගෙන ඉස්ම ටික පෙරා ගන්නවා. (උණු වතුර සුදුසු ප්‍රමාණයක් එකතු කරන්න පුළුවන්. වැඩි ටික හින්දව ගන්න නිසා වතුර ටිකක් වැඩි වුනාට කමක් නෑ.) ඒකට අර කලින් හදපු පොල් ගෙඩි නවයේ කිරි ටිකත් එකතු කරගන්නවා. මෙතනදී තෙල හිඳගන්න පෙර, බෙහෙත් වංගෙඩියට කොටසකුත් තෙල් ඇතිලියට වෙනම තෙල හිඳින කොට දාන්න කොටසකුත් ලෙස කොටස් දෙකක් වෙන්කර ගත්තා. වංගෙඩියේ දාල කොටන ද්‍රව්‍ය තමයි මේ විස්තර කළේ. දැන් මේ කියපු මිශ්‍රණය ලොකු මැටි මුට්ටියකට දාලා ලිපේ තියල සාමාන්‍ය ගින්දරකින් හිඳ ගන්නවා. හැබැයි අද කාලෙ ගෑස් ලිප්වල තියන්න ගන්න අලුත් වළං විශේෂයක් තියෙනවා. ඒවා ගන්නෙ නෑ. සාමාන්‍ය සිංහල වළං තමයි ගන්නෙ.

ඒ වගේම මෙහිදී දර ලිපක්මයි පාවිච්චි කරන්න ඕන. ගෑස් ලිප් පාවිච්චි කරන්නෙ නෑ. ඒ වගේම පාවිච්චි කරන දර කුරුඳු දර හෝ හඳුන් දර හෝ රන් තැඹිලි පොල් පිති හනසු හෝ එහෙම නැත්නම් මේවායේ මිශ්‍රණයක් විය යුතුයි. වෙනත් දර වර්ග යොදාගන්නෙ නෑ. කුරුඳු දර නම් හොයාගන්න ලේසියි. ඒවා හොඳට වේලල අරගෙන කැල්ලෙන් කැල්ල දාලා ගින්දර පාලනය කරගෙන ලිප හදාගන්නවා. මෙහෙම ගින්දර පාලනය කරමින් තෙල හිඳින කොට තෙල් මතු වෙන්න කිට්ටු වෙලාවක් එනවා. වතුර ටික ටික හිඳිලා ගිහින් ඒ වෙලාව තේරෙන්න පටන් ගන්නවා. පට පට ගාලා බුබුලු එන වෙලාවක් තියෙනවා. ඒ තමයි තෙල හිඳෙන්න පටන් ගන්න ආරම්භ වීම. මෙතනදී ලොකු කුරුඳු ලීයකින් පත්තක් හදාගෙන ඒකෙන් කලවම් කරනවා. ඒත් එක්කම ගින්දර ටික ටික අඩු කරනවා. ඊළඟට මුට්ටිය බා ගන්නවා. එහෙම නැත්නම් ලිපේ ගින්දර නිවලා තෙල ලොකු ඇතිලියකට මාරු කර ගන්නවා.

දැන් ඊළඟට තියෙන්නේ ලොකු ඇතිලියේ තෙල හිඳින අවස්ථාව. මේකට අර කලින් අමතර තෙල හිඳගන්න යොදාගත් ලොකු මැටි ඇතිලියම ගන්න ඕන. මොකද අලුත් එකක් ගත්තොත් තවත් තෙල් ඒකට උරාගන්න පුළුවන් නිසා. අනිත් කාරණය තෙල හිඳෙන කොට ඉවතට පනින්න බලනවා. එහෙම වුනොත් තෙල් කොටසක් අපතෙ යන්න පුළුවන්. ඒ නිසා තමයි ලොකු ඇතිලියක් ගන්නේ. දැන් ඒ ලොකු ඇතිලිය ලිපේ තියල ඒකට අර මුට්ටියෙන් බාගත් තෙල ඔක්කොම එකතු කරනවා. මේ අවස්ථාවේදී අපි වෙනම තබාගත් ද්‍රව්‍යත් මේකට එකතු කරනවා. එකක් තමයි මදන මෝදකය. ඒ කාලෙ සමාධියට ආපු එකක් තමයි මොරවක මදන මෝදකය. මොකද ඒකෙ අවශ්‍ය කරන ඖෂධය තියෙනවා. දැන් ඒක හොයාගන්න නැත්නම් හොඳ මදන මෝදක ආයුර්වේදයෙන් ගත්තම ප්‍රමාණවත්. ඒ වගේ මදන මෝදක ගුලි හයක් පොල් අරක්කු මේස හැඳි නවයක දිය කරගෙන මේ ඇතිලියට දාගන්නවා. මේ අවස්ථාවේදී කලින් පොල් ගෙඩි 6 න් ලබාගත් අමතර තෙල් ටිකත් මේකට එකතු කරනවා. ඊළඟට දිග පළල අඟලේ අඟලේ ප්‍රමාණයට ගත් රත්රන් කොල කැල්ලත් මේකට දානවා. ඒ රන් පත්‍රය තුනී වුනාට කමක් නෑ. ඊට අමතරව කලින් අයින් කර තබා ගත් කොහිල නූල් ටිකත්, ගෙඩි නවයේ පැළ පීවල පහටිය පලුවලින්

පිටින් රැහැගත් කොටසත් අඹරල එකතු කරනවා.

දැන් තමයි හිමින් හිමින් පාලනය කරමින් පදම ගන්න අවස්ථාව. මේක ක්‍රමයෙන් පට පට ගාල පුපුරන්න පටන් ගන්නවා. මේ අවස්ථාවේදී පිපිච්ච නෙළුම් මලේ ප්‍රමාණයට වැඩි නොවන විදියට පාලනය කරමින් ගින්දර දිය යුතුයි. හදිස්සියේ ගින්දර ටිකක් වැඩි කරගන්න ඕන වුනොත් රන් තැඹිලි හනසු යොදාගන්න පුළුවන්. ගින්දර අඩු කරන්න ඕන වෙනකොට ඒවා ආපසු ඇදල ගන්නවා. එහෙම නැත්නම් කුරුඳු දරවලින්ම පාලනය කරන්න පුළුවන්. මේ විදිහට පදම බලාගෙන හිඳිනවා. මෙහෙම යන කොට පට පට ගාන සද්දෙ අඩුවෙලා තෙල් කා පේන්න පටන් ගන්නවා. දැන් මේ තෙල් කාවල පදම බලා ගන්න ක්‍රමයකුත් තියෙනවා. ඇතිලිය පොඩ්ඩක් එක එක පැත්තට හරවන කොට තෙල් කා හයි වෙලා තියේ නම්, තෙතමනය අඩුවෙලා තියේ නම්, තෙල් කා පැත්තෙන් පැත්තට ගලාගෙන යන්නෙ නෑ. එතකොට තෙල් කා ටික නැවතිලා තෙල විතරක් ගලාගෙන යනවා. දැන් මේ විදියට මේ තෙල් කා කරවෙන වෙලාවෙදි මුලින්ම වතුර හිඳෙන කොට තමයි අපට අවශ්‍ය පදම එන්නේ. මේ පදමට මුදු පාකය කියල කියනවා. මේ විදිහට පාක වර්ග හතරක් තියෙනවා. ඒවත් දැන ගෙන ඉන්න එක හොඳයි.

තෙල් පදම් ගැනීම තමයි පාක කියන්නේ. ඒක තෙල් හිඳින අය දන්නවා. මමත් ඒකාලෙ ඕක දැන ගෙන හිටියෙ නෑ. සමාධියට තමයි ආවේ. මුදුවේ ගල වැහෙන පදමට හිඳගන්න කියල තමයි සමාධියෙන් ආවේ. ඒක තමයි මුදු පාකය. මේ තමයි පළමු වන පාක අවස්ථාව. ඒක දැනගන්නත් ක්‍රමයක් තියෙනවා. මේ අවස්ථාවේදී තෙල හිඳිල තිබුනත් තවම කර කර ගාල බුබුලු දානවා. අරගෙන බැලුවොත් තෙල් කාවල තව වතුර ටිකක් තියෙනවා. ඒ කියන්නේ තෙල් කා කරවෙලා නෑ. ඒක හොයා ගන්නෙ මෙහෙමයි. පොල් කොල කෑල්ලක් අරගෙන ඒක පෙත්ත ගහලා ඒක දාල අර තෙල් කාවලින් ටිකක් අරගෙන ගින්දරට ඇල්ලුවම පත්තු වෙන්නෙ නැතුව චිරි චිරි ගානවා. ඒ වතුර තියෙන නිසා. හැබැයි එතකොට තෙල හොඳට හැදිලා. මේ අවස්ථාවේදී තමයි ගින්දර ඇදල බාගන්නේ. ඒ තමයි මුදු පාක අවස්ථාව. මේ අවස්ථාවේදී ගින්දර වැඩි කළොත් තෙල් කා කරවෙලා ගුණය නැති වෙනවා. මේ නිසා පදම ගන්න කොට බොහොම පරිස්සම් වෙන්න ඕන. දැන් අර විදිහට පොල් කොල කෑල්ලකින් තෙල් කා ටිකක් අරගෙන නිවෙන්න හරිනවා. හැබැයි නිවෙන්න කියල කටින් පිඹින්නෙ නෑ. මොකද එතකොට ජල වාෂ්ප ගිහින් සංයුතිය වෙනස් වෙනවා. මේ නිසා ස්වභාවිකව නිවුනට පස්සෙ අතින් අල්ලලා පොඩි කරල අඹරල බලන කොට ලාටු වගේ තියෙනව නම් තවම පදම ඇවිත් නෑ. ලාටු වගේ අතේ ඇලෙන්නෙ නැතිව හිමින් ඇඟිලි දෙකෙන් එහා මෙහා කරන කොට ඒක වෙළුව වගේ ඇඹරෙන්න පටන් ගන්නවා. මේ වෙළු පදමට එනකොට (ලිපට ඇල්ලුවොත් චිරි චිරි ගානවා) වතුර තියෙනවා. වතුර හිඳෙනකල් තියන්නෙත් නෑ. මේ අවස්ථාවේදි තමයි බාගන්නේ. වෙළු පදම තමයි මුදු පාකයේ උපරිම අවස්ථාව.

මීට වඩා එහාට ගියොත් අපට අවශ්‍ය බෙහෙත් ඖෂධ ශක්තිය පිච්චෙනවා. එතනින් පස්සෙ එන පාකයන් ගන්නේ විවිධ තෙල් වර්ගවලට. ඊළඟට තියෙන්නෙ සම පාකය. ඒ වෙලාවෙදි තෙල රස්නෙ නෑ, ගින්දර දාල තියෙන තෙලට අත දාන්න පුළුවන් අවස්ථාවක්. තෙල් කා අතරින් රස්නෙ එන්නෙ නැති මට්ටමක් තමයි මේ. ඊටත් පසුව තියෙන්නේ මයුර පාකය. ඒ කියන්නේ තෙල් බිංදු විසිරෙන පදම. හරියට මොනර පිලේ වර්ණ වගේ තැනින් තැන තෙල් බිංදු දමන වෙලාව. අවසානයට තමයි කර පාකය එන්නේ. තෙල් කා හොඳටම කර වෙලා ඊට පස්සෙ දුම් දමනවා. මේවා තුවාල තෙල්වලට තමයි ගන්නේ. මේ අවස්ථාවන් ගැන තෙල් හිඳින අය කියන්නෙ නෑ. ඒවා හංග ගෙන ගුරු මුෂ්ටි වශයෙන් තියාගෙන ඉන්නවා. ඒ අය බලලා වැඩේ කරල දෙනව මිසක් ඒවා කියන්න යන්නෙ නෑ. නමුත් පශ්චිම ජනතාවගේ යහපත පිණිස මේවා කියන්න වෙනවා. ඊළඟට තෙල බාන කල් රන් කැබැල්ල ඉවත් කරන්නෙ නෑ. බොහෝ විට ඒක තෙලට දිය වෙනවා. ඉතිරි වෙලා තියෙනව නම් බාගත්තට පසු තෙල් බෝතලයට ඒක දමා තබා ගත යුතුයි.

දැන් එතකොට මේ රක්තවාත තෙලට අවශ්‍ය ඖෂධ ශක්තිය ගන්න නම් මුදු පාකය තමයි ඕන වෙන්නේ. මේ නිසා දැන් නැවතත් බලමු හරියටම මුදු පාක අවස්ථාවේදී තෙල බා ගන්න විදිහ. මේ අවස්ථාවේ හොඳට තෙල වෙන් කරගන්න පුළුවන්. අර කලින් කිව්ව වගේ තෙල් කා ඉතිරි වෙලා තෙල් ටික ගලාගෙන එනවා. මේ අවස්ථාවේදී ගින්දර වැඩි කරල බෑ. මේකට හොඳ පුරුද්දක් අත්දැකීමක් තියෙන්න ඕන. නිකන් බේතක් හදනවා වගේ නෙවෙයි. ඒ නිසයි හුඟක් විස්තර කරන්න වෙලා තියෙන්නෙ. මේ අවස්ථාවේදි යටින් තෙල් කා මණ්ඩියත් වෙනම තෙලත් පේන්න පටන් ගන්නවා. ඒ වුනත් ගන්න හදන කොට තෙල් කා වැක්කෙරෙනව නම් දැන්ම ගන්න බෑ. තෙල් කා හයි වෙන්න ඕන. මේකට ගින්දර හුඟක් අඩු කරල සෑහෙන්න වෙලාවක් බලා ගෙන ඉන්න වෙනවා. නැත්නම් මුදු පාකයෙන් ඉක්මනට සම පාකයට පනිනවා. ඒ නිසා ගින්දර පාලනය ඉතා ඉවසිලිවන්තව කළ යුතුයි. හදිස්සියට කරන්න බෑ. තෙල් කා ටික ගලාගෙන එන්නෙ නැති මට්ටම කියන්නේ මුදු පාකයේ උපරිම අවස්ථාව. මේ මට්ටමට ආවට පස්සෙ හිමින් සීරුවේ ගින්දර ඇදල නිවෙන්න හරිනවා. නිවුනට පස්සෙ තමයි තෙල් ටික පෙරා ගන්නේ. නැත්නම් තෙල් කාත් එන්න බලනවා.

දැන් තෙල් ටික බාලා නිවෙන්න හැරලා පෙරා ගන්නවා. මේ විදිහට පෙරා ගත්තු ශුද්ධ තෙල වෙනම තියනවා. ඉතුරු වෙන තෙල් කා ටික අරගෙන පොට්ටනියකට දාලා වෙනම මිරික ගන්න පුළුවන්. හැබැයි ඒ ටික අර ශුද්ධ තෙල් ටිකට එකතු නොකර වෙනම තියා ගන්නවා. තෙල් කාවලින් ගත් තෙල හදිස්සියකට තුවාලවලට ගාන්න හොඳයි. හොඳ ශුද්ධ තෙල වෙනම තියා ගන්නවා. ඒවගේම මේ තෙල් රවුම් බෝතල්වල දාන්නෙ නෑ. පැති හතරක් තියෙන හතරැස් බෝතල්වල හෝ පැතලි බෝතලයක තමයි දාන්නේ. මොකද රවුම් බෝතලයක දැම්මම විශ්වයේ කිරණ එක්ක සම්බන්ධ වෙලා ආකර්ශණය වෙනස් වීමක් වෙනවා.

මේ බේතෙන් ඕනෑම ලොකු රක්තවාත ලෙඩෙකුට අවුන්ස එකහාමාරක් දුන්නම හොඳටම ප්‍රමාණවත්. (බෝතලයක තියෙන්නේ අවුන්ස විසි හතරයි). ඒක දවස් හතරකට හොඳටම ප්‍රමාණවත්. අර පසුගිය කලාපයෙන් සඳහන් කළා වගේ ඒ ටිකෙන් තවලා ලේ ඇරගන්නත් පුළුවන්, නැත්නම් තුවාල තෙමන්න යොදා ගන්නත් පුළුවන්.

ලේ අර්ශස් හෝ ගෙඩි අර්ශස් නම් පොඩි සිරිංජයක කටුව ඉවත් කරල මේ තෙල් ටිකක් පුරවගෙන (තේ හැන්දක් පමණ) ඒක ඇතුල් කළාම ඒ තෙල අවශෝෂණය කර ගන්නවා. එතැනින් විස රත් පිත මළ අපද්‍රව්‍යත් සමග පිටවෙනවා. ඒ විදියට දවසට දෙවතාවක් දින 4 ක් පමණ කළාම රෝගය නිට්ටාවට සනීප වෙනවා. අතක හෝ කකුලක දද කුෂ්ඨ හෝ බිබිලි වගේ තුවාල ආදියක් ඇත්නම් උදේ හවස මේ තෙල් ටිකක් යාන්තමට උඩින් ගෑවම ලාටු වගේ හැදිල බලා සිටිද්දී තුවාල පොත්ත ලොකු වෙනවා. ඒක ගලවන්නෙ නෑ. ඒක තමයි බෙහෙත් ප්ලාස්ටරය වගේ තියෙන්නෙ. ඒ උඩින් තෙල් ටිකක් උදේ හවස දින හතරක් පහක් පමණ ගානකොට තුවාලය හොඳ වෙලා පොත්ත නිකන්ම ගැලවෙනවා. මුළු රක්තවාත විසම ඉවත් වෙනවා.

මේ තෙලට හරි පුදුමාකාර බලයක් තියෙනවා. අතින් ඇල්ලුවම ලාටු වගෙයි හරි හයියයි. ඇන්ජින් තෙල් වගෙයි. ගෑවොත් විහිදිලා යනවා. ලිස්සනවා. ඒ වගේම සෑහෙන කාලයක් තියාගන්න පුළුවන්, මොකුත් වෙන්නෙ නෑ.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මිනී අළුවලින් කරන කොඩිවිනවලින් ලෙඩ රෝග කරදර ඇති වෙන හැටි

*(පසුගිය කලාපයෙන් - වෛද්‍ය විද්‍යාවට හසු නොවූ අමනුස්ස හා කර්මජ රෝග)*

**වෛද්‍ය** විද්‍යාවට හසු නොවූ ලෙඩ රෝග හටගන්නා තවත් ක්‍රමවේදයක් තමයි මේ පෙන්වා දෙන්න උත්සාහ කරන්නේ. අපේ සමාජයේ යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම්, කට්ටඩිකම් කරන උදවිය අනාදිමත් කාලයක පටන් ඒ වැඩ කටයුතු කරගෙන යන බව රහසක් නෙවෙයි. පෙර කාලයේ පාණ්ඩ්‍ය රටින් ආපු ආඬි පරම්පරාව තමයි මේ වගේ යන්ත්‍ර මන්ත්‍ර කළේ. ඒ අය හුඟක් කට්ටයි. ඒ නිසා මිනිස්සු ඒ අයට කට්ට + ආඬි - කට්ටඩි කියල හැඳින්නුවා. ආඬි හත් දෙනාගේ කැඳ හැලිය කියන්නෙත් මේ වගේ කට්ට වැඩක් මුල් කරගෙන කරපු සිද්ධියක් නිසා. කොහොම හරි මේ යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම්වල යම්කිසි හොඳ පැත්තක් තිබුනත්, විශේෂයෙන් අද වෙනකොට ඒ හොඳ පැත්තට වඩා නරක පැත්ත යොදාගෙන අසත්පුරුෂකම් කරමින් තමන්ගේ පැවැත්ම තහවුරු කරගන්න උත්සාහ කරන පිරිස වැඩි වෙලා තියෙනවා. ලංකාව වගේ රටක මේ පැත්ත විශ්වාස කරන පිරිසත්, ඒ කටයුතුවල නියැලෙන පිරිසත් සැලකිය යුතු ප්‍රමාණයකින් හිටියත්, මේවායේ විද්‍යාත්මක පැත්ත හෝ භයානක පැත්ත දැනගෙන නෙවෙයි ඒවා සිද්ධ කරන්නේ. මේකත් බොහොම පුළුල් විෂය ක්ෂේත්‍රයක් නිසා මූලධර්මයන් දැනගන්න, අත්‍යවශ්‍ය කරුණු කාරණා කීපයක් පමණයි ඉදිරිපත් කරන්නේ.

තමන් එක්ක අමනාප හෝ තමන්ට සතුරුකම් කරපු පුද්ගලයෙකුගෙන් පලිගන්න, එහෙමත් නැත්නම් කෙනෙකුගේ දියුණුවක් දැකල ඉරිසියාවට ඒක දරා ගන්න බැරි ඇතැම් පුද්ගලයින්, ඒ අයගේ ආත්ම ලාබය තකා අනෙකාට අනවින කොඩිවින කරන්න පෙළඹෙනවා. ගාණක් දුන්නොත් ඒවා කරන්න සැදී පැහැදී ඉන්න යන්ත්‍ර මන්ත්‍ර කරුවොත් අපේ සමාජයේ අඩු නැතුව ඉන්නවා. මෙතනදී යොදා ගන්නා එක්තරා මූලාශ්‍රයක් තමයි මිනී අළු. මේ මිනී අළු යොදාගෙන කරන කොඩිවිනවලදී අපට නොපෙනෙන පැත්තක් ක්‍රියාත්මක වෙනවා. ඒ නොපෙනෙන පැත්ත පළමුවෙන්ම දැනගෙන ඉඳීම හොඳයි. මොකද කෙනෙකුට ප්‍රශ්නයක් මතුවෙන්න පුළුවන්, මේ වගේ කටයුතුවලදී හරක්, බලු, බළල්... ආදී තිරිසන් සතුන්ගේ අළු යොදා නොගෙන මිනී අළුම ගන්නේ ඇයි කියල.

**සිහි කල්පනාව ඇතිව කතා කරන්න, වැඩ කරන්න පුළුවන් ප්‍රයෝග සම්පත්තියක් තියෙන්නේ මනුස්සයින්ට. ඒක සතුන්ට නෑ. මේ වගේ ප්‍රයෝග සම්පත්තිය නිසා මනුස්සයාගේ ශක්ති විශේෂ අංශු වශයෙන්, පරමාණු වශයෙන් ඒ මිනී අළුවල පිහිටනවා.** එතකොට ඒ මිනී



අළු යම්කිසි මන්ත්‍ර බලයකින් බලගන්වන්න (ජීවම් කරන්න) පුළුවන්, ඒවායේ තියෙන ශක්තිය කුද්දන්න එහෙමත් නැත්නම් උද්දීපනය කරන්න. එතකොට ඒ **මියගිය කෙනාගේ යම්කිසි ගති ලක්ෂණයක් තිබුනනම් ඒක අර මිනී අළුවලින් මතු කරන්න පුළුවන්.** හරියට පරිගණකයක් වගේ. මිනී අළුවල තියෙන සියුම් අංශු පරිගණකයක් වගේ ක්‍රියාත්මක වෙනවා. හැබැයි මේ විදිහේ ශක්තියක් සතෙකුට පිහිටන්නෙ නෑ. ඌ විපාක ශක්තියක් ගෙවනවා මිසක් අර වගේ උපක්‍රමශීලි, බලවත් සිතිවිලි යොදාගෙන වැඩ කරන මානසිකත්වයකින් ක්‍රියාත්මක කරන දඟලන ශක්තියක් නෑ. මේ නිසා සත්ව අළුවල සතාගේ ස්වභාවය විතරක් පිහිටනවා. මනුස්සයෙකුට විශේෂයෙන් බලපෑම් කරන ස්වභාවයක් ඒකෙ නෑ. නමුත් මිනී අළුවල තවත් මනුස්ස පිරිසකට බලපෑම් කරන්න පුළුවන් ස්වභාවයක්, ශක්තියක් තියෙනවා. මේක තමයි සත්ව අළුවල සහ මිනී අළුවල වෙනස.

මිනී අළු හරි සත්ව අළු හරි කමක් නෑ, මේවායේ අංශු ක්‍රියාත්මක වෙලා ශක්ති හටගන්නා බව ඔප්පු කරන්න පුළුවන් අවස්ථා තියෙනවා. උදාහරණ විදිහට මණ්ඩුක තෙල කියල තෙලක් හදන ඉන්ද්‍රජාලිකයෙක් ගැන කියවෙනවා. එතනදී කොළ පාට ගෙම්බෙක් පොල් ගෙඩියකට දාලා වහල ගන්න ක්‍රමයක් තියෙනවා. ඌ ඒක ඇතුලෙ කුණු වුනාට පස්සෙ ඒකෙන් කුණු පොල් තෙල් හිඳිනවා. ඒකෙන් පහන් පත්තු කළාම ඒ පහන් එළිය වැටෙන වැටෙන තැන්වල අර ජාතියේ ගෙම්බො යනවා. උන් ඇස්වලටත් පේනවා. හැබැයි ගෙම්බන්ගේ ඡායාවන් තමයි එහෙම යන්නේ. ඒ වගේම ඇහැටුල්ලා කියන කොළ පාට සතාගෙනුත් මේ විදිහටම එක්තරා මන්ත්‍ර බලයකින් තෙලක් හදලා ඒකෙන් පහන් පත්තු කළාම අර වගේම ඇහැටුල්ලාගේ ඡායාවන් ඒ පහන් එළිය වැටෙන තැන්වල යන්න පටන් ගන්නවා. මිනිස්සු බය ගන්වන්න මිසක් වෙන දේකට නෙවෙයි මේවා කරන්නේ. **ඒ අය ඇදුරු ආරක්ෂාවක් දාගෙන ඒවා කරන නිසා තාවකාලිකව බේරිලා හිටියත් සාමාන්‍ය කෙනෙක් ඕක කරන්න ගියොත් ලොකු අමාරුවක වැටෙන්න පුළුවන්.** ඒ වගේම පණ ඇති සතෙක් මරා මෙබඳු දෙයක් කරන්න යෑම මහා භයානක පාප කර්මයක්.

කොහොමහරි මේ කාරණාවලින් පේනවා, පරමාණුක ශක්තියක් තෙල් අංශුවලත් තියෙන බව. ඒ අංශුවලින් ඒ සතාගේ හැඩරුව නිර්මාණය වෙනවා. මේක ඉන්ද්‍රජාලිකයන් හොයාගත්ත ක්‍රමයක්. ඉතින් මේ විදිහට විවිධ සතුන්ගේ හැඩරුව ගන්න විවිධාකාරයෙන් ක්‍රම තියෙන්න පුළුවන්. මේ වගේම මිනී අළුවලත් ඉතා සියුම් පරමාණුක අංශු තියෙනවා. මියගිය පුද්ගලයාගේ

මානසිකත්වය ඇතුලු විවිධ ගති ලක්ෂණ ඒ අංශුවල ගැබ් වෙලා තියෙනවා. පරිගණකයක් බල ගැන්නුවා වගේ ඒ අංශුවලින් අදාල පුද්ගලයාගේ රූප ස්වභාවය ඡායාවක් විදිහට හදන්න පුළුවන්. ඒ වගේම ඒ ගති ලක්ෂණත් ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නවා. දැන් නවීන විද්‍යාව අනුව ජාන තාක්ෂණය උපයෝගී කරගෙන දරුවෙකුගේ සෛල පරීක්ෂණ ක්‍රමයකින් ඒ දරුවා තරුණ, මහළු ආදී වයසට පත් වෙන කොට ඇති වන කයේ හැඩරුව නිර්මාණය කරන්නත් පුළුවන්. රූප මාත්‍රාවක පරමාණු වැනි කොටස් තුළ මෙබඳු ආකාර ගැබ් වෙලා තියෙන බවට ඒවාත් නිදසුන්.

උදාහරණ විදිහට යම් කෙනෙක් පිළිකාවකින් මළොත්, ඒ පුද්ගලයාගේ මිනී අළුවලත් අංශුවක් අංශුවක් ගානේ අර පිළිකා කාරක ශක්තිය තියෙනවා. ඒ වගේම ඒ අංශුවල ඒ පුද්ගලයාගේ රූපාකාරයත් පිහිටල තියෙනවා. මේ කාරණය ඔප්පුවෙන තවත් තැනක් තියෙනවා. ගජමුතු තියෙන ඇතෙක් මැරුවොත් ඒ මරපු ඇතාගේ ගජමුතුවල අමු ලේ බිංදුවක රූපාකාරයක් තියෙනවා. ඒකට යම්කිසි විදුලි ආලෝකයක් ඇල්ලුවොත් ඒ ඇතාගේ රූපය අර විදුලි එලියේ ඡායාවට වැටෙනවා. ඇතෙක් මරල ගත්තු බව දැනගන්න මේක ලකුණක් වෙනවා. මොකද ඒක මරණයත් එක්ක එන වේදනාවත් සමග හැදෙන දෙයක්. මේ වගේ ක්‍රමයක් තියෙනවා.

මේ විදිහට මියගිය කෙනෙකුගේ මිනී අළුවලත් ඒ පුද්ගලයා ජීවත්ව සිටිද්දී තිබ්බ්ච ගති ලක්ෂණ සැඟවිලා පරමාණුක ශක්ති වශයෙන් පිහිටනවා. ඒ අංශු යම්කිසි මන්ත්‍ර බලයකින් බල ගැන්නුවොත් ඒවා ක්‍රියාත්මක වෙන්න පටන් ගන්නවා. එතකොට හරියට අර පුද්ගලයා ජීවත්ව සිටිද්දී වගේ ගති ලක්ෂණ වැඩ කරනවා. වයසක කෙනෙක් මළා නම් අංශුවක් අංශුවක් ගානේ ඒ වයසක පුද්ගලයා වගේ පුද්ගලයෝ ඡායාවන් ආකාරයට හැදෙනවා. ඒක මස් ලේ ඇහින් බැලුවට කාටවත් හොයන්න බෑ, පේන්නෙ නෑ.

මේ වගේ මිනී අළුවලින් විනා කරන ක්‍රම කීපයක් තියෙනවා. එකක් තමයි ඒ මිනී අළුවලට අමනුස්සයෝ බන්ධනය කරලා ජීවම් කරලා භූමිවල වල දැමීම. මෙතනදී ඒ මිනී අළු හිමි මැරිච්ච පුද්ගලයාම නෙවෙයි ඒකට එන්නේ. සමහර විට ඒ පුද්ගලයා මැරිල ගිහින් වෙනත් කොහේ හරි උප්පත්තිය ලබල තියෙන්න පුළුවන්. නමුත් ඒ **මියගිය පුද්ගලයාගේ ගති ලක්ෂණවලට සමාන ගති ලක්ෂණ ඇති වෙනත් අමනුස්සයෝ ඉන්නව නම්, උන් අර මිනී අළුවලට ආකර්ෂණය කරන්න පුළුවන්.** මොකද සමාන ගතියට සමාන ගතියක් ආකර්ෂණය වෙනවා. ඒ විදිහට අමනුස්සයෝ ඒ මිනී අළුවලට බැන්දුවම ඒවා පරිගණක වගේ වැඩ කරන්න පටන් ගන්නවා. ඒවායේ තියෙන ශක්තිය නංවන්න පුළුවන්. එහෙම නැතිව නිකන්ම මිනී අළු අරගෙන මන්ත්‍ර කරලා ඉස්සත් ඒවායෙත් අර පරමාණුක ශක්තිය ක්‍රියාත්මක වෙන ක්‍රමයක් තියෙනවා.

ඊළඟට තවත් කාරණයක් තමයි අමනුස්ස බන්ධනයක් නොකළත් මිනී අළු කියන්නේ අමනුස්සයන්ගේ ප්‍රියතම ආහාරයක්. උන් මිනී අළුවල තියෙන පුළුටුවලට බොහොම කැමතියි. කුකුලෙකුට, එළුවෙකුට, හරකෙකුට වඩා උන් මිනී අළුවලට බොහොම ප්‍රියයි. මේ නිසා නිකන් මිනී අළු භූමියකට දැම්මත් එතැනට අමනුස්සයින් අරක් ගන්නවා.



මිනිය පිච්චෙන කොට පපුවෙන් මිනී අළු ගන්න ගුප්ත ක්‍රමයක් තියෙනවා. ඒවා ගැන කියන්නත් සුදුසු නැති නිසයි ඒ ක්‍රම නොකියන්නෙ. ඒවා මහා භයානක ක්‍රම.

ඊළඟට මේ මිනී අළුවලත් විශේෂ අවස්ථා තියෙනවා. ඒ කියන්නේ මළ මිනියේ හෘදය වස්තුවට සම්බන්ධ ප්‍රදේශයට මහසොහොන් දිෂ්ඨිය කෙලින්ම සම්බන්ධයි. මහසොහොන් දිෂ්ඨිය ඒකට අරක්ගෙන ඉන්නේ. ඒක ගන්න දෙන්නෙ නෑ. මොකද උන්ගෙ ලොකුම වස්තුව තමයි මේ හදවත. ඒකට රීරි ගෙඩිය කියලත් කියනවා. මෙතනදී මහසෝනා කිච්චම ප්‍රධානියාට අමතරව තවත් අය ඉන්නවා. කොහොමහරි මේ හදවතට සම්බන්ධ මිනී අළු ගත්තොත් ඒක තවත් බලවත් වෙනවා. මොකද ජීවත්ව සිටිද්දී මනුස්සයෙකුගේ හදවතේ තමයි දූෂ්‍ය ගති ලක්ෂණ බලවත් වෙලා ක්‍රියාත්මක වෙන්නෙ. ඉතින් දූෂ්‍ය වැඩ කරන්න ඒ අළු ගත්තොත් වැඩේ තවත් ලේසියි. මේ කාරණය දන්න කට්ටඩි උන්නැහේලා උපක්‍රමවලින් ඕක ගන්නවා. හැබැයි ඒක ලේසි වැඩක් නෙවෙයි. බොහොම භයානක අමාරු වැඩක්. එහෙම ගන්න ඕනෙත් දෙගිනි හාවෙන වෙලාවක. ඒ කියන්නේ සෑයක දෙපැත්තෙන් තමයි ගින්දර තියන්නේ. අන්න ඒ ගිනි දෙක එකට හා වෙන වෙලාවක් එනවා. එතකොට මිනිය දැල්වෙනවා. හැබැයි ඇතුලේ හෘදය වස්තුව තවම මිනියෙන් වෙන් වෙලා නෑ. මේ වෙලාවට නිරුවතින් ගිහින් අර හෘදය වස්තුවේ මිනී අළු සාම්පලයක් ලබාගන්නා එක්තරා ගුප්ත ක්‍රමයක් තියෙනවා. ඒක අරගෙන ඈතට ගිහින් ඒ මිනී අළු ටික වෙනම එකතු කරගන්නවා. මේක මන්ත්‍රකාරයෝ ඇඳුරු ආරක්ෂාවක් දාගෙන කරන වැඩක්. එහෙම නැතිව සාමාන්‍ය අය කරන්න ගියොත් අමනුස්ස බැල්ම වැටිලා ලෝක අමාරුවක වැටෙනවා. මොකද ඒක නිකන් ගෙනියන්න දෙන්නෙ නෑ. අරගෙන යනකොට අමනුස්ස දිෂ්ඨිය පස්සෙන් පන්නනවා.

කොහොම හරි මේක සොහොන් සීමාවෙන් එහාට ගෙනිහින් ඒ මිනී අළු ජීවම් කරලා කාගෙ හරි භූමියකට ඉහිනවා. ඒක හරිම භයානකයි. එහෙම භූමියකට දැම්මට පස්සෙ ඒ භූමියේ පදිංචි වෙලා ඉන්න අයටත් ඒක විශේෂයෙන් බලපානවා. මොකද ඒකට අර දිෂ්ඨිය අරක් ගන්නවා. **ඒක භූමිය පුරාම පැතිරෙනවා. මුළු භූමියම පාළු වෙනවා. වගාවක් හරියන්නෙ නෑ.** දැන් ඉතින් ඒ අමනුස්ස දිෂ්ඨිය අයින් කරන්න ලේසියෙන් බෑ. සමහර වෙලාවකට මුට්ටියකට වගේ දේකට මේ මිනී අළු දාලා අමනුස්ස බන්ධනත් එක්ක භූමියක වල දැම්මට පස්සෙ, යම් ක්‍රමයකින් ඒක ගොඩ ගත්තත් ඒ දිෂ්ඨිය මනෝමය වශයෙන් එතන බැඳිල තියෙනවා. ඒක ඉවත් වෙලා නෑ. ඒ මුට්ටියම ගුප්ත ක්‍රමයකට ගෙනිහින් තවත් තැනක වළ දැම්මොත් එතැනත් දිෂ්ඨියක් හට ගන්නවා. මේ වගේ එක ජීවමෙන් අපරාධ රැසක් කරන්න පුළුවන්. ඉතින් **මේවා ලේසියෙන් කපන්න පුළුවන් ඒවා නෙවෙයි. පරම්පරා ගණනාවකටම බලපානවා. මහා අපරාධ වැඩ. මේවා කරන අයට මැරෙන්න පෙරත් මෙලොවදීම කය පනුවන් ගහල දුක් විඳින්න වෙනවා. පරලොව උණු අළු නිරය, ගූථ කූප නිරය (අසූචි නරකයක්) ආදී ස්ථානවල ඉපදිලා අනන්ත දුක් විඳින්න වෙනවා. ඒ නිසා කෙනෙකුට මේ වගේ අපරාධයක් කරන්න හෝ කරවන්න හීනෙකින්වත් නොසිතිය යුතුයි.**

මේ නිසා හදවතේ මිනී අළු ගන්නවට උපක්‍රමයක් වශයෙන් ඒ කාලේ මිනියක් පුච්චන කොට සමහර උදවිය ඌරු තෙල් කුප්පියකුත් දානවා. (බෞද්ධයෝ ඒ වෙනුවට පිරිත් පැන් දාන සිරිතක් තිබුණා.) එතකොට දෙකම පිච්චෙනවා. මේ නිසා මහසොහොන් බලය ගන්න බැරිව යනවා. මොකද මහසොහොනගේ වාහනය ඌරා නිසා ඌ ඒකව ගොදුරු කරගන්නෙ නෑ. ඌරු තෙල්වල තියෙන කිල්ලට යන්ත්‍ර මන්ත්‍ර වැඩකරන්නෙ නෑ. (බුදු ගුණ යන්ත්‍ර මීට අදාල නොවේ). එතකොට අමනුස්සයාට ඉන්න බැරිව යනවා. ඒක අර අමනුස්සයාගේ (යකාගේ) තියෙන නීච කමත් එක්ක බලපාන දෙයක්. මොකද ඌරා ජරාව කාලා ඒකෙම පැලපදියම් වෙලයි ඉන්නේ. එතකොට ඒ ගති ලක්ෂණ තියෙන අමනුස්සයොත් ඌරට කැමතියි. තමන්ගේ ජාතියේ එකෙක් නිසා ඌරුමස්/තෙල් උන්ගෙ වස්තු නිසා උන් ඒවා කාල විනාස කරන්නෙ නෑ. ඒවා වාහන වගේ තියාගෙන ඉන්නවා. උන් ඒකට ප්‍රිය කරනවා. අනුන්ගෙ එකට විත කළාට තමන්ගෙ එක රකිනවා. එතකොට ඒකට අමනුස්සයො බන්දන්න බැරිව යනවා.

මේ වගේ යම්කිසි කෙනෙක් යමකට ඇලුම් කරනවා නම් ඒ ජාතියේ ඒවා එතන ගොඩනැගුවොත් ඒ පුද්ගලයා ඒක විනාශ කරන්නෙ නෑ. උදාහරණයක් විදිහට යමෙක් කැලේකට ගිහින් ගස්වැල් සේරම විනාශ කරනකොට තමන් කැමති ගහක් හම්බ වුනොත් ඒක විනාශ නොකර ඉතිරි කරනවා වගේ. මේ නිසා සමහර උදවිය ගෙදර වහලේ ඌරු තෙල් කුප්පියක් එල්ලනවා කොඩිවින නොවදින්න. (නමුත් මෙහෙම ඌරු තෙල් කුප්පියක් එල්ලුවට පස්සෙ ඒ ගෙදර උදවියත් පසු කාලීනව ඌරන් වගේ හැසිරෙන්න පටන් ගන්නවා. ඒකෙන් අවසානයේ ඒ අයටත් විනාසයක් තමයි වෙන්නෙ. මේ නිසා නියම බෞද්ධයෝ නම් ඒ වගේ දේවල්වලට පෙළඹෙන්නෙ නෑ, පිරිත් පැන් කුප්පි තමයි ගෙවල් ආරක්ෂාවට එල්ලන්නෙ.) මොකද අමනුස්සයෝ කුකුලෙක්, එළුවෙක්, හරකෙක් බිලි ඉල්ලුවට ඌරෙක් ඉල්ලන්නෙ නෑ. මොකද උන් ඌරගෙ ලේ බොන්න, මස් කන්න කැමති නෑ. ඒ උන්ගෙ ජාතියේ එකෙක් නිසා.

ඌර වගේ ඉන්න මිනිස්සුත් එක්ක අමනුස්ස (යක්ෂ ආදී) පිරිස් බොහොම හිතවත්. සමහර විට උන්ට ජඩ වැඩ , බලු වැඩවලට උදව් කරනවා. අන්තිමට මනුස්සයගෙ යහපත් චරිතය සහමුලින්ම වැනසිලා ගිහින් විනාස වෙනවා. වවුලා හපේ දාල වෙන පුහුලනයක් අල්ල ගන්නව වගේ අන්තිමට මනුස්සයා අපාගත වෙනවා. උන් තව එකෙක්ගෙන් එබඳුම ප්‍රයෝජන ගන්නවා. ඔහුටත් අන්තිමේදී වෙන්නෙ හපයක් වගේ විසි වෙලා ගිහින් අපාගත වෙන්න. ඒ නිසා පෙර කියමනක් තියෙනවා, **යකුන් ඇසුරු කළෝ පැරදුනෝ මිස දිනුවෝ නැත, බුදුන් ඇසුරු කළෝ දිනුවෝ මිස පැරදුනේ නැත** කියල.

කොහොම හරි මේ විදිහට මිනී අළු ජීවම් කරනකොට ඒකෙ පරිවර්තන සිද්ධ වෙනවා. උදාහරණයක් විදිහට සතුන්ගේ හැඩයට හදපු බැලුන් තියෙනවා. හැබැයි ඒකට හුළං නොගහා තියෙද්දි නිකන් පැතලි හිස් බැලූනයක් විතරයි. හුළං ගහපු ගමන් අර සතාගේ හැඩයට ඒක පිම්බෙනවා. මේ වගේ මිනී අළු ජීවම් කරන කොට ඒක බල ගැන්වෙනවා. එතකොට ඒකට ඒ ජාතියේ අමනුස්සයෝ පොකුරු පිටින් එනවා. ඒ මිනී අළුවල මියගිය කෙනාගේ ගති ස්වභාවයන් ඔක්කොම තියෙනවා. මේ නිසා ඒකට පරිගණකයකට වගේ විධානයන් ලැබුනොත්, ඒ වගේම ඒ විධාන ක්‍රියාත්මක වෙනවා. ක්‍රියාත්මක වෙලා ඒක භූමිය පුරාම පැතිරෙනවා. ඒකෙන් සම්පූර්ණ විෂ කිරණ ජාලයක් හැදෙනවා. දැන් **මේ විෂ ඒ භූමියේ තියෙන වගාවන්ටත්, ජීවත් වෙලා ඉන්න පුද්ගලයන්ටත් බලපානවා.** ඒවා ඒ අයගේ ශරීරගත වෙලා කායික මානසික පරිවර්තන සිද්ධ කරනවා. ඒකත් සිද්ධ වෙන්න පුළුවන් විවිධ ක්‍රමවලට. **ඒ බන්ධනය කරල ඉන්න අමනුස්සයා ලෙඩ හැදිච්ච එකෙක් නම් ඒ රෝගී ලක්ෂණය භූමිය පුරා පැතිරිලා දැන් ඉන්න මිනිස්සුන්ටත් බලපානවා.** එහෙම නැත්නම් මිය ගිය කෙනාට යම් රෝගී තත්වයක් තිබුනනම් අර මිනී අළුවලත් තියෙන ඒ පරමාණුක අංශු භූමිය පුරා පැතිරිලා ඒවායේ වාසය කරන පුද්ගලයන්ටත් ඒ ශක්තිය කාවැද්දෙනවා.

උදාහරණ විදිහට මිනී අළු හිමි කෙනා මියගියේ පිළිකාවකින් නම්, දැන් පදිංචි වෙලා ඉන්න අයටත් ඒ පිළිකා හැදෙන ලක්ෂණ කාලයක් යනකොට හටගන්නවා. ඒ වගේම ඒ මිනී අළු හිමි කෙනාගේ යම් දූෂ්‍ය ගති ලක්ෂණ, මානසික ව්‍යාකුලතාවයන් ආදියත් තිබුනනම්, ඒ ගති ලක්ෂණත් අර මිනී අළු දමපු භූමියේ ජීවත් වෙන අයට බලපානවා. ඉතින් **හොඳට හිටපු අය එකපාරටම වෙනස් වෙන්න ගන්නවා, ලෙඩ වෙනවා, දේපල මිල මුදල් බංකොලොත් වෙනවා, මානසික අසහන එනවා, නොයෙක් කරදර බාධක එනවා, කරන කියන මොකක්වත් හරි යන්නෙ නෑ.** සමහර විට ඒ මිනී අළු හිමි කෙනා වයසට ගිහින් නැගිට ගන්න බැරිව ඇදි ඇදී යමින් හිටපු කෙනෙක් නම්, දැන් අර භූමියේ ජීවත් වෙන අයත් නැගිටගන්න බැරි තත්වයට පත්වෙනවා. **මහා ශෝකාකුල ගති ලක්ෂණ තමයි ඒ ගෙවල්වල ජීවත් වෙන උදවියට තියෙන්නේ.** විශේෂයෙන් සතර අපාගත උප්පත්තියකට ගියපු මිනිහෙකුගේ මිනී අළු ගත්තොත් තවත් භයානකයි. මොකද එතකොට ඒ මිනී අළු තියෙන පරිසරයට ඒ ජාතියේ ගති ලක්ෂණ තියෙන අමනුස්සයෝ ඇදිල එනවා. ඇවිත් ඒක උන්ගෙ රාජධානිය කරගන්නවා. ඊට පස්සෙ ඒ භූමියේ සාමාන්‍ය මනුස්සයෙකුට ඉන්න බැරි තත්වයක් උදා වෙනවා. **පරම්පරා ගණනාවකට වුනත් ඒ සාපය යන්න පුළුවන්. හරිම භයානකයි.** විශේෂයෙන් සොහොන් භූමිවල මේ ලක්ෂණ ඒකාන්තයෙන්ම තියෙනවා. ඒ නිසා තමයි සොහොන් භූමිවල හදන ගෙවල්වල ඉන්න උදවියට යහපත් ප්‍රතිපල දෙන්නෙ නැත්තේ.

හැබැයි මේ වගේ මිනී අළුවලින් කරන ජීවම් වුනත් කෙනෙකුට නිකන්ම එන්නෙ නැති බවත් තේරුම් ගන්න ඕන. **මොකක් හරි කරපු කර්ම වේගයක ප්‍රතිඵලයක් විදිහටම තමයි එහෙම දෙයක් එන්නේ.** මේ නිසා සමහර විට ඒ වගේ විපාකයක් එන්නත් කාලයක් යන්න පුළුවන්. මොකද **කර්ම විපාක වුනත් ඵල දෙන්න නියමිත කාලයක් තියෙනවා.** ඉතින් අපි පෙර කරපුවම තමයි කොහෙන් හරි කැරකිලා ඇදිල එන්නේ. **බුදුන් වහන්සේටත් ජීවමාන කාලෙදිම කර්ම විපාක දොළහක් ඵල දුන්න නම් අනෙක් අය ගැන කවර කතාද?** ඒ වගේ කර්ම නොකරපු අය නෑ. හැමෝම අඩු වැඩි වශයෙන් කරල තියෙනවා. අවස්ථාව ආවොත් ඇදිල එනවා. මේ කොඩිවින ආදිය උපක්‍රමයෙන් කරන ප්‍රයෝග විපත්තියට අයිතියි. මේ විපත්තිය කර්මවේග ඵල දෙන්න උපනිශ්‍රය වෙනවා. මේවා දැනගෙන යහපත් දේ කළොත් ලැබෙන්නෙ ප්‍රයෝග සම්පත්තිය. එතකොට පුණ්‍ය විපාකවලට උපනිශ්‍රය ලැබිල වාසනාව උදා වෙනවා.

නමුත් ප්‍රශ්නය ඒක නෙවෙයි. එහෙම ස්වභාවිකව එන්න තියෙන විපාකයට තවත් පැත්තක ඉන්න පිරිසක් මුක්කු ගහන එකයි. ඒ අයත් **ඒ වගේ ජීවම්වලට සම්බන්ධ වෙලා කරගන්නා අවැඩවලින් කල්ප ගාණකට ගොඩ එන්න බැරි පාප කර්ම රැස් කරනවා.** ඉතින් ජීවම් කරවන උදවියත්, කරන උදවියත් මහ අපරාධයක් තමයි සිද්ධ කරගන්නේ. ඒ අය බොහෝවිට සතර අපාගත වෙනවා. එහෙම නැත්නම් මෙලොවදීම බරපතල දුක් කරදරවලට මුහුණ පාලා අවසානයේ අකාලයේ මියයනවා. සමහර අය මියගියාට පස්සේ මිනියටත් හෙණ ගහනව කියල කතාවක් තියෙනවා. සමහර විට එහෙම වෙලත් තියෙනවා. ☞

**මනුස්සයෙක් වෙලා ඉපදුනත් අර පෙර කරපු දේවල් දෙගුණ තෙගුණ වෙලා ඇදිල ඇවිත් එල දෙනවා.** එදාට තමයි ගිනි කන්න වෙන්නේ. නමුත් ඒ පැත්ත ඒ උදවිය දකින්නෙ නෑ. ඒ තරම්ම ලෝකාස්වාදයෙන් මත් වෙලා දෘෂ්ඨි ගතවෙලයි ඉන්නේ.

ඉතින් බොහොම අමාරුවෙන් **මනුස්සයෙක් වශයෙන් උප්පත්තිය ලබලා ජීවත් වෙන අවුරුදු පණහකට හැටකට ආස්වාදය විඳින්න කියල, අනුන්ට දෙන මේ වගේ ගිනිවල විපාකය විඳවන්න ගියාම ඒකට පොළියත් එක්ක ඒ අයට හම්බ වෙනවා.** මේ කෙටි කාලයක් තුල පිනක් දහමක් කරගන්නෙ නැතුව, ලෝකාස්වාදයෙන් මත් වෙලා, අසත් පුරුෂ ලෙස ද්වේශයෙන් දූවි දූවී අන්‍යයන්ට කරන මේ වගේ හදි හූණියම්වල විපාකයන් මේ කරන උදවිය දන්නව නම්, ඕවට සම්බන්ධ වෙන්න තියා හිතන්නවත් යන්නෙ නෑ. ඒ තරම් මහා භයානකයි.

දැන් කෙනෙකුට තවත් ප්‍රශ්නයක් එන්න පුළුවන්, මේ වගේ මිනී අළුවලින් ජීවම් කරන කොට ඒ මිනී අළු හිමි කෙනා ගුණ වඩපු සත්පුරුෂයෙක් නම් ඒවායෙනුත් එහෙම වෙනවද කියල. ඉතින් ඒ වගේ ගුණ වඩපු කෙනෙක් නම් ඒක ඒ අය දන්නවා. දැනගෙන සාමාන්‍ය පෘථජ්ජන මනුස්සයින්ගේ මිනී අළු තමයි මේ වගේ වැඩවලට යොදා ගන්නේ. ගුණ වඩපු කෙනෙක් අතර අද කාලයේ ආර්යන් කලාතුරකින් තමයි දකින්න ලැබෙන්නේ. ඉතින් ඒ වගේ වෙලාවකට එහෙම කෙනෙක් කියල දූන ගත්තොත් ඒවා මිනී අළු කියල විසිකරන්නෙ නෑ. පුද පූජා කරන්න ගන්නවා. එහෙම නැත්නම් චෛත්‍ය හදල තැන්පත් කරනවා. විශේෂයෙන් **රහතන්වහන්සේ නමකගේ නම් භෂ්මාවශේෂවල ඔය කියන විෂ ගති ලක්ෂණ වෙනුවට සම්පූර්ණ ශුද්ධ ගති ඇති කිරණ තමයි වැඩ කරන්නේ. ඒවායෙන් මහ සෙතක් ශාන්තියක් තමයි ලෝකයට විහිදෙන්නේ.** මේ නිසා තමයි ආර්ය උත්තමයන් වහන්සේලාගේ ආදාහනයෙන් පසු ඒවා ධාතූන් වහන්සේලා වශයෙන් එකතු කරගෙන පුද පූජා පවත්වන්නේ. මේනිසා ධාතු වන්දනාව ඵලදායකයි කියන කාරණය මෙතනදී ඔප්පු වෙනවා. බුදු පියාණන් වහන්සේ **ථූපාර්හ පුද්ගලයෝ** (චෛත්‍ය සාදා තැන්පත් කර ගරු කරන්න සුදුසු අය) හතර කොටසක් ගැන දේශනා කරල තියෙනවා. ලොව්තුරා බුදු, පසේ බුදු, බුද්ධ ශ්‍රාවක, සක්විති රජ කියන හතර දෙනා තමයි මේ ථූපාර්හ පුද්ගලයන් විදියට පෙන්නුවේ. ඒ, උතුමන්ලාගේ භෂ්මාවශේෂවලට අමනුස්සයින් සම්බන්ධ නොවන නිසාත්, දෙව් බඹුන් නමස්කාර කරන නිසාත්. නමුත් සාමාන්‍ය මිනිහෙක් මැරුණම එහෙම කරන්නෙ නෑ. ඒවා ගෙටවත් වැද්ද ගන්නෙ නෑ. මොකද තමන්ගෙ කෙනෙක් කියල නෑ අමනුස්සයෝ අරක් ගන්නවා. මතු පිටින් මොනවා පෙනුනත් පෘථජ්ජන නම් ක්ලේශයන්ගෙන් පිරිච්ච ගති ලක්ෂණවලින් ඒ මිනී අළුවලත් විෂ කිරණ හටගන්නවා. මේ නිසා සක්විති රජ (මනුස්සයින් අතරින් පුණ්‍ය සෘද්ධියෙන් ප්‍රධානයි) හැර අන් පෘථජ්ජන මිනිස්සුන්ගේ භෂ්මාවශේෂවලයි ආර්ය උත්තමයන් වහන්සේලාගේ ධාතුවලයි වෙනස වටහා ගත යුතුයි. රහතන් වහන්සේට මෙහා ගුණ වඩපු ආර්ය උත්තමයන් ඉන්නව නම් ඒ අයගේ භෂ්මාවශේෂවලත් ඒ ඒ මට්ටම්වලින් ශුද්ධ කිරණ වැඩ කරනවා.

දැන් ඉතින් අද කාලයේ මිනී පුච්චන තැන් ඕන තරම් තියෙනවා. දවසකට මිනී කීයක් නම් පුච්චනවද ? ඒවායේ අළු කොච්චර වුනත් එකට මිශ්‍ර වෙනවා. මේවා බාරව ඉන්න කෙනෙකුට කීයක් හරි දීලා මිනී අළු අරගෙන ඒක කලවම් කරල ජීවම් කරනවා. දැන් ඉතින් මේවා කපන්නෙ කොහොමද? කවුද ඒක දන්නේ? සාමාන්‍ය ලෙඩක් නම් වෛද්‍යවරයෙක් ළඟට ගිහින් බෙහෙතක් ගන්නවත් පුළුවන්. නමුත් මේ වගේ මිනී අළු ජීවම් කරල, අමනුස්සයෝ බන්ධනය කරල හටගන්න කායික මානසික ලෙඩ රෝග කොහොම සනීප කරන්නද? ඒවා කපන්න නම්, මිසයිල ප්‍රහාරයක් ගැහුවොත් භෞතික ලෝකයේ ගොඩ නගා ඇති ගොඩනැගිලි ආදී ඔක්කොම විනාශ වෙලා යනව වගේ විශාල බලයක් දෙන්න ඕන. මන්ත්‍ර බලයෙන් පුම්බලා දුන්න ශක්තිය ආපසු බිඳින්න පුළුවන් ශක්තියක් දුන්නොත් මිසයිලයක් ගැහුවම එතන ගොඩ නගා ඇති ඔක්කොම පිච්චිලා යනව වගේ ඒ ජීවම අක්‍රිය කරන්න පුළුවන්. නමුත් ඒක කරන්න දන්න කෙනෙක් හොයාගන්න ලේසි නෑ. වැඩි හරියක් ඉන්නේ තමන්ගෙ බඩ වඩාගන්න ඇස්බැන්දුම් වැඩ කරන අය. ඉතින් රුපියල් දහස් ගාණක් ගෙවල ජීවම් බන්ධන කැපුවයි කිව්වට අන්තිමට බලන කොට කැපිල නෑ.

ඒ නිසා මේක ආවට ගියාට කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. පුහුලකට දෙහි ගෙඩියකට මතුරලා විශේෂ ශක්තියක් ඒ දෙහි ගෙඩියට හෝ පුහුලට ඇදල දෙනවා. ඊට පස්සෙ එකපාරටම ඒක සුනු විසුනු වෙලා යන්න පලනවා. එතකොට අර ගැබ් කළ විශාල ශක්තිය එක මොහොතකින් හැම තැනම විසිරිලා යනවා. ඒකෙන් අර විස කිරණ කැපිල යනවා. නමුත් මේක හෙමින් හෙමින් කපල බෑ. හෙණයක් ගැහුව වගේ එකපාරටම කැපුවොත් තමයි අර වගේ මහා විශාල ශක්තියක් නිකුත් වෙලා විෂ කිරණ කපන්න පුළුවන් වෙන්නේ. උදාහරණ විදිහට බෝම්බයක තියෙන වෙඩි බෙහෙත්, ටික ටික අරගෙන ගිනි පෙනෙල්ලකින් පිච්චුව කියල ඒකෙන් හානියක් වෙන්නෙ නෑ. නමුත් ඒ වෙඩි බෙහෙත් ටික එකපාරටම ගින්නට දැම්මොත් මහ විනාශයක් වෙනවා. මෙන්න මේ වගේ තමයි මේ ජීවම් කරපු බන්ධනත් කපන ක්‍රමයක් තියෙනවා. ඒ ක්‍රමයට කැපුවොත් තමයි ඒක ඉවත් වෙන්නේ. එහෙම කපන විවිධාකාරයේ ක්‍රම තියෙනවා. සමහර විට අමනුස්සයෙක් අරගෙන ඌට කැපීමේ බලය දෙනවා. හරියට යම් කිසි සටන් කරපු පුද්ගලයෙක් ගෙනත් ඔහුට ආයුධ දීලා යම් කිසි මෙහෙයුමක් බාර දෙනවා වගේ. මේ වගේ යම්කිසි අමනුස්ස පිරිසකට දොළ පිදේනි දීලා උන් සතුටු කරවලා, අර අමනුස්සයෝ එලවන්න ඒ අයගෙම ලොක්කෙක් හොයා ගන්නවා. මේක සාමාන්‍ය ක්‍රමයක්. එහෙම නැත්නම් පුහුල්, දෙහි මතුරලා එකපාරටම බිඳ හැරලා විශාල ශක්තියක් දෙනවා. එතකොට අකුණු සැර වගේ ඒ විෂ ශක්තිය විනාශ වෙලා යනවා. අමනුස්සයන්ට අවශ්‍ය ආහාරය ඒ පරිසරයේ නැති වෙනකොට උන් යන්න යනවා. නමුත් මේ දෙන ශක්තිය මදි නම් උන් යන්නෙ නෑ. මේ නිසා මොකද කරන්නේ, විශේෂ දේවතා කොට්ඨාශ සමග සම්බන්ධ වෙලා ඉන්න දරුණු ගණයේ යක්ෂයෝ වගේ අමනුස්සයන් බල ගන්වනවා. ඒ අයට මොනව හරි දොළ පිදේනි පුද පූජා දීලා ඒ අයගෙන් ශක්තිය ඉල්ල ගන්නවා. ඒ අයත් ඒකටම උපන් හපන්කම් ඇති නිසා ශක්තිය වැඩියි. ඒ බලෙන් ඒ බන්ධන කපනවා.

ඉතින් මේ වගේ දේවල් ධර්මානුකූලව දැනගෙන තමන්ට කවුරුවත් කොඩිවින ජීවම් කෙරුවයි කියල, ඒ අයටත් පෙරළා ඒකම කරන්න යන්නවත්, ඒක කපන්න පහත් ක්‍රම පාවිච්චි කරන්නවත් හොඳ නෑ. එහෙම වුනොත් පසු අත්බැව්වලදී ඒවා තමන්ටත් ඒ විදිහටම එන්න පුළුවන්. මේ ලෝකය කියන්නේ මේ වගේ මහා භයානක තැනක් කියල ධර්මානුකූලව තේරුම් අරගෙන ඊට අනුව ජීවත් වෙන්න උත්සාහ ගන්න ඕන. **එන කර්ම විපාකවලට කරන්න දෙයක් නෑ. ධර්මානුකූල ප්‍රතිකර්මයන්ගෙන් ඒවාට විසඳුම් දෙනවා හැරෙන්න වැරදි ක්‍රමවලින් තාවකාලිකව වහන්න ගියොත් මේ සසර ගමනේ කෙලවරක් නැතිව දුක් ගොඩකට මුහුණ පාන්න සිද්ධ වෙනවා.**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

***වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැගවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :***

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# බුද්ධ බල යන්ත්‍ර සම්බන්ධයෙන් වැඩිදුර පැහැදිලි කිරීම්...

මහා බලගතු බුද්ධ බල යන්ත්‍ර හතරක් හදා ගන්නා ආකාරය හෙළ බොදු පියුම දහම් සඟරාවේ 12, 13 කලාපවලින් පැහැදිලි කළා. ඒවා ජීවම් කිරීමේදී දනුවත් විය යුතු විශේෂ කාරණාවන් සම්බන්ධ වැඩි දුර පැහැදිලි කිරීම් තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්නේ. විශේෂයෙන් පසුගිය කලාපවලින් යන්ත්‍ර කිහිපයක් එකවිට තබා ජීවම් කර ගත හැකි බවත් සඳහන් කළා. නමුත් එසේ එකවර යන්ත්‍ර කිහිපයක් ජීවම් කරන්නේ නම් දන ගත යුතු විශේෂ කාරණාවන් තියෙනවා. මොකද ඒක එක පාරටම කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ සඳහා තමන් යම් බලයක්, ශක්තියක් ලබා තිබිය යුතුයි.

මේ නිසා ඒ ශක්තිය ලබා ගන්නා තෙක් එක් වරකට ජීවම් කරන්න පුළුවන් එක් යන්ත්‍රයක් විතරයි. සිද්ධි බල නොලබා පුද්ගලයන් වැඩි ගණනක් සඳහා එක පාරට යන්ත්‍ර ජීවම් කරන්න බෑ. යම් කිසි ජීවම් ගාථාවකින් ලක්ෂ වාරයක් සම්පූර්ණ වුනාම තමයි එක් වරකට එක ජීවම් ගාථාවකින් යන්ත්‍ර 2 ක් ජීවම් කිරීමේ ශක්තිය ලැබෙන්නේ. හැබැයි මෙතනදී මතක තියාගන්න ඕන කාරණය තමයි ඒ ලක්ෂය සම්පූර්ණ වෙන්නත් ඕන එකම ජීවම් ගාථාවකින්මයි. එහෙම නැතිව නවගුණ ගාථාවෙන් පනස්දාහයි, අලංකතෝ ගාථාවෙන් පනස්දාහයි ආදී ලෙස ජීවම් ගාථා 2 ක් එකතු කරල ලක්ෂයක් හදාගන්න බෑ. මොකක් හරි එක ගාථාවකින් විය යුතුයි.



මේ විදියට යන්ත්‍ර ගණන වැඩි කර ගන්නා එක්තරා ක්‍රම රටාවක් තියෙනවා. අපි හිතමු නවගුණ යන්ත්‍රයෙන් කෙනෙක් 1008 බැගින් අවස්ථා සියයකදී යන්ත්‍ර 100 ක් ජීවම් කළා කියල. එතකොට ඒ යන්ත්‍ර 100 විවිධ පුද්ගලයින් සඳහා කරන්න පුළුවන්. එහෙම නැත්නම් එක් පුද්ගලයෙක් සඳහාම එක් යන්ත්‍රයක් ලක්ෂ වාරයක් ජීවම් කරන්නත් පුළුවන්. දන් ඒ පුද්ගලයාට එක වරකට ඕනෑම ජීවම් ගාථාවකින් ජීවම් යන්ත්‍ර 2 ක් එක වරකට ජීවම් කිරීමේ සිද්ධි බලයක් ලැබෙනවා. එතකල් වරකට එක් ජීවම් යන්ත්‍රයක් විතරයි කරන්න පුළුවන්. ලක්ෂ වාරයක් පැන්නම එකවිට යන්ත්‍ර 2 ක් ජීවම් කරන්න පුළුවන් කිව්වේ නවගුණ ගාථාවෙන් විතරක් නෙවෙයි, අනෙක් ගාථාවලිනුත් එකවිට යන්ත්‍ර 2 බැගින් ජීවම් කරගන්න පුළුවන් ශක්තිය ලැබෙනවා. ඒ සඳහා වෙනත් ජීවම් ගාථා ලක්ෂයක් බැගින් ජීවම් කර තිබීම අවශ්‍ය නෑ.

මෙහිදී ඇත්තටම ජීවම් වාර ලක්ෂයක් කියල කිව්වට හරියටම ලක්ෂයක් නෙවෙයි ලැබෙන්නෙ, ඊට වඩා වැඩි ගණනක්. (1008 ජීවමෙන් නම්) උදාහරණ විදියට 1008 ජීවමෙන් ජීවම් 100 ක් කළොත් 100800 ක් තමයි එන ගාණ. වැඩිපුර ආවට කමක් නෑ. ලක්ෂයට අඩු වෙන්නයි බැරි.

ඊළඟට ඒ නවගුණ ගාථාවම ලක්ෂ 2 ක් සම්පූර්ණ කළාම දන් ඒ පුද්ගලයාට එකවර එක් ජීවම් ගාථාවකින් ඕනෑම එක් වර්ගයක යන්ත්‍ර 4 ක් ජීවම් කිරීමේ බලය ලැබෙනවා. ඊළඟට ඒ ජීවම ලක්ෂ 3 ක් පැන්නොත් එක වරකට ඕනෑම එක ජාතියක ජීවම් යන්ත්‍ර 8 ක් එකට තබා ජීවම් කිරීමේ ශක්තිය ලැබෙනවා. මේ විදියට ලක්ෂ 4 ක් පැන්නොත් යන්ත්‍ර 16 ක්ද, ලක්ෂ 5 ක් පැන්නොත් යන්ත්‍ර 32 ක් ද ජීවම් කිරීමේ ශක්තිය ඒ පුද්ගලයාට ලැබෙනවා. මේ විදියට උපරිම කරන්න පුළුවන් යන්ත්‍ර 32 යි. ඊට වැඩි ගාණකට බෑ. වැඩි පුර යන්ත්‍ර ජීවම් කරනකොට පොදුවේ සුබ දිනයක සුබ වේලාවකින් පහන තබා ජීවම ආරම්භ කරන්න පුළුවන්.

දන් මේ කිව්වේ පුද්ගලයින්ට පළඳවන යන්ත්‍ර ගැන. ඊළඟට මේ වගේම ගෙවල්වල පොදු ආරක්ෂාවටත් යන්ත්‍ර ජීවම් කරන්න පුළුවන්. ඒවායින් කොඩිවින ආදී බන්ධන කපන්නත් පුළුවන්. හැබැයි මෙතනදී මුලින්ම ලක්ෂයක් සම්පූර්ණ වෙනකල් තමන්ගේ ගෙදර ආරක්ෂාවට ජීවම් කරගන්න පුළුවන් ශක්තිය පමණයි ලැබෙන්නේ. මේ නිසා ලක්ෂයක් සම්පූර්ණ වෙනකල් කිසිවිටෙකත් අනුන්ගේ ගෙවල් ආරක්ෂාවට යන්ත්‍ර ජීවම් කිරීමට නොයා යුතුයි. ඒකටත් හේතුවක් තියෙනවා. මොකද ජීවම් කරන්න යමෙකුට ඇඳුරු ආරක්ෂාවක් තිබිය යුතුයි. නැත්නම් නැකැත් දෝෂ, ගෙවල්වල දෝෂ, ඒ ගෙවල්වල ඉන්න පුද්ගලයන්ගේ දෝෂ ඒ ජීවම් කරන කෙනාට වැදිල දොස් වෙන්න පුළුවන්. පුද්ගලයන්ට යන්ත්‍ර ජීවම් කරන කොටත් මේ විදියටම ඒක බලපානවා. මේ නිසා ලක්ෂය පනිනකල් අනුන්ගේ ගෙවල් ආරක්ෂාවක් කරන්න බෑ. මෙහිදී ඇඳුරු ආරක්ෂාව ලැබෙන්නෙත් ඒ ජීවම් ගාථාවෙන්ම තමයි. එහෙම නැතිව ඇඳුරු ආරක්ෂාවට කියල වෙද මන්ත්‍ර ආදිය වගේ වෙනම මන්තර නෑ. ඒ ජීවම් කරන ජීවම් ගාථාවමයි ඇඳුරු ආරක්ෂාවක් වෙන්නේ. ඒක ලක්ෂය පැන්නුවම ☞

ඉබේම ලැබෙනවා. ඒක ඇඟට සිද්ධි වෙනවා. එතකොට කෙනෙකුට ලේසියෙන් වස් දොස් කරන්න බෑ. පිටින් එන දෝසත් කැපෙනවා. එතකල් ඇදුරු ආරක්ෂාවක් නෑ. ඇදුරු ආරක්ෂාවෙන් අර වගේ දෝස කැපිල යනවා. මේ නිසා ඇදුරු ආරක්ෂාව අත්‍යවශ්‍යයෙන්ම බලවත් විය යුතුයි. පළමු ලක්‍ෂය පූර්ණ වෙනතුරු තමන්ගේ ගෙදර පමණක් ආරක්ෂා කරගන්න පුළුවන්.

හැබැයි මේ ගෙවල් ආරක්ෂාවේදී යම් කිසි ගාථාවකින් ජීවම ලක්‍ෂයක් සම්පූර්ණ වුනාම දෙවැනි ලක්‍ෂය සම්පූර්ණ වෙනකල් අනුන්ගේ ගෙවල් 1 ක් පමණක් ආරක්ෂා කරන්න පුළුවන්. අනුන්ගේ ගෙවල් ආරක්ෂා කරන හැම විටකම තමන්ගේ ගෙදර ආරක්‍ෂාවටත් පහන් තෙල්, මුහුදු වැලි, සුවඳ දුම් කුඩු ඒ සමඟ තබා ජීවම් කරගෙන අනුන්ට ආරක්‍ෂාව දුන්න වගේ ඒක කරන කල් තමන්ගේ ගෙදරත් ආරක්ෂා පහන් ආදිය තැබිය යුතුයි.

ගෙදරක ජීවමක් ආරක්ෂාවට මතුරා භාර දෙන කොට, යන්ත්‍ර පළඳවන කොට කරන ආකාරයටම බෝධි පූජා ආදිය සිද්ධ කර ආශිර්වාද ලබාගෙන ඒ ගෙවල්වලට අවශ්‍ය ප්‍රමාණයට මුහුදු වැලි, සුවඳ දුම් කුඩු, පහන් තබන්න තෙල් ආදියත් දී, දින 9 කින් පසු යන්ත්‍ර 5 හෝ 9 හෝ ජීවම් තෙල් සමග කුප්පිවලට දමා හොඳින් මූඩි සීල් කර ලබා දිය යුතුයි. මේවා වහලයේ හතර කොණ හෝ අට කොණ සහ මැද කම්බි පොටකින් එල්ලීම කරන්න පුළුවන්. නැත්නම් බිත්තිය හිල් කර ඇතුළු කර වහන්න පුළුවන්. (මේ අනුව එක් ගෙවල් ආරක්ෂාවක් සඳහා යන්ත්‍ර 5 ක් හෝ 9 ක් යොදා ගනී) කුප්පිවලට යන්ත්‍ර දැමීමේදී සූරයට දමන ක්‍රමයට අකුලා ඇතුළු කර, නවගුණ ගාථාව (ජීවම් කරන ලෙසම) හත් වරක් කියා කුප්පිවල මූඩි වැසිය යුතුයි. කුප්පි අතේ තබාගෙන මෙසේ කළ යුතුයි. ප්‍රමාණය වැඩි නම් භාජනයක තබා අතට අරගෙන කට ළඟට ළං කර මේ විදියට ජීවම් කර මූඩි වැසිය යුතුයි.

ආරක්ෂාවට මුහුදු වැලි තියන කොට සුදු හඳුන් කුඩු ග්‍රෑම් 500 ක් මුහුදු වැලි සේරු 3 කට පමණ මිශ්‍ර කළාම එක ගෙදරකට සෑහෙනවා. හිඳපු පොල් තෙල් බෝතල් 4 ක් හඳුන් තෙල් ටිකක් සමග මිශ්‍ර කර හදා ගැනීම එක ගෙදරකට ප්‍රමාණවත්. සුවඳ කුඩු ග්‍රෑම් 500 ක් පමණ හදා ගන්න. (ටී ටී කියන සාම්බ්‍රානි වර්ගය ගන්න පුළුවන්නම් වඩා හොඳයි.)

ජීවම් කර භාරදෙන කොට තෙල් බෝතල් 3 ක්ද, ග්‍රෑම් 200 ක් පමණ මුහුදු වැලි පාර්සල් 9 ක්ද, සුවඳ දුම් කුඩු ග්‍රෑම් 400 ක් පමණද එක ගෙදරකට ලබා දී ඉතිරි ඒවා තමන්ගේ ගෙදර ආරක්ෂාවට පහන් දල්වා වැලි ඉස සුවඳ කුඩු දුම් අල්වන්න තබා ගත යුතුයි.

අඟහරුවාදා, සෙනසුරාදා හැර සුබ දිනයක ආරක්ෂා කරන නිවසේ මැද කොටසේ මේසයක හෝ උස තැනක පහන තැබීම ආරම්භ කළ යුතුයි. කුඩා මූඩියක සිදුරක් හදාගෙන පහන් තිරය රිංගවා පීරිසියක් මැද තබා පීරිසියට තෙල් දමා පහනක් හදාගත යුතුයි. ටියුසරය නම් උපකරණය භාවිතා කර පහන් තිරය පිච්චිලා යන කොට උඩට ඇද ගත යුතුයි. දොස් වැඩි නම් තිරය ඉක්මනින් නිවෙන්න බලනවා. එතකොට කාරම් කට්ටය ඉවත් කරල නැවත දැල්ල උඩට ඇදිය යුතුයි. දැල්ල නිවුනොත් එවෙලේම පත්තු කළ යුතුයි. පහන දැල්වූ තැන් පටන් දින 9 ක්ම රෑ දවල් දැල්විය යුතු අතර, එය ආරක්ෂා කුප්පි එල්ලන තුරු දල්වා තැබිය යුතුයි.

මෙහිදී පිත්තල හෝ මැටි පහන් යොදා නොගන්නේ තෙල් පිච්චීම්, වාෂ්පවීම් ආදියෙන් තෙල් ටික ඉක්මනට ඉවර වෙන නිසයි. දිනකට වරක් වැලි පාර්සලයක් අරගෙන ඇඟිලි දෙකට අහුවෙන්න ටික ටික ගනිමින්, ගේ ඇතුලත හැම තැනම ඉස වත්තටත් යන්තමට ඉසිය යුතුයි. මේ දිනවල ගේ අතුගාන වැලි එළියට නොදමා අයිනකට වෙන්න තබා ලොකු රොඩු පමණක් ඉවත් කළාට කමක් නෑ. සුවඳ දුම්ද දිනකට වරක් හෝ දෙවරක් උදේ හවස ගෙදරට, ගෙදර වටේට, වත්තට දුම් අල්ලන්න. දින 9 ම ආරක්ෂා එල්ලන තුරු මෙසේ කර ඉන්පසු ඉතිරි තෙල්වලින් රාත්‍රියේ ටික වේලාවක් පහන දල්වා සුවඳ කුඩු ඉතිරියක් ඇත්නම් දුම් අල්ලන්න. මේ තමයි ගෙයක් ආරක්ෂා කරවන ක්‍රමය.

දැන් ජීවම් කර දෙන ඇදුරුතුමා විසින් ලක්‍ෂ 2 ක් පිරුණට පස්සෙ ගෙවල් 2 ක් 3 වන ලක්‍ෂය පිරෙනකල් කරන්න පුළුවන්. එතැන් පටන් ගෙවල් 4 ක් 4 වන ලක්‍ෂය සම්පූර්ණ වන තුරු කරන්න පුළුවන්. එතැන් පටන් 5 වන ලක්‍ෂය සම්පූර්ණ වන තුරු ගෙවල් 8 ක් සහ ලක්‍ෂ 5 සම්පූර්ණ වූ පසු අවශ්‍ය නම් ගෙවල් 16 ක ආරක්ෂා එකවිට කරන්න පුළුවන්. ඒ තමයි උපරිම ගෙවල් ආරක්ෂා සංඛ්‍යාව. ගෙවල් කිහිපයකට සුබ දිනයක පොදු සුබ හෝරාවකින් ජීවම් පහන් දල්වා ආරම්භ කිරීම කරන්න පුළුවන්.

පහන තබන යන්ත්‍රයක් ලොකු තහඩුවක ඇඳගෙන ජීවම් කරදෙන්න නම් පළමුවන ලක්ෂය සම්පූර්ණ වූ විට කළ යුතුයි. එක ගෙදරකට පහන් තබන යන්ත්‍ර 3ක් දෙන්න අවශ්‍ය වුනොත් පළමුවෙනි ලක්ෂය පිරුණට පසු තුන් වතාවකදී ජීවම් කළ යුතුයි. යන්ත්‍ර තුනම එකට තබා ජීවම් කරනවනම් ලක්ෂ තුනක් සම්පූර්ණ වූ පසු කළ යුතුයි.

සියල්ලන්ගේම මුහුදු වැලි, තෙල්, සුවඳ දුම් කුඩු ඒවායේ වර්ග අනුව එකම බඳුන්වල තැන්පත් කරගන්න පුළුවන්. ඒ වගේම මේ සෙත් කරන්න තියන හැම බඳුනක්ම (තෙල්, ජලය, වැලි....) බුලත් කොල තුනක් මත තැබිය යුතු අතර බුලත් තබනකොට එහි අග කෙළවර ඇතුලටත් ගහට සවි වූ නැට්ට පැත්ත පිටතටත් සිටින සේ රවුමට තැබිය යුතුයි.

එක් එක් ගෙදරකට අවශ්‍ය යන්ත්‍ර ගණන වෙනම එකතු කර නූල් රවුම් 3 බැගින් ඔතාගෙන පසුව ඒ සියල්ලම එක මිටියට අහුවෙන්න රවුම් 7 කින් ඔතා මල් ආසනය මත තබා ගත යුතුයි. ගෙවල් ආරක්ෂාවන් සමඟ පුද්ගලික යන්ත්‍ර එකට ජීවම් නොකරන්න. ආරක්ෂා වෙන වෙනමත්, කරට බඳින යන්ත්‍ර වෙනමත් ජීවම් කර තබා ගන්න. ඇදුරුතුමන්ට ජීවම් සිද්ධි ලැබුණු විට පෙර පරිදිම යන්ත්‍ර කිහිපයක් එකට තබා පොදුවේ ජීවම් කර ගෙන තියාගන්න පුළුවන්. ඉන්පසු කවුරුහරි ඇවිත් තමන්ට ගැලපෙන යන්ත්‍රයක් ඉල්ලුවොත් යන්ත්‍ර බඳින්න අවශ්‍ය අයගේ නම, ලිපිනය ලියූ කොළයක් අතට ගෙන ඔහුට හෝ ඇයට සුදුසු යන්ත්‍ර තහඩුව පෙනේවායි සිතා ජීවම් කළ යන්ත්‍ර විසිරුවා ඒ දෙස බලන කොට අනෙක්වාට වඩා දිලිසෙමින් අදාල පුද්ගලයාට සුදුසු යන්ත්‍රය පෙනෙන්න පටන් ගන්නවා. මේ විදියට යන්ත්‍ර තේරීම අත්දැකීමෙන් පුරුදු කරගන්න පුළුවන්.

ඊළඟට මේ ජීවම් කිරීමේදී යන්ත්‍ර වෙනුවට අවශ්‍ය නම් තෙල්, ජලය, වැලි ආදියත් ජීවම් කරගන්න පුළුවන්. මේ නිසා අර ලක්ෂය හෝ ඊට වැඩි ගණනක් සම්පූර්ණ වීම මේ වගේ ද්‍රව්‍ය ජීවම් කරලත් ලබාගන්න පුළුවන්. හැබැයි මෙතනදී යම් කිසි කෙනෙක් තමන්ගේ නමට පෞද්ගලිකව තෙල්, ජලය ආදිය ජීවම් කරගත්තොත් ඒක තමන්ට විතරයි පාවිච්චි

කරන්න පුළුවන්. ගෙවල් ආරක්ෂාවට ඒක යොදාගන්න බෑ. අඩු ගණනේ ගෙදර පහනකටවත් ඒක දමන්න බෑ. ඒවගේම තමයි ගෙවල් ආරක්ෂාවට කරපු තෙලක් පුද්ගලික පාවිච්චියට යොදාගන්නත් බෑ. හැබැයි අවශ්‍ය නම් පුද්ගලයෙක් හෝ ගෙයක් නැතිව පොදුවේ සියළු දෙනාටම පාවිච්චිය සඳහා ගන්න කියල ජීවම් කරන්න පුළුවන්. තාවකාලිකව හිස ගල්වන්න වගේ දේකට මිසක් ලොකු වැඩකට ඒක යොදාගන්න බෑ. මෙහිදී පුද්ගලයෙකුට නම් පසුගිය කලාපවලින් පෙන්වා දුන් පරිදි ඒ පුද්ගලයාගේ උපන් නැකතට හෝ නමට ගැළපෙන පරිදි නැකැත් වෙලාවක් යොදාගන්න පුළුවන්. ගෙවල් ආරක්ෂාවේදී ඒ ගෙදර ගෘහ මූලිකයාගේ නමට ගැළපෙන නැකතක් තමයි යොදාගන්න ඕන. ගෙවල් කිහිපයක් නම් පොදු නැකතක් යොදා ගන්න පුළුවන්.

ඒ වගේම ගෙවල් ආරක්ෂාවට තෙල් බඳුන තියන කොට තෙල තනිවෙනවට රත්රන් කැබැල්ලක් හැම විටම තෙල් බඳුනට දැමිය යුතුයි. සියලු දෙනාගේම පොල් තෙල් එක බඳුනකට දමාගෙන ඒ තුළට රත්රන් කැබැල්ලක් දැම්මම ප්‍රමාණවත්. ජීවමෙන් පසු අනෙක් අයට තෙල් බෙදා දීල තමන් ළඟ ඉතිරි වෙන තෙල් භාජනයේ ඒ රත්රන් කැබැල්ල තබාගත යුතුයි. නැවතත් ජීවමකදී ඒ රත්රන් කැබැල්ල යොදාගන්න පුළුවන්. තෙල තනිවෙලා අමනුස්සයො ජරාව දාන එක නවත්වන්නයි මෙහෙම කරන්නෙ.

අනෙක් කාරණය තමයි මේ විදියට යන්ත්‍ර නැතිව තෙල්, ජලය ආදිය ජීවම් කරන කොට ඒවා ඕනෑම ප්‍රමාණයක් එකවරකට යොදාගන්න පුළුවන්. උදාහරණ විදියට එක ජීවමකදී පොල් තෙල්, ජලය, මුහුදු වැලි මිශ්‍ර හඳුන් කුඩු, විවිධ සුවඳ දුම් ආදිය වෙන වෙනම භාජනවල තබා එකවර ජීවම් කරගන්න පුළුවන්. මෙහිදී හැම භාජනයකටම ඉරටු 3 බැගින් දමා ගත යුතුයි. පළමුවම එක භාජනයකට දමාගත් ඉරටු තුනේ මුදුන්වල නූලෙන් වට 3 ක් පමණ ඔතා ගෙන එහි කෙළවර ඊළඟ භාජනයට දැමූ ඉරටු තුන වටා වට 3 ක් පමණ ඔතා එයින්ද ඉතිරිවන කෙළවර තවත් භාජනයකට දැමූ ඉරටු තුන මුදුනේ වට 3 ක් ඔතා මේ ආදී ලෙස ගත යුතුයි. හරියට පිරිතක් කියන කොට පිරිත් නූල විවිධ පුද්ගලයන්ගේ අතේ එකින් එක පටලවා ගන්නවා වගේ. එතකොට එහෙම ඔතලා අර මුල් භාජනයේ ඉරටුවල ඔතපු නූලේ මුල් කෙළවර තමයි ජීවම් කරන්න තමන්ගේ අතට ගත යුත්තේ.

මෙතනදී තවත් වැදගත් කාරණයක් තමයි අර කලින් සඳහන් කරපු ආකාරයට යන්ත්‍ර ජීවම් කරන කොටත්, යන්ත්‍රයේ ඔතා ගත් පසු ඉතිරි වන කෙළවර අවශ්‍ය නම් අර පොල්තෙල්, ජලය ආදී භාජනවලට දැමූ ඉරටුවල ඔතා පෙර පරිදිම යන්ත්‍රයත් සමඟම ජීවම් කර ගන්නත් පුළුවන්. එතනදී පළමුවෙන්ම ඔතන්නේ යන්ත්‍රය බවත් මතක තබා ගත යුතුයි. යන්ත්‍රය එතීමෙන් පසු ඉතිරිවන නූලෙන් තමයි අර ද්‍රව්‍ය සෙත් කරන්න ඔතන්නේ. මේ විදියට ජීවම් කර ගත් වැලි, ජලය භූමියට හා ගෙදර ආරක්ෂාවට ඉහින්න පුළුවන්. ඒ වගේම සුවඳ දුම් ආදියත් අඟුරු කබලකට දමා ආරක්ෂාවට දුම් අල්ලන්න පුළුවන්. පොල්තෙල්වලින් ආරක්ෂාවට පහනක් පත්තු කරගන්න පුළුවන්. පුද්ගලිකව කරගත්තොත් හිස ගල්වන්න යොදා ගන්න පුළුවන්. හැබැයි ගෙදර ආරක්ෂාවයි, පුද්ගලික ආරක්ෂාවයි දෙක එකට කරන්න බෑ.

ඊළඟ වැදගත් කාරණය තමයි මේ විදියට ජීවම කරගෙන යන කොට යම්කිසි ගාථාවක් පැටළුනොත්, ඒ ගාථාව පැටළුණු තැන පටන් වැරදිච්ච කොටස නැවත හදල කියන්න පුළුවන්. උදාහරණ විදියට 50 වාරයක් කියල 51 දී පැටළුණොත් 51 දී පමණක් නැවත මුල ඉඳන් කියන්නත් පුළුවන්. නැත්නම් පැටලිච්ච කොටස පමණක් කියන්නත් පුළුවන්. ඒ වගේම ජීවම අවසානයේදී යම්කිසි කෙනෙකුට සැකයක් ඇතිවුණොත් අවශ්‍ය වාර ගණන නිවැරදිව කියවුණාද කියල ඒ මදි පාඩුවට වැඩිපුර ජීවම කරගන්නත් පුළුවන්. මොකද වරදින, පැටළෙන ඒවත්, වැඩිපුර කියවෙන ඒවත් පලිප්පු කරන කොට සුද්ධ වෙලා යනවා. ඒ සියළු දෝෂ කැපෙන්න තමයි පලිප්පු කරන්නේ.

ඊළඟ කාරණය තමයි ජීවම කරන කොට ජීවම් වාර ගණින්න නවගුණ වැලක් භාවිතා කරනව නම් සහ ඒ ජීවම පෞද්ගලිකව තමන්ට කරගන්නව නම්, නවගුණ වැලේ ඇට එකින් එක තමාගේ පැත්තට එන ලෙසයි ගැණිය යුත්තේ. අනුන්ට කරනව නම් ඉවතට යන පරිදි ඇට එකින් එක තල්ලු කළ යුතුයි.

ඊළඟට මේ ජීවම් කිරීමේදී යොදා ගන්නා ආසනය අඩි 4 ක් උසින් යුක්ත විය යුතු බව 13 වන කලාපයේ සඳහන් කළා. මේ අඩි 4 ක් කිව්වේ ආසන්න වශයෙන්. සාමාන්‍යයෙන් තමන් ඉඳගත්තම තමන්ගේ පපු මට්ටමට හෝ ඊට ඉහළින් තිබිය යුතුයි. ඒ අනුව උස වෙනස් වුණාට ගැටළුවක් නෑ.

යන්ත්‍රය පැළඳවීමේදී අදාල පුද්ගලයාට තනිවම හෝ වෙනත් කෙනෙකු ලවා එය පළඳවා ගන්න පුළුවන්. හැබැයි තමන්ම කරපු එකක් නම් විතරයි තමන්ටම පළඳවා ගන්න පුළුවන් වෙන්නෙ. වෙන කෙනෙක් ජීවම කළොත් ඒ ඇදුරුතුමා හෝ සිද්ධි ලබපු වෙනත් කෙනෙක් විසින් සුරය පැළැන්දවිය යුතුයි. වෙනත් කෙනෙකු ලවා පළඳවනකොට දෙදෙනාම සුභ දිසාව බලාගෙන පැළඳවිය යුතුයි.

ඊළඟ කාරණය නම් යන්ත්‍ර පැළඳවීමේදී ඒ සඳහා සුදු හෝ කහ පාට නූලක් යොදා ගත යුතු අතර, යන්ත්‍රය කරේ හෝ ඉනේ පළඳින්න පුළුවන්. වෙනත් යන්ත්‍ර මෙන් බුදු ගුණ යන්ත්‍ර කිල්ලට අසු නොවන නිසා මළගෙවල්වල හෝ වෙනත් කිලි ස්ථානවලට යාමෙන් කිසිදු ගැටළුවක් ඇතිවෙන්නෙ නෑ.

අවසාන වශයෙන් දැනගත යුතු වැදගත් දෙයක් තමයි මේ යන්ත්‍ර වෙන කාට හරි කියල ඇඳගත්තත්, ජීවම තමන්ටම කරන්න පුළුවන් නම් අර වගේ ලක්ෂ වාරයක් සම්පූර්ණ වුණාම තමන්ට පෞද්ගලිකවම ආරක්ෂාවක්, රැකවරණයක් එයින් ලැබෙනවා. ඒක තවත් වැඩිවෙන්න වැඩිවෙන්න බාහිර පුද්ගලයන් විසින් කරන අණවිණ, කොඩිවින, වස්දොස් ආදිය වදින්නේ නැතිව යනවා. ඒ නිසා තමන්ට කරන්න පුළුවන් නම් එය පෞද්ගලිකවම තමන්ට හොඳයි.

තවත් කිව යුතු විශේෂ දෙයක් තියෙනවා. රන් පත්‍රවල යන්ත්‍රය අන්දවන කොට තහඩුව අඳින්න පෙර එහි කොණක් උරගා බලා වටිනාකමට රන්බර ප්‍රමාණයක් ඇත්දැයි කියා පරීක්ෂා කර බලන්න. ඒ වගේම යන්ත්‍රය අඳින කොට එහි වාටි ආදිය කැපුනොත් අදාල හිමිකරුට ඒ රන් පත්‍ර කැබලි ප්‍රවේසම් කර භාරදීම ඔබගේ අවංකභාවය බවත් සලකන්න. යන්ත්‍රය ඇඳ ජීවම් කළාට පසු යම් සැකයක් ඇත්නම් කිරා බලන්න පුළුවන්. ජීවම් කළ පසු උරගා නොබලන්න. රත්රන් හඳුනන කෙනෙක් ලවා සැක නම් පරීක්ෂා කරගන්න. ඇදුරුතුමන්ලා ඊට උරණ නොවිය යුතුයි. අවංකත්වයට නිතර මුල්තැන දිය යුතුයි.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අනේ අනිච්චං දුක්ඛං....

පැරණි ගැමි ව්‍යවහාරයේ පැවතුණ බොහෝ දහම් වැකි අපිට අදත් ඉඳල හිටල අහන්න ලැබෙනවා. එවැනි වැකි කිහිපයක් තමයි 'අනේ අනිච්චං, අනිච්චං දුක්ඛං, අනිච්චේ දුක්ඛේ, අනිච්චං දුක්ඛං අනත්තං.... ' ආදී වශයෙන් අර්ථ දැන නොගෙන හරි අදත් ඉඳල හිටල අහන්න ලැබෙන්නේ. **අපේ පැරැන්නන් මේ වැකි භාවිතා කළේ මොන වගේ අවස්ථාවල්වලද කියල බැලුවොත් දහම් අර්ථයට ගැලපෙන අවස්ථාවකමයි ඒවා භාවිතා කරල තියෙන්නේ.** හැබැයි අනිත්‍යයි, දුක්ඛයි කියල කියපු කතා නම් අහන්න නෑ. **දුකක් කරදරයක් ආවම ලෝකය කැමති සේ නොපවතින අවස්ථාවක තමයි මේ වගේ වචන එදා ප්‍රකාශ කළේ.**

සැම බුදු පියාණන් වහන්සේ නමක්ම ලෝකයාට දේශනා කරන්නේ අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ධර්මයයි. වෙනත් විදිහකින් අසූ හාරදහසක් ධර්මස්කන්ධය කියල කියන්නෙත් මේ කියන ත්‍රිලක්ෂණය මුල් වෙලා ගොඩනැගුණු දහමටම තමයි. ලෝක සත්වයා ඉන්නේ අසූ හාරදහසක් විවිධාකාර අදහස්වල නිසා ඒ සියලුම අදහස්වල යථා තත්වය හරියාකාරව අවබෝධ කර ගන්න, ඉන්නා වූ ලෝක සත්ත්වයාට අවබෝධ කර ගන්න පුළුවන් ආකාරවලින් දේශනා කරපු දහම තමයි අසූ හාරදහසක් ධර්මස්කන්ධය කියල කියන්නේ. බුදු පියාණන් වහන්සේගෙන් හෝ උන්වහන්සේගේ ධර්මය අසා අවබෝධ කරගත් ආර්ය උත්තමයෙකුගෙන් පරතෝඝෝසක ප්‍රත්‍ය ලෙස සත් පුරුෂ සංසේවනයෙන් ලැබුණ මේ දහම අහල නුවණින් මෙනෙහි කිරීමත්, ධම්මානුධම්ම පටිපදාවත් සම්පූර්ණ වුනාමයි ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත ලෙස වැටහෙන්නේ. මේ ලක්ෂණ තුනෙන් මොකක් වැටහුනත් අනෙක් ලක්ෂණ දෙකත් ඒ මොහොතේම වැටහීම ධර්ම සිද්ධාන්තයක්. අනිච්ච වැටහෙන කොට දුක්ඛ ලක්ෂණයත්, අනත්ත ලක්ෂණයත් වැටහෙනවා. අනත්ත ලක්ෂණය වැටහුණ කෙනෙකුට අනිච්ච ලක්ෂණයත්, දුක්ඛ ලක්ෂණයත් වැටහෙනවා.

ආර්ය බීජය හටගන්නේ සෝතාපන්න අංග වූ සද්ධර්ම ශ්‍රවණය, කල්‍යාණ මිත්‍ර සේවනය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම පටිපදාව කියන්නා වූ කාරණා හතර සම්පූර්ණ වීමෙන්. ආර්ය පුද්ගල අට දෙනාගෙන් පළමු ආර්ය ශ්‍රාවකයා තමයි සෝවාන් මාර්ග අනුගාමිකයා. ඉහත කියන්නා වූ අනිච්ච, දුක්ඛ, අනත්ත ලෝක ස්වභාවය අවබෝධයෙන් දැකපු මොහොතක යම් පුද්ගලයෙක් පලමු මාර්ග අස්ථයට පැමිණීම හෙවත් මාර්ගයේ කෙළවරට පැමිණීමත් සමග ඊළඟ චිත්තක්ෂණයේදී නිවනේ ශාන්තිය අත්දකිමින් පිහිටීම සෝතාපන්න ඵලය ලෙස හඳුන්වනවා. බුද්ධ කාලයේ බොහෝ සූත්‍රවල සඳහන් වෙන්නේ සෝතාපන්න මාර්ගයත්, ඵලයත් එකවිට පූර්ණ කරපු අවස්ථාවන්. යම් ආර්ය ශ්‍රාවකයෙක් ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත ලෙස දැකීමේ දර්ශන ඥානය පූර්ණ වීමත් සමග ඊළඟ ආසන්න මොහොතේ නිවනේ ශාන්තිය අත් දැකීමයි ඵලයට පැමිණුනා කියන්නේ. ලෝක සත්වයා සසරට බැඳී තියෙන්නා වූ සත්කාය දෘෂ්ටියත්, විචිකිච්චාවත්, සීලබ්බත පරාමාසයත් කියන්නා වූ සංයෝජන ධර්ම ප්‍රහීන කළා කියන්නේ අනිච්ච, දුක්ඛ, අනත්ත ලක්ෂණය දැක්කා, නිවනේ සුවය දැක්කා කියන එකයි. ලෝකය පිළිබඳව ගත්තා වූ සංඥා



විපරියාසයත්, චිත්ත විපරියාසයත් පහවෙලා යන්නේ අනෙක් සංයෝජන 7 ප්‍රහීන වෙන ආකාරය අනුවයි.

එහෙනම් කෙනෙක් අරිහත්වයට පැමිණෙන්නේ අනිච්ච, දුක්ඛ, අනත්ත දැකීම, නිවනේ ශාන්තිය දැකීම හා පූර්ණ වීම හේතු කරගෙනයි. මේ වැටහීම පූර්ණ කරන්නා වූ අවස්ථා අනුව පැමිණෙන්නා වූ ඵලයන් ද වෙනස් වෙනවා. එක් අවස්ථාවක භික්ෂුන් වහන්සේ නමක් රහතන් වහන්සේ නමකගෙන් අහපු ප්‍රශ්නයකට දුන් පිළිතුර නම්, කෙනෙක් සෝතාපන්න ඵලයට පැමිණීමට අනිච්ච, දුක්ඛ, අනත්ත නුවණින් මෙනෙහි කළ යුතු බවත්, සකෘදාගාමී ඵලයට පැමිණීමට අනිච්ච, දුක්ඛ, අනත්ත නුවණින් මෙනෙහි කළ යුතු බවත්, අනාගාමී ඵලයට පැමිණීමට අනිච්ච, දුක්ඛ, අනත්ත නුවණින් මෙනෙහි කළ යුතු බවත්, අරිහත් ඵලයට පැමිණීමට අනිච්ච, දුක්ඛ, අනත්ත නුවණින් මෙනෙහි කළ යුතු බවත් ය. අරිහතුන් වහන්සේත් ඉහාත්ම සුඛ විහරණය සඳහා අනිච්ච, දුක්ඛ, අනත්ත මෙනෙහි කරන බව දේශනා කරල තියෙනවා. මේවා ත්‍රිපිටක ධර්මයේ බුද්ධ අනුමැතිය ලැබූ දේශනාවන්. මේ අනුව අපට වැටහෙනවා **අනිච්ච ලක්ෂණය කියන්නේ අරිහත් ඵලය දක්වාම වැඩෙන ධර්ම කාරණාවක් බව.** එහෙනම් අනිච්චයි කියන්නේ මොකක්ද?

ආර්යයාට නිවන ඉච්චයි, ලෝකය අනිච්චයි. නිවෙන්නේ අත් හැරුණු ප්‍රමාණයටයි. අත් හැරීමයි ආර්යයාගේ කැමැත්ත. ලෝකයාගේ කැමැත්ත එක්වීමයි. මේ එක්වීමේ කැමැත්ත නිසා පැවැත්මක් තියෙනවා. පැවැත්මක් ඇත්නම් හටගැන්මක්, විපරිණාමයක්, වැනසීමක් විද්‍යමානයි. මේ කාරණය අබුද්ධෝත්පාද කාලයේත් එසේම සිද්ධ වෙනවා. නමුත් බුදු කෙනෙක් ලෝකයට පහළ වෙලා දේශනා කරන තුරු ඒක ලෝකයාට විද්‍යමාන වෙන්නෙ නෑ. අනිච්ච දැකල කෙලෙස් ගිනි නිවුනු තරමටයි ලෝකයෙන් එතෙර වෙන්නේ. ලෝකයේ පැවැත්මක් ඇතිවෙන්නේ අවිද්‍යාවත්, තණ්හාවත් කියන්නා වූ මුලා අදහස නිසයි.

"කම්මා විපාකා වත්තන්ති
- විපාකෝ කම්ම සම්භවෝ
තස්මා පුනබ්භවෝ හෝති
- ඒවං ලෝකෝ පවත්තති"

කර්මයක් කළාම විපාකයක් සකස් වෙනවා. ඉන්ද්‍රියන් පිනවීමේ බලාපොරොත්තුව නිසා, ඒවා යලි යලිත් ගොඩ නැගීමේ බලාපොරොත්තුව නිසාම ඇස, කන, නාසය, දිව, ශරීරය, මන සහිත කයක් සහ ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන්නා වූ ඵලයන් හටගන්නවා. මේ ලැබුණු විපාකයෙන් නැවතත් අවිද්‍යා සහගත මුළා අදහස නිසාම නැවතත් භවයක් සකස් වෙනවා. අනිච්ච පූර්ණ දවසකයි, නිවන් සුව අත්දුටු පමණටයි මුළා අදහස් අත් හැරෙන්නේ. එතකොට තමයි නිවන ඉච්චයි, එනිසාම නිසියි හෙවත් නිච්චයි, ලෝකය අනිච්චයි කියන අදහස වැටහෙන්නේ. නැවත භවයක් හදන බීජය තියෙන්නේ අභ්‍යන්තර ආයතන හයත්, බාහිර ආයතන හයත් ඇසුරු කරගෙන ගොඩනගන කර්ම භවය ඇතුලේ. මේවා අනිසි, පරිහරණයට සුදුසු නැති ඒවා බව වැටහුනොත් ඒ තමයි අනිච්ච අවබෝධය.

අනිසි දේ පරිහරණය නිසා දුකට පත්වෙන බව දකිනවා. අනිච්ච වැටහීම දුක්ඛ ආර්ය සත්‍යය වැටහීමට හේතු වෙනවා. විමසා බලන්න. මේ චතුරාර්ය සත්‍යය අවබෝධයේදී වැටහෙන අවිද්‍යාවත්, තණ්හාවත් කියන්නා වූ දහම් කාරණාවන් තියෙන්නේ කොතනද? දුක ඇති වීමට හේතුව තණ්හාව බව ☞

අපි දන්නවා. තණ්හාවක් ඇති වෙන්නේ හොඳයි, වටිනවයි කියල නිගමනය කරපු ප්‍රිය මධුර දේ නිසයි. එහෙනම් අපිව මානසික දුකට පත් කරන්නේ වටිනවයි කියල ගත්ත ප්‍රිය මධුර ස්වභාවයයි. අවිද්‍යාව නම් එයට ඇලීමයි. අපි මේ දහම් නුවණින් විමසන කොට එකකට එකක් පරස්පර නොවී ධර්මයට බහා හිටින බව වැටහෙනවා. බුදුපියාණන් වහන්සේ මේ දහම මොන තරම් පැහැදිලිව මනා කොට පෙළ ගස්වල දේශනා කරල තියෙනවද කියල දැනෙන කොට මහා බුද්ධ ගෞරවයක් ප්‍රසාදයක් ඇතිවෙනවා.

මේ අනිච්ච වූ, දුක්ඛ වූ, අනත්ත වූ දහම වැටහෙන කොට බුදුන්, දහම්, සඟුන් කෙරෙහි අවෙච්ච ප්‍රසාදයක් ඇතිවෙනවා (අව+ඉච්ඡ-ඉච්ඡත්වය අඩුවීම නිසා ඇතිවන පැහැපත් බව හෙවත් නිවුනු සැනසුනු ස්වභාවය). පෙර ලෝකයේ ඉච්ඡ ලෙස දැකපු දේවල් අනිච්ච ලෙස දකිනවා. සැපක්, සුබයක් විඳින්න කැමැත්තක් හදාගත්තම ඒක දුකට මුල බව වැටහෙනවා. අවිද්‍යාවෙන් ගොඩනගන බලාපොරොත්තු කෙළවරක් නෑ. එක ආස්වාදයක් විඳින කොට තව ආස්වාද දහයක් බලාපොරොත්තු වෙනවා. සිතින් ගොඩනගන මේ පංචකාම බලාපොරොත්තු කිසි දාක අපි කැමති විදිහට ඉටුකරගන්න බැරි බව හා දුක්වලට මුල බව වැටහීමයි අනිච්ච ස්වභාවයේ වැටහීම. එහෙනම් **අනිච්ච වැටහෙන්නේ බුද්ධ ශාසනයක් තුළ පමණයි.** අට්ඨ පුරිස පුද්ගලා කියන්නා වූ ආර්ය ශ්‍රාවකයෙක් බවට පත්වෙන්නේ ලෝකය අනිච්ච ලෙස දැකීමෙන් සහ නිවන නිච්ච ලෙස දැකීමෙන්.

ලෝකය කැමති සේ නෑ. අපිව පෙළනවා. පෙළන අදහසින් අනිච්ච කියනවා. උෂ්ණයෙන් පෙළෙනවා. සීතලෙන් පෙළෙනවා. පිපාසයෙන් පෙළෙනවා. ලෙඩ රෝගවලින් පෙළෙනවා. සතුරු කරදරවලින් පෙළෙනවා. රූප නිසා ඇස පෙළෙනවා. ශබ්ද නිසා කන පෙළෙනවා. ගන්ධ නිසා නාසය පෙළෙනවා. රස නිසා දිව පෙළෙනවා. පහස නිසා කය පෙළෙනවා. ධර්ම නිසා මන පෙළෙනවා. මේවා කොච්චර තිබුනත් මතුවටත් ඇත්නම් කියල බලාපොරොත්තුවෙන් පෙළෙනවා. අපිව ප්‍රධාන වශයෙන් මානසික දුකට පත් කරන්නේ අනිච්චතාවයි. එහෙනම් **සංඛාර දුක්ඛයත් (යම් බලාපොරොත්තුවක් ඉටුකර ගැනීමට විඳින කායික මානසික වෙහෙස), දුක්ඛෙ දුක්ඛයත් (යම්කිසි කයකට උපතින්ම ලැබෙන්නා වූ වේදනා සහිත පෙළීම්), විපරිනාම දුක්ඛයත් (තමාගේ බලාපොරොත්තු පරිදි නොවන වෙනස් වීමෙන් ඇතිවන අසහනකාරී මානසිකත්වය)** ලැබෙන්නේ අනිච්ච නිසා හෙවත් පෙළෙන නිසා. උදාහරණයකින් පැහැදිලි කරනවනම්, ක්‍රිකට් තරගයක් නරඹන්න යන කෙනෙක් ඊට පෙර මුදලක් සොයාගන්න, ඇඳුම් සකස් කරගන්න, යාළුවෝ එකතු කරගන්න, වාහන පහසුකම් සපයා ගන්න... ආදී වශයෙන් කරන්නා වූ වැඩ කොටසක් ඇත්නම් ඒවා අනිච්ච වූ සංඛාර දුක්ඛයන්. තරඟය නරඹන අවස්ථාවේ ඇසට දර්ශනය කරගන්න බැරිව ආස්වාදයට බාධාවක් වුණා නම් හෝ බාහිර බාධාවක් වුණොත් එයින් දුකට පත් වෙනවා. ඒවා අනිච්ච නිසා ඇති වන දුක්ඛෙ දුක්ඛයන්. තරඟය අවසාන වෙලා පැරදුණොත් කොහොමත් දුක එනවා. දිනුවා හෝ පැරදුණා හෝ ආපසු පැමිණීමේ දුකක් තියෙනවා. මහන්සියි. තරඟයේ ආස්වාදය අවසන් වුනාම, පසුව ඇතිවන්නා වූ දුක් ගොඩක් තියෙනවා. දිනුවත් බලාපොරොත්තු වෙච්ච ආකාරයෙන් නෙවෙයි ඒ දිනුම ලැබුනේ, ඊට වඩා ලොකු ජයග්‍රහණයක් බලාපොරොත්තු වුනා. ඒවා තමයි අනිච්ච නිසා ඇතිවන විපරිණාම (පරිණාමය කැමති විදිහට සිද්ධ නොවීම) දුක්ඛයන්.

මේ විදිහට අනිච්ච ලක්ෂණය උදයංගම, අත්තංගම, ආස්වාද, ආදීනව, නිස්සරණ කියන්නා වූ සෑම අවස්ථාවකම විද්‍යමාන වෙනවා. බුදු පියාණන් වහන්සේ ගිරිමානන්ද සූත්‍රයේදී සබ්බ සංඛාරේසු අනිච්ච සංඥා යනුවෙන් දේශනා කළේ අට්ටීයති, හරායති, ජිගුච්ඡති කියලයි. අට්ටීයති - ඇට වාගේ, මස් ලේ නැති ඇට බලු ලෙවකනව වගේ කුසක් නම් පිරෙන්නෙ නෑ. අත්හරින්නෙත් නෑ. කාමයත් මේ වගේ අත් නොහරින, ඉවරයක් නොවන දෙයක්. පෙළෙන්නෙ නැති තැනක් නෑ. පෙළෙන හිත කය අනිච්චයි. පෙළෙනවට කැමති නෑ. ඒත් පෙළෙනවා. හරයක් හෙවත් ඇද නැති කොවුලක් හොයන කෙනෙක් කෙසෙල් ගහක් පතුරු ගලවල කොවුලක් (අරටුවක්) හොයනව නම්, ඒවගේම පෙන පිඬක, දිය බුබුලක, මිරිඟුවක, මායාකරුවෙකුගේ රැවටිල්ලක හරයක් හොයනවනම් හරයක් ලැබෙයිද? කය පිළිබඳව මම හරි සුදුයි, මම හරි හැඩයි... ආදී වශයෙන් සිතනවනම් ඒ පුද්ගලයාගේ සිතිවිල්ල හරයක් ඇති සිතිවිල්ලක් ද? මේ තමයි හරායති. මේවා මළ මුත්‍රා වගේ. පිළිකුල් සහගතයි. වටිනාකමක් ඇති ඒවා නෙවෙයි. ඒ නිසයි ජිගුච්ඡති කිව්වේ. මේ ආස්වාදයන්ගේ ආදීනවයන් දැක්ක නම් අනිච්ච දැක්ක වෙනවා. මේ අට්ටීයති, හරායති, ජිගුච්ඡති කියන වචන තුනට මෙකල අර්ථ පෙන්වන්නේ පෙළෙන, ලැජ්ජා විය යුතු, සෑම අතින්ම පිළිකුල් කියලයි. අදහස් වශයෙන් ගත්තම එතැනත් වරදක් පේන්න නෑ.

සබ්බං අනිච්චං - සියල්ල අනිච්චයි කියලයි කිව්වේ. සිය+අල්ල නම් අල්ලගත්ත ප්‍රමාණය තමාට දුක් දෙන්නේ, තමා අල්ලගත් ප්‍රමාණයෙන්. එහෙනම් අනිච්චයි කිව්වේ අනිසි අර්ථයෙන්. පරිහරණයට සුදුසු නැති දේ පරිහරණයෙන් දුකම දෙනවා. ආස්වාදයන්ගේ ආදීනවය කියන්නේ පෙර හටගත්තා වූ හේතු නවයක ඵලයයි. මෙවැනි භවයකට පත් වුණේ උපාදානය හේතුවෙන්. එසේම තණ්හාව, වේදනාව, ස්පර්ශය, සළායතන, නාමරූප, විඤ්ඤාණ, සංඛාර, අවිද්‍යාව කියන්නා වූ, ආදියේ හටගත් හේතු නවය නිසා ඇති වූ ඵලයකින් බව වැටහෙනවා. ආස්වාදය ආස්වාදය ලෙස දකින්න, ආදීනවය තතු සේ දකින්න කියල බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. උදයංගමයත්, අත්තංගමයත්, ආස්වාදයත්, ආදිනවයත්, නිස්සරණයත් නොදැක ලෝකය තමන්ට කැමති සේ පවත්වන්න හිතනවනම් එවැනි ක්‍රියාවලට 'අනේ අනිච්චං' කියන එක නුසුදුසුද? අනේපිඬු සිටුතුමාට කිව්වේ අනාථ පිණ්ඩික කියල. අනේ කිව්වේ අනාථ කියන එකයි. ඒ කියන්නේ මේ සසර ගමනත් අනාතයි. මේ අනිච්ච වූ වැඩපිළිවෙල දුක් දෙන අනාථ එකක්මයි කියල පූර්ණ ලෙස අවබෝධ වුනානම්, ඒ අනුව ප්‍රත්‍යක්ෂ වුනානම් ඒ ආර්ය මාර්ගයේ කෙළවරයි, අරිහත්වයයි.

මේ හේතුව නිසාම අපේ පැරැන්නන් යම් කිසි වැඩක් භාර ගත්තොත්, එහෙම නැත්නම් පොරොන්දුවක් වුනොත් කිව්වේ, "ජීවත් වෙලා හිටියොත් කරල දෙන්නම්, ලැබුනොත් කරල දෙන්නම්...." ආදී වශයෙන්. ඒ කියන්නේ ඒ වැඩේ, පොරොන්දුව ඉෂ්ට කරල දෙනකල්වත් ජීවිතය පවතීද කියල බලාපොරොත්තු තියන්න බැරි බවක් තමයි එයින් හැඟුනේ. එදා තිබිච්ච දහම් අවබෝධය නිසා තමයි එහෙම කිව්වේ. අදත් අනුරාධපුර, පොළොන්නරුව වගේ සමහර ප්‍රදේශවල පිරිමියෙක් ගෙදරින් එළියට බහින කොට, මොනව හරි එනකොට ගේන්න කියල භාර්යාව ඉල්ලීමක් කළොත් ඔවුන් කියන්නේ "ආයෙ එන්න ලැබුනොත් ගේන්නම්, බලන්නම්....." ආදී ලෙසයි. අනවබෝධයෙන් වුනත් පැරණි සම්ප්‍රදායන්ට අනුව ඔවුන් එහෙම කියනවා. නමුත් අද සමාජයේ මෙහෙම කිව්වොත් මොකක්ද දෙන උත්තරේ? "නොදෝකින්මයි (නොදකින් - දකින්නම නොලැබේවා), චික් විතරක් කියන කට කැඩිච්ච කතා, නොසන්ඩාල කතා....." මෙහෙම කියල දොස් කියනවා. නමුත් එදා මිනිස්සු දහම් අවබෝධය ඇතිව හිටපු නිසා අනිච්චතාවය, කැමති සේ නොපවතින බව දැනගෙන හිටපු නිසා අර විදියට උත්තර දුන්නා. නමුත් අද ඒක බොහොම අසුභ ප්‍රකාශයක් හැටියට සළකන්නයි පුරුදු වෙලා ඉන්නේ. හරි දහම යටපත් වෙලා වැරදි අර්ථ නිරූපණයක් දීපු නිසා තමයි මෙහෙම සිද්ධ වෙලා තියෙන්නේ.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**පුන්සිරි කොස්තා**
**පිටිපන**

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

6 වන කොටස

යම ලෝකය ගැන විශේෂ විග්‍රහයක් පසුගිය කලාපයෙන් ඉදිරිපත් කළා. එහිදී යම ලෝකය කියන්නේ මනුස්සයින් විසින් සංඛාර මූලික කරගෙන ගොඩ නගාගත් ලෝකයක් නිසා ඒවායේ දෙන දඬුවම් වුනත් ස්වභාවික නොවන බවත්, නියම දඬුවම් ක්‍රමයනම් ස්වභාවයෙන්ම කිසිවෙකුගේ දඬුවම් දීමකින් තොරව විපාකයන් විඳල ගෙවී යාම බවත් සඳහන් කළා. මෙහෙම කිව්වම කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, එහෙම දඬුවම් දෙන අපායක් නැත්නම් කොහොමද ස්වභාවයෙන්ම ඒ වගේ වැරදිවලට දඬුවම් ලැබෙන්නෙ කියල. මේ නිසා ඒ පිළිබඳව වැඩිදුර පැහැදිලි කිරීමක් තමයි මේ සිද්ධ කරන්නේ. මේ කාරණයේදී අපේ පැරණි දහම් අටුවාවක එන කතාවක් ලෝවැඩ සඟරාවෙන් මේ විදියට කවියට නගල තියෙනවා.

පෙර අඟනක් එක් එළු දෙනක හිස සිඳා<br>
සිය ළඟ වැලඳී ගිනි දැල් නිරය දුක් විඳා<br>
ඇය ඇඟ ලෝම ගණනේ ඉස් කැපුන් ලදා<br>
මෙම රඟ වේය කාටත් අකුසලේ ලෙදා

දැන් මේ කවියෙන් කියන කාරණය කාටත් පැහැදිලිව තේරුම් ගන්න පුළුවන් නිසා අමුතුවෙන් විග්‍රහ කරන්න ඕන නෑ. කෙටියෙන් කියනවනම් පෙර හිටපු කාන්තාවක් එළිච්චියකගේ හිස සිඳපු පාප කර්මයට, නිරයට ගිහින් ගිනි ජාලා මැද දුක් විඳල එතැනින් පස්සෙ නැවතත් ඒ කාන්තාවත් අත්බැව් ගණනාවකදී එබඳුම එළිච්චියක් වෙලා ඇගේ ලෝම ගණනට හිස් කැපුම් කෑවයි කියල තමයි මේකෙන් පෙන්වන්නේ. ඒ කියන්නේ එක් වතාවක් එළිච්චියකගෙ හිස සිඳපු වරදට, නිරයේ දුක් විඳල ඇගේ ලෝම ගාණට හිස් කැපුම් කන්නත් වුනා. **කරන කලට පව් මිහිරිය මී සේ - විඳින කලට දුක් දැඩි වෙයි ගිනි සේ** කියන්නෙත් මේ නිසා තමයි. කොහොම හරි මේ කවියෙන් නොකියවෙන, නමුත් අටුවා කතාවේ සඳහන් මේ හා සම්බන්ධ තවත් උපමා දහම් කථාවක් තියෙනවා.



එක්තරා මනුස්සයෙක් එළිච්චියකගෙ බෙල්ල කපන්න ගෙනාවා. මේ අවස්ථාවේදී ඒ එළිච්චිය අමුතු විදියට අඬන්න කෑ ගහන්නත්, අමුතු විදියට හිනාවෙන්නත් පටන් ගත්තා. ඒ ඇඬීමේත් හිනාවීමේත් විශේෂ වෙනසක් තිබ්ච්ච නිසා අර මනුස්සයා (වධකයා), උඹ මොකද අඬන්නේ, මොකද හිනාවෙන්නේ කියල ඇහුවා. එතකොට ඒ එළිච්චිය මෙහෙම උත්තරයක් දෙනවා. මමත් උඹ වගේ මනුස්සයෙක් වෙලා හිටපු එක්තරා කාලයක එළිච්චියකගේ බෙල්ල කැපුවා. ඒ විපාකයට රෝමයක් රෝමයක් ගානේ එළිච්චියක් වෙලා ඉපදිලා මටත් බෙලි කැපුම් කන්න සිද්ධ වුණා. මේ තමයි ඒ අවසාන විපාක අවස්ථාව. මෙතනින් පස්සෙ මට නැවතත් මේ වගේ බෙලි කැපුම් කන්න සිද්ධ වෙන්නෙ නෑ. ඒ විපාකය ඉවරයි. ඒ නිසා මට හිනා ගියා. හැබැයි ඒත් එක්කම මට උඹ මතක් වුණා, මට එදා වෙච්ච විපාකය රෝමයක් රෝමයක් ගානේ උඹටත් වෙනව නේද කියල. ඒ නිසා මම ඇඬුවා.

දැන් මේ එළිච්චිය මෙහෙම කිව්වම අර වධකයා ඒකට ප්‍රතිචාර දක්වලා, උඹට එහෙම කරදර වෙන්න මම කවදාවත් ඉඩ තියන්නෙ නෑ, මම උඹව ආරක්ෂා කර ගන්නවා කියල ඒ වෙලාවේ ඉඳන් බෙල්ලට ලනු පොටක් දාගෙන තමන්ගේ ගොවි පොලට ගෙනිහින් කෑම කන්න බඳින්න, ඔක්කොම සාත්තු සප්පායම් කරන්න පටන් ගත්තා. ගොවිපලෙන් එනකොට නැවතත් අරන් එනවා. කාටවත් අරගන්න බැරිවෙන්න ඌ රකිනවා. මිනිස්සු මරාගෙන කයි කියල වෙන කොහේවත් බඳින්නෙත් නෑ. තමන්ගෙම ආරක්ෂණ යටතේ තියා ගත්තා. මෙහෙම දවස් කීපයක් යනකොට එක දවසක් වැස්සක් ආවා. මේ වෙලාවේදී අර මනුස්සයා එළිච්චිය කඹයෙන් ඇදගෙන ගොවිපලේ ඉඳල ගෙදර එන්න හදනකොට, අතර මගදි ගලකට හෙණයක් ගහල ඒ ගලේ පතුරක් වැදිල එළිච්චියගේ බෙල්ල කැපිල මළා. දැන් මෙතනදී වෙච්ච කර්ම වේගය ඒකාන්තයෙන්ම ඌට ධර්මතාවයෙන්ම එල දුන්නා. නමුත් ඒක අර මනුස්සය කළේ නෑ. ඒ මනුස්සයා ඒක නොකළත් ස්වභාවයෙන්ම ඒ අවසාන හිස් කැපුමත් ඌට කන්න සිද්ධ වුණා. **ප්‍රබල පාප කර්ම මෙහෙම එල දුන්නත් සමහර පාප කර්ම ප්‍රයෝග සම්පත්තිය හේතුකොට ගෙන දුරස් කර ගන්නත් පුළුවන්. ඒ නිසා** ☞

**අපි නොමැරුවත්, සත්තු ඒකාන්තයෙන්ම අකාලයේ මැරෙනවයි කියල දෘෂ්ඨී නොගත යුතුයි. මේ නිසා ඒ කාරණයට යටත්ව මේක තේරුම් ගත යුතුයි.**

මෙන්න මේ වගේ යම ලෝකයේ ඉන්න යම පල්ලෝ නිරි සතුන්ට දඬුවම් නොකළට ස්වභාවිකව උන්ට විපාක ලැබෙන ක්‍රමයක් එනවා. ''මට ඕකව අහුවුනානම් මං ඕකට මෙහෙමයි කරන්නේ, ඔය අසික්කිත වැඩේට'' මෙහෙම කියන මිනිස්සු එදත් හිටියා, අදත් ඉන්නවා. මේ තමයි යම ලෝකෙ යන්න වඩන සංඛාර. ඒ කියන්නේ දඬුවම ස්වභාවයෙන්ම ලැබෙන්න කලින් මනුස්සයා ඉක්මන් වෙනවා. මනුස්සයාගේ හිතට ඒක ඇදිල එනවා. තමන් දඬුවම ක්‍රියාත්මක කරනවා. ඒක දූෂ්‍ය මානසිකත්වයකින් ගොඩ නගන සංඛාරයක්. තවත් විදියකින් කියනවනම්, කෙනෙක් කරපු වරදකට කර්ම විපාකයක් එන්න කලින් ''මං ඕකට කර්ම විපාකය එනකල් බලා ගෙන ඉන්නෙ නෑ, මට එහෙම අවස්ථාවක් ලැබුණනම් මං ඕකව මරනවා, පතුරු ගහනවා'' කියල මේ විදියට හිතන කියන මිනිස්සු වඩන සංඛාර යම ලෝකය හැදෙන්න හේතුවක් වෙනවා. මේ වගේම තමයි මනුස්ස ලෝකයේ **මිනිස්සු කරන වැරදිවලට ස්වභාවයෙන්ම විපාක දෙන්න කලින් මිනිස්සු හදාගත් නීතිවලින් ඒ අයට විවිධාකාරයෙන් කායික දඬුවම් පමුණුවනවා.** එතකොට ඒකත් එක්තරා විදියකින් අර කර්ම විපාකය පල දෙන්න ඉක්මන් කරනවා.

නමුත් මෙතන තියෙන **භයානකත්වය තමයි මේ විදියට දඬුවම් දෙන කොට සංසාර ගනුදෙනු තවත් දිග් ගැස්සෙනවා මිසක් පියවෙන්නෙ නෑ.** මැරුම් කන, දඬුවම් විඳින අයත්, මං තොපෙන් කවද හරි පලිගන්නවා කියන දෘෂ්ඨියෙන් ඉන්නකොට, කවද හරි අත්භවයකදී ඒකට අවස්ථාවක් යෙදෙනවා. මේ නිසා ඒ **දඬුවම් කරන යම පල්ලන්ටත්, මනුස්ස ලෝකයේ දඬුවම් කරන අයටත් ඒ වගේම විපාක විඳින්න වෙනවා. මේක ඉතින් චක්‍රයක් විදියට කෙලවරක් නැතිව යනවා.** එහෙම නොවුනනම් ඒක ස්වභාවිකව ගිහින් කොතනකින් හෝ කවද හරි කෙලවර වෙනවා. ඒකට පරිසරයත් ස්වභාවිකව සකස් වෙනවා. තමන් කරපු යම් කිසි කර්ම විපාකයක ස්වභාවය භෞතික පරිසරයෙන් පෙන්නුම් කරනවා. විඳින්න තියෙන සැප හෝ දුක භෞතික පරිසරයේ තියෙන දේකින්ම තමයි එන්නේ. කර්ම විපාකයක් විපාක දෙන්නේ භෞතික ලෝකයේ වෙනසකින්. ඒ වෙනසේ ප්‍රතිඵලයක් තමයි සැප හෝ දුක විඳින්න සිද්ධ වීම. කර්ම වේගය නිසයි ඒ විදියට භෞතික පරිසරය සකස් වෙන්නෙත්, වෙනස් වෙන්නෙත්. මේ භෞතික ලෝකයේ ද්‍රව්‍ය වස්තු සමග ඉෂ්ට හෝ අනිෂ්ට අරමුණක් ගැටෙන්න ඕන ඒක පල දෙන්න. ඒ සඳහා හැදිච්ච හේතු ඵලයකුත් තියෙනවා. අපායට ගිහින් උපන්නට පස්සෙ අනිෂ්ට අප්‍රිය අරමුණුමයි එන්නේ. මොකද එහේ තියෙන්නේ ඒ ජාතියේ ඒවා. ඒක කවුරුවත් හදල දුන්නෙ නෑ. අපේ කර්ම ශක්තියෙන්මයි හැදුනේ. එහෙම නැතුව නිකන් හැදුන නෙවෙයි. නිකන් හැදුනයි කිව්වොත් ඒක අහේතුක වාදයක්. නමුත් හේතුවක් නැතිව ඵලයක් හටගන්න විදියක් නෑ.

ඉතින් ඒ වගේ **ස්වභාවිකව එන්න තියෙන කර්ම විපාකවලට වෙනත් අය මැදිහත් වුණාම ඒක කෙලවරක් නැතිව දිගටම යනවා.** දැන් එහෙම කළාට මුල් කාලයේ හිටපු මිනිස්සු (බ්‍රහ්ම කල්පීය මිනිස්සු වාසය කරන කාලයේ) තවත් මිනිහෙක්ව මරන්න, දඬුවම් කරන්න කැමති වුනේ නෑ. මිනිස්සු දඬුවම් නොකළට ඒ කාලයෙත් යමෙක් දඬුවමක්, විපාකයක් විඳින්න වරදක් කළානම් ඒ පුද්ගලයාට ස්වභාවිකවම කොහෙන්හරි විපාකය විඳින්න ක්‍රමයක් ආවා. අට මහ නිරයේ ගින්නට පිච්චෙන එක ස්වභාවිකයි. නමුත් ඔසුපත් නරකයේ තත්වය ඊට වඩා වෙනස්. එහේ සමහර අපායවල්වල දඬුවම් දෙන්න පුද්ගලයො ඉන්නවා. දඬුවම් දෙන්න කර්ම වේගයට අවශ්‍ය පරිසරය පැහැදිලිව තියෙනවා. නමුත් හැදිච්ච කර්ම පරිසරයට රැකුලක් වශයෙන් යම පල්ලන්ගේ සම්බන්ධයත් ඒකට එකතු වෙනවා. (මනුස්ස ලෝකයෙත් මේ වගේම තමයි) එතකොට **මැව්ච්ච අපාය ස්වභාවික වුනාට දඬුවම් දීම ස්වභාවික නෙවෙයි. කර්ම විපාකය පලදෙන්න පෙර යමපල්ලො ඉක්මන් වෙනවා. මේ මනුස්ස ලෝකයේ දඬුවම් දෙනවා වගේම තමයි.** එනම් යමෙකුට දඬුවමක් දෙන්න ඕන කියල මිනිස්සුම නිගමනය කරනවා. සමහර විට මිනිස්සු ඒක වක්‍රාකාරයෙන් ක්‍රියාත්මක කරනවා. එනම් දෙවියො දෙන දඬුවමක් කියල දෙවියන්ගේ නාමයෙන් කායික දඬුවම් දෙනවා.

දැන් තවත් ප්‍රශ්නයක් එන්න පුළුවන්, මේ විදියට මනුස්සයින් හෝ යමපල්ලන් විසින් දෙන දඬුවම්වලට අමතරව ඒ වරදටම ස්වභාවිකව තවත් දඬුවම් ලැබෙනවද කියල. උදාහරණයක් විදියට මේ අත්බවේ යමෙක් මිනී මැරුවනම් ඔහුට මතු අත්බවයක විපාකය එන්න නියමිතයි. නමුත් මේ අත්භවයේදීම මිනිස්සු හදාගත්ත නීතියකින් දඬුවමක් විදියට බෙල්ල කපල මරල දානවා. මෙතනදී බෙලි කැපුම් කැවට ඒක නිකන්ම සිද්ධ වුණා නෙවෙයි. කර්ම විපාකයට ඒක රැකුලක් වෙන බව ඇත්ත. නමුත් අර මතු අත්භවයක එන්න තිබිච්ච විපාකය තමයි දැන් ලැබුනේ. ඒ කියන්නේ හෙණ ගැහිල ගල් පතුරක් වැදිලා අර එලිච්චිය මැරුණ වගේ ස්වභාවිකව එන්න තිබිච්ච විපාකය තමයි මනුස්සයා විසින් කරන්නේ. **කර්ම විපාකය ගෙවිල ඉවරනම් නැවතත් ඒකට තවත් දඬුවමක් ස්වභාවිකව ලැබෙන්නෙ නෑ. නමුත් ගෙවිල ඉවර වෙච්ච නැති ශේෂ මාත්‍ර තිබුණනම් එන්න පුළුවන්.** ඒ වුනාට ඒක කරගත්තු මිනිස්සු හෝ යමපල්ලන් අහක යන නයි පොලොංගු රෙද්ද අස්සෙ දාගෙන කනවෝ කියනවා වගේ වැඩක් තමයි කරගන්නේ. ඒ කියන්නේ මනුස්සයන් හෝ යම පල්ලන් තමන්ට අලුත් විපාකයක් හදාගන්නවා. අර දඬුවමට **ලක් වෙච්ච කෙනා කරගත්තු කර්ම විපාකයක් ඒ දඬුවමෙන් ගෙවුනත් ඒකෙන් අලුත් කර්ම විපාකයක් අනෙකා රැස්කර ගන්නවා.**

උදාහරණ විදියට ඉස්සර මිනිස්සු මාළු ඇල්ලුවෙ නැති වුනාට මාළු ගොඩට ගහන ක්‍රමයක් තිබුණා. විශාල මාළුවෝ දලක් වගේ පොඩි එවුන් කොටු කරනවා. උන් සැඩ පහරට අහුවෙලා ගොඩට ගහනවා. මිනිස්සු දැල් දම්මෙ නැත්නම් උන් ඒ ක්‍රමයට මැරෙනවා. උන් ස්වභාවිකවම ඒ විපාකය විඳල ටිකෙන් ටික කෙලවර කරනවා. ඒක තමයි කර්ම විපාකය, ස්වභාවයෙන්ම එන්න තිබිච්ච ක්‍රමය. ඒක මෙහෙයවන්න කවුරුවත් නෑ. ඒ ක්‍රමයට ගෙවන විපාකය කාගෙවත් පිට පටවන්න බෑ. නමුත් ඒක වෙන්න පෙර, මිනිස්සු වෙන ක්‍රමයක් ක්‍රියාත්මක කරල උන් මරල පව් පුරව ගන්නවා. ඒ විදියට අනුන්ට දඬුවම් දෙන්න ගිහින් මිනිස්සුත් දුක් විඳින විපාකයන් රැස්කර ගන්නවා. අනුන්ගෙ ඇද කුද හොයන්න ගිහින් තමන්ටම අවැඩක් කරගන්නවා. මේ නිසා **බුදුන් වහන්සේ කෙනෙකුට දෙන කායික දඬුවම් අනුමත කළේ නෑ.** ඒකෙන් සසර ගනු දෙනු තවත් දිග් ගැස්සෙනවා. යම් කෙනෙක් වරදක් කළොත් ඒ පුද්ගලයාට වරද වරද හැටියට දැකලා, ආයති සංවරයේ පිහිටලා ඒ වරද ගැන පස්චාත්තාප වෙලා, නැවත ඒ වැරදි නොකරන තත්වයට පත්වෙන විදියට තමයි ඇවැත් හෝ සික්ඛා පද පනවල තියෙන්නේ. ප්‍රබලම දඬුවම හැටියට බ්‍රහ්ම දණ්ඩනය විතරයි උන්වහන්සේ අනුමත කළේ. එහෙම නැත්නම් සතර පාරාජිකාව කියල උපසම්පදා භික්ෂූන් වහන්සේලාට සිවුරු හැර යන්න හේතුවෙන වැරදි 4 ක් පනවල තියෙනවා. ඒකෙන් කෙනෙක් මැරෙන්නෙ නෑ. පුද්ගලයා හැදෙනවා. මැරුවොත් වැඩක් වෙන්නෙ නෑ. මේ නිසා **වරදකට කෙනෙක් මරන එක නෙවෙයි විසඳුම.** මේවායේ තියෙන

භයානකත්වයත්, අසාරත්වයත් වැටහෙන විදියට සුදුසු ආකාරයෙන් ධර්මයක් දේශනා කිරීමයි කළ යුත්තේ. එහෙම ධර්මයක් දේශනා කරන්නත් ඒ වගේ ධර්මයක් විද්‍යාමාන වෙන්න ඕන. ඒ ධර්මය වැහිල ගියාම වෙන වෙන ඒවා කියල මිනිස්සු යහමඟට ගන්න බෑ. ලෝකයේ ඇත්ත ඇති සැටියෙන්ම පෙන්වල දෙන්න ඕන. එහෙම පෙන්වල දුන්නොත් කොච්චර දරුණු අපරාධකාරයෙක් වුනත් පෙර හේතු වාසනා තිබුනොත් ඒක වටහා ගන්නවා. එහෙම නැතත් මතුවට ඒක සංවරයට උපනිශ්‍රයක් කරගන්නවා. අපි දඬුවම් නොකෙරුවත් ස්වභාවිකව ඒ අය කරපු අපරාධවලට ඒ අයට දඬුවම් ලැබෙනවා. ඒක වෙනම සිද්ධියක්. නමුත් මිනිස්සු නිකන් පව් පුරව ගන්නවා.

දැන් මේ ලිපිය ආරම්භයේදීම පෙන්වා දුන් එලිච්චියකගෙ හිස සිඳපු කතාවට නැවත් අවධානය යොමු කළොත්, බොහෝ දෙනෙකුට මෙතනදී ගැටළුවක් එන්න පුළුවන්, එලිච්චියක් එක්ක මනුස්සයෙක් කොහොමද ඔය විදියට සංවාදයක් කළේ, මොකෝ ඌට කතා කරන්න පුළුවන්ද කියල. ඒ කාරණය මේ විදියට පැහැදිලි කරගන්න ඕන.

**ඉස්සර තිබුනා සතුන්ට කතා කරන භාෂාවක්. නමුත් අද තියෙන්නේ ඒකෙන් අල්ප මාත්‍රයයි.** සමහරවිට මනුස්සයෙක් මොනව හරි කිව්වම සතුන්ට සංඥා දැනෙනවා. උන්ට ඒකට ප්‍රතිචාර දක්වන්නත් පුළුවන්. ඒකටත් විවිධ ක්‍රම තියෙනවා. සමහර අවස්ථාවල විවිධ සතුන්ගේ සංඥා දැනගන්න පුළුවන් විවිධ ක්‍රමවේද, වේද ශාස්ත්‍ර ඒ කාලෙ තිබුණා. නමුත් අද ඒවා යටපත් වෙලා. එදා එහෙම තිබුනයි කියල ඔප්පු කරන්න පුළුවන් අවස්ථා ඕන තරම් තියෙනවා. උදාහරණ විදියට අපේ ධර්මයේ භද්‍රවතිකා කියනා ඇතින්නක් ගැන සඳහන් වෙනවා. ඒ ඇතින්න රජ කෙනෙක් ගාව තමයි හිටියේ. නමුත් ඌ දුර්වල වුනාට පස්සෙ සලක්නෙ නැතිව නිදැල්ලේ යන්න ඉඩ හැරියා. ඉතින් මේ ඇතින්න බොහොම දුක සේ, සංවේගීව බුදුන් වහන්සේ වඩින වෙලාවකදී හැඟීමෙන් ඒ බව දැනුම් දුන්නා. උන් වහන්සේට ඒ හැඟීම තේරිලා රජතුමාගෙන් භද්‍රවතිකා ඇතින්න කෝ කියල විමසල, තමන්ට උදව් උපකාර කරපු අයට සැලකීම වටිනා යුතුකමක් බව පෙන්වල දුන්නා. රජතුමා ඒක පිළි අරගෙන ඒ ඇතින්න සොයා ගෙන ඇවිත් මැරෙන කල්ම සැලකුවා.

ඒ වගේම නාලාගිරි ඇතා බුදුන් වහන්සේ ඉදිරියට ආපු වෙලාවේ උන්වහන්සේ ඒ සතාට දැනෙන්න යමක් ප්‍රකාශ කළා. නාලාගිරි ඇතා එදා වෛරී මතින් දුවගෙන එනකොට අසල හිටපු කාන්තාවක්, බුදුන්වහන්සේට හිංසා නොකර මගේ දරුවා කාපිය විනාශ කරපිය කියල ඒ දරුවා ඉස්සරහට දැම්මා. ආපු ගමන්ම දරුවා අරගෙන පොලොවෙ ගහන්න තමයි ඇතා දුවගෙන ආවේ. නමුත් ඒ අවස්ථාවේදී බුදුන් වහන්සේ ''මා කුංජර නාග මා සෙදෝ දුක්ඛ් කුංජර නාග මා සෙදෝ..... ආදී වශයෙන් ගාථාවක් කිව්වා. ''පොඩි එකා ගන්න එපා, උඹ කවුරු පස්සෙද ආවෙ, මම පස්සෙද පොඩි එකා පස්සෙද ?'' මෙහෙම කිව්වම ඌ දමනය වුනා. නාග කිව්වේ ඇතාට. මා කරා වරෙන් ළමයා කරා යන්න එපා, ළමයට දුක් දෙන්න එපා කියලයි උන්වහන්සේ කිව්වේ. එහෙනම් සතාටත් කතා කළාම ඒ හැඟීම දැනිල තියෙනවා.

ඒ වගේම පාරිලෙයිය වනයේ ඇතා ගත්තොත්, බුදුන් වහන්සේට වතුර පවා ගෙනත් දීලා තුන් මාසයක් යන කල්ම ඇප උපස්ථාන කළා. ඌ ඒ කාලෙ හිටපු ඇත් රජෙක්. බිරින්දෑවරුන්ගේ (ඇතින්නියන්ගේ) නොකීකරුකම නිසා අයින් වෙලයි හිටියේ. ඉතින් මේ කාරණාවන් දැනගෙන බුදුන් වහන්සේ ඒ ඇතාට එක්තරා බණක් දේශනා කළා. එයින් පස්සෙ බුදුරජාණන් වහන්සේ පාරිලෙයිය වනයෙන් ආපසු වඩින කොට ඇති වූ සංවේගයෙන් ඌ පපුව පැලිල මැරිල ඒ අත්බැවෙන් චුත වෙලා තුසිත දෙව්ලොව ඉපදුනා. එතකොට ඌටත් ඒ හඬ තේරුම් ගන්න ක්‍රමයක් තිබිල තියෙනවා. දෙව් ලොවේදී බණ අහලා මඟඵල ලැබුව කියලත් සඳහන් වෙනවා. **මොකද සතෙක් වෙලා ඉන්නකොට බණ අහලා චිත්ත ප්‍රසාදයෙන් දුගතියෙන් නිදහස් වෙනවා මිසක් මඟඵල ලබන්න පුළුවන් කමක් නෑ.**

මේ විදියට එදා වගේ නැතත් අදත් මේ සත්ව භාෂාව එක්තරා ආකාරයකට අපි අතර තියෙනවා. උදාහරණ විදියට අලියට දහ දහ කියන කොට ඌ යනවා. තෙත්ත කිව්වොත් ඌ එනවා. පුරු කිව්වොත් ඌ යමක් තදින් තල්ලු කරනවා. බිල කිව්වොත් කකුල ගස්සනවා. මේ වගේ ඌට භාෂාව තේරෙනවා. ඒ වගේම මී හරකට ජහ් කිව්වම යනවා. මහ් මහ් කිව්වම දකුණට යනවා. පිච පිච කිව්වම වමට යනවා. ඌ ඒ වචනවලට ප්‍රතිචාර දක්වනවා. ඒ වගේම බළලට සේ සේ කිව්වම එහෙම නැත්නම් ඉසීසි කිව්වම ඌ ලඟට එනවා. චිප් චිප් කිව්වම ඌ යනවා. හැබැයි බල්ලට එහෙම කිව්වට ප්‍රතිචාර දක්වන්නෙ නෑ. ඌට දුහ් කිව්වම යනවා. ඉජුක් කිව්වම එනවා. ඌට උගේ භාෂාවෙන් කියන්න ඕන. කාක්කන්ට අපි පුරුදු කරල නැති වුනත්, උන්ට ජේන්න මොනව හරි අරන් කාක්... කාක්... කියන කොට කොහෙන් හරි කාක්කො එනවා. ඒ හඬට උන් ආකර්ශනය වෙනවා. ෂුහ් කිව්වම ඔක්කොම යන්න යනවා. කාවන්තිස්ස රජතුමා ගැන කතා කරන කොට කළු පාට වර්ණය නිසා කාකවණ්ණ තිස්ස - කාවන්තිස්ස වුනා කියලත් කියනවා. ඒ වගේම කපුටු භාෂාව දන්න නිසා එහෙම කිව්ව කියලත් කියනවා. ඊළඟට කුකුලට බා.... බා.... කිව්වම ඌ ලඟට එනවා.

මේ විදියට ඒ ඒ සතුන්ට විවිධ භාෂාවන් තියෙන බව හොඳට පැහැදිලි වෙනවා. ඒ භාෂාවන් භාවිතා කරල සත්තු අල්ලල, ගෙන්වල, බන්දල තියෙනවා. ඒ වගේම විවිධ වැඩත් අරන් තියෙනවා.

නාගයා ගත්තොත් ඌට කන් නෑ. නමුත් නාග භාෂාවෙන් කතා කළාම ඌ ඒකට ප්‍රතිචාර දක්වනවා. ඒ කම්පන තරංගවලින් ස්පර්ශය අරගෙන තමයි ඌ ප්‍රතිචාර දක්වන්නේ. සමහර බන්ධන මන්තර තියෙනවා. ඒවා කියන්නත් හොඳ නෑ. ඒවගේ බන්ධන මන්තරයකින් මතුරලා වැලි ටිකක් ඉස්සම නයාට යන්න බෑ, මුකුත් කර ගන්න බෑ. ඒවට කියන්නේ දපන මන්තර කියල.

ඉතින් මේ වගේ අදත් අපිට සත්ව හැඟීම්වලින්, උන්ගේ ඉරියව්වලින් යමක් කමක් දැන ගන්න පුළුවන් අවස්ථා තියෙනවා. උදාහරණ විදියට බළලෙක් ඇඟ ලෙව කනකොට, ඔන්න අද නෑයො එනවයි කියනවා. සමහර අවස්ථාවල තමන්ගේ වත්තේ මොකෙක් හරි විසකුරු සර්පයෙක් හිටියොත්, ගෙදර ඉන්න බල්ලා අමුතු භාෂාවකින් ගෙදර උදවියට යම් හැඟීමක් ප්‍රකාශ කරල ඒක පෙන්වන්න ටික දුරක් යනවා. ඒ වගේ ඒ භාෂාවල් දියුණු කරල අද දරුණු ගණයේ අපරාධ හොයන්නත් බල්ලන් භාවිතා කරනවා. මිනිස්සුන්ටත් හොයාගන්න බැරි සමහර දේවල් උන් හොයා ගන්නවා. මේ විදියට උන්ගේ චර්යා රටා අරගෙන මිනිස්සු අදහස් ගන්නවා. මේ වගේ එක්තරා ගමක මිනිහෙක් එක්ක හොරකමේ ගියපු බල්ලෙක් හිටියා. ඌට හොරකම තේරෙනවා. මිනිහා හොරකම් කරන කොට අයිතිකාරයො එනවනම් බල්ලා උගේ භාෂාවෙන් ඒක අඟවනවා. බල්ලා තමයි හොරකම් කරන්න ඔත්තු දෙන්නේ. ටොමිය කියන්නෙ උගේ නම. කෑම දෙන්න ඒ නමින් අඬගහනවා. ඌට ජෙම්ට් කිව්වොත් පාර දිගේ දුවල වට පිට බලල හොරකමේ යන්න ඒ පුද්ගලයාට සංඥාවක් දෙනවා.

මේ වගේ එදත් සත්ව භාෂාව දැනගන්න පුළුවන් මිනිස්සු හිටියා. නමුත් මෙතනදී අපි මේ සිංහල භාෂාවෙන් කතා කරනවා වගේ සත්තු කතා ☞

කළා කියන එක නෙවෙයි කියන්නේ. යම් හැඟීමක් දුන්නා කියන එකයි. නමුත් අපි කතාවට කියනවා, ''බල්ලා තමයි හොරා එනව කියල කිව්වේ....'' ආදී වශයෙන්. නමුත් ඌ දුන්නෙ සංඥාවක්. අපි ඒක අපේ භාෂාවෙන් ගලපල කිව්වට ඌ සංඥාවකින් වෙන විදියකටයි ඒක දුන්නේ.

මේ වගේ අර එලිච්චියත් මොකක් හරි වෙච්ච සිද්ධියක් සමහර විට සංඥාවකින් කියන්න පුළුවන්. ඒක අපි අද දන්නෙ නැති වුනාට එදා මීට වැඩිය දියුණු ක්‍රම තිබුණා. සමහර විට ඒ එලිච්චිය මනුස්සයෙක් වෙලා හිටපු කාලයක ඒ ජාතියේ බණක් අහල තියෙන්න ඇති. නමුත් එදා ඒක නොපිලිගන්න ඇති. එලිච්චියක් වෙලා ඉපදෙන්න පෙර එලිච්චියකගේම බෙල්ල කපලා රෝම කූපයක් ගානේ උපදින්න හේතු වුනා කියල හැඟීමක් දුන්නේ, මේ කියන බණ කලින් අහල තිබුණත් ගණන් ගත්තෙ නැති නිසා වෙන්න පුළුවන්. මොකද **සමහර සතුන්ට සමහර මිනිස්සුන්ට වගේම ජාති ස්මරණ ඥානය කියල එකක් පහළ වෙනවා. ඒක කර්ම විපාක සෘද්ධියක්. ඒක පහල වුනාට පස්සෙ සතෙකුට වුනත් පෙර අත්බැව්වලදී කරපු කියපු දේවල් සිහියට එනවා. ඒ වගේ වෙලාවට ඌට වචන කතා කරන්න බැරි වුනත් ඒ හැඟීම යම් ආකාරයකට දෙන්න පුළුවන්.** ඒක අහගෙන බලාගෙන ඉන්න කෙනාටත් හේතු ඵල විදියට සකස් වෙච්ච යම්කිසි හැකියාවක් තියෙනවනම් ඒ අවස්ථාවේ සතා කියපු දේ තේරුම් ගන්න පුළුවන්. ඉතින් මේක මේ විදියට ආපු දහම් කතාවක් මිසක් නිකන්ම නිකන් උපමා කතාවක් නෙවෙයි. නමුත් අපිට අද ඒක උපමා කතාවක් විදියට පෙන්වන්න වෙලා තියෙන්නේ සාක්ෂි යටපත් වෙච්ච නිසයි. සත්තු සමඟ කතා කරපු විවිධ ක්‍රම තිබුනා. ඒවා සමහර වෙලාවට එක එක විදියේ ඒවා. අපි සිංහලෙන් කතා කළාට ඒක නෙවෙයි මේ කියන්නේ.

සතුන්ට සිංහලෙන් කිව්වත් තේරෙන අවස්ථාවක් මේ ලිපිය ලියන මටත් දැන ගන්න ලැබුණා. එක්තරා හිමි නමක් වැඩ සිටින ස්ථානයකට නිතර බල්ලෙක් පැමිණෙන්න පුරුදු වෙලා හිටියා. උගේ මූණ දිහා බලාගෙන හිටපු ඒ හිමියන්ට මේ බලු හාමි පෙර අත්භවයේ එක්තරා නමකින් මුරකරුවෙක් වෙලා අසල වලව්වක වත්තක් මුර කළ කෙනෙක් ලෙස නිතර වැටහෙන්න වුනාලු. දිනක් ඒ බල්ලා මේ හාමුදුරුවන්ගේ මුහුණ බලාගෙන හිටපු වෙලාවක, උන් වහන්සේ අර පෙර අත්භවයේ නම කතා කරල, අනේ උඹට වෙච්ච දේ කියල කිව්වලු. එයින් ලැජ්ජාවට පත් මේ බල්ලා බිම බලාගෙන හිමිහිට මාරුවෙලා ගියාලු. ඉන් පස්සෙ උන් වහන්සේ ඉන්න ප්‍රදේශයට ඌ නැවිත් හිටියලු. දකින කොටත් පැනල දුවනවලු. දින දෙක තුනකින් පස්සෙ ඒ බල්ලා ඒ ස්ථානයට පැමිණීමත් නතර වුනාලු. පසුව ඒ නම තියෙන කෙනෙක් ගැන විමසල බලන කොට ඒ ගමේ අසල වලව්වක පොල් වත්තක් මුර කරල තියෙන්නෙ අර නම තියෙන තැනැත්තෙක් බව දැන ගන්න ලැබිල තියෙනවා. මේක මේ කාලයේ දැනගන්න ලැබිච්ච සත්‍ය කතාවක්.

ඉතින් අපි අද කියනවා බුදුන් වහන්සේ මෙහෙම දේශනා කළයි කියල සිංහලෙන්, එහෙමත් නැත්නම් පාළියෙන්. නමුත් උන්වහන්සේ මොන විදියට මොන භාෂාවකින් ඒ කාරණා ප්‍රකාශ කළාද කියල අද ඉන්න කවුරුවත් දන්නෙ නෑ. පාළියෙන් කිව්ව කියන්නත් බෑ. මොකද අද හදාගත්තු පාලි භාෂාව (වර්තමානයේ පවතින) අවුරුදු දාහකට එහා තිබුනෙ නෑ. වට අකුරු, ලිඛිත භාෂා ශාස්ත්‍රය ආවේ මේ මෑත කාලෙකදී. පොත් ලිව්වට බුදුන් වහන්සේ දේශනා කරපු මාධ්‍යය මොකක්ද කියල දැන් ඉන්න උදවිය දන්නෙ නෑ. ඒ කාලෙ හිටපු මිනිස්සු කතා කරපු භාෂා මාධ්‍යය මොකක්ද කියලත් අපි දන්නෙ නෑ. ඒක දකින්නනම් පෙර විසූ කඳ පිළිවෙල දකින ඥානය පහළ වෙන්න ඕන. නමුත් කොහොම හරි එදා උන් වහන්සේ දේශනා කරපු දහම් අදහස අදත් ඒ වචනවලින්ම නැතිවට මොකක් හරි මාධ්‍යයකින් අපේ සඟ පරපුර ආරක්ෂා කරගෙන ඇවිත් තියෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

***වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :***

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 17 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**<u>ශ්‍රම දායකත්වය</u>** ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ චන්දිම පෙරේරා මහතා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ ඩබ්.ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ♦ පුන්සිරි කොස්තා මහතා - පිටිපන ♦ දිල්හාන් ලියනගේ මහතා - තවලම ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**<u>මූල්‍යමය දායකත්වය</u>** ♦ ජයන්ති අත්තනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර, ඕස්ට්‍රේලියාව - රු. 50,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ බිනග සමාධිත් පුතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 6,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු. 5,000/- ♦ චන්දන ගුණියන්ගොඩ මහතා - කිරිබත්ගොඩ - රු. 5,000/- ♦ චරිත් ඉන්දික මහතා - ඉතාලිය - රු. 5,000/- ♦ තුසිත නාකන්දල මහතා - ගල්කිස්ස - රු. 5,000/- ♦ හර්ෂනී සිරිවර්ධන මහත්මිය ඇතුළු පවුලේ සැම - නෙළුව - රු. 5,000/- ♦ අසේල සඳරුවන් මහතා - බටුවත්ත - රු. 5,000/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා - පොල්ගහවෙල - රු. 5,000/- ♦ නිහාල් රත්නායක මහතා - හිරිපිටිය - රු. 3,000/- ♦ දීපාල් කල්දේරා මහතා - දෙහිවල - රු. 3,000/- ♦ ලලිතා පද්මිනී කොඩිකාර මහත්මිය - ජා ඇල - රු. 2,500/- ♦ නන්ද සුදුසිංහ මහතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500/- ♦ මොනිකා කුලසේකර මහත්මිය - අත්තිඩිය - රු. 2,000/- ♦ ටී.ඩී. විමලා නන්දසීලි මහත්මිය - පාදුක්ක - රු. 2,000/- ♦ ධර්මදාස ජාලියගොඩ මහතා - විතාරන්දෙනිය - රු. 2,000/- ♦ එස්.ඩී. පුණ්‍යවතී මහත්මිය - පිළියන්දල - රු. 2,000/- ♦

මානෙල් කටුගම්පොල මහත්මිය - මහරගම - රු. 2,000/- ♦ දමයන්ති පත්තම්පෙරුම මහත්මිය ඇතුළු පවුලේ සැම - වේයන්ගොඩ - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනෙවිය - ගාල්ල - රු. 2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ජගත් විදානගේ මහතා - කැස්බෑව - රු. 1,200/- ♦ පුහුල්හේනේ රතනසිරි හිමි - පොල්ගහවෙල - රු. 1,000/- ♦ ප්‍රසන්න සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ ඩී.පී. වික්‍රමසිංහ මහතා - ගාල්ල - රු. 1,000/- ♦ ඩබ්.ලිලී ප්‍රනාන්දු මහත්මිය - පොල්ගහවෙල - රු. 1,000/- ♦ මධුහානි කළුවැව මහත්මිය - මාලබේ - රු. 1,000/- ♦ අජිත් නෙලන්ජන් පෙරේරා මහතා - දෙහිවල - රු. 1,000/- ♦ රංජනී බණ්ඩාරනායක මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය - ගොතටුව - රු. 1,000/- ♦ නිලූකා ප්‍රභාෂිණී ගුණරත්න මහත්මිය ඇතුලු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ කේ.එච්.එම්. ගුණරත්න මහතා - නෙළුව - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාඛා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ ආර්.ගීකියනගේ මහතා - හොරණ - රු. 1,000/- ♦ ඩබ්.ඒ. සෝමරත්න මහතා ඇතුළු පවුලේ සැම - දඹුටුව - රු. 1,000/- ♦ සී.එම්. පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ ආර්.ඒ. ගාමිණී අබේරත්න මහතා - කෑගල්ල - රු. 1,000/- ♦ මනෝජ් ජයසූරිය මහතා - මහරගම, රංජිත් වික්‍රමසිංහ මහතා හා අනුර රංජිත් කුමාර මහතා - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, ඉසුරු සම්පත් මහතා - කළුතර, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, සුජාතා දසනායක මහත්මිය - දෙහිවල, රංජිත් සමරකෝන් මහතා - මත්තෙගොඩ, චන්දිම ගුණදාස මහතා - මොරටුව, ශාන්ත මාරසිංහ මහතා - මහනුවර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, සුභාෂිණී අබේරත්න මහත්මිය - වත්තල, ශ්‍රී රංජිත් සිංහ මහතා - කිරිබත්ගොඩ, ශීලා කරන්නාගොඩ මහත්මිය - හොරණ, නන්දනී එදුස්සූරිය මහත්මිය - අත්තිඩිය, චතුර ධනංගල මහතා - පාදුක්ක, අනුලා විජේසූරිය මහත්මිය - නුගේගොඩ - රු. 12,700/- ♦ එකතු වූ සියළු මුදල් පරිත්‍යාග රු. 167,400/- ♦ පළමු පිටපත් 7000 සඳහා මුද්‍රණ වියදම රු. 175,000/- ♦ අනෙකුත් වියදම් - 4,760/- ♦ සම්පූර්ණ වියදම - රු. 179,760/- ♦ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා!**

**එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,**
**අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,**
**දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ**
**අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද**
**නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත**
**බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එලි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




**සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සභා ගුවන් හඬ''ට පිවිසෙන්න.**



# මරණයේ හෝංකාරයා



ගනඳුර රජ් කරන සමයක නිසල වනේ
දැනගෙන යමක් සැඟවී ගෙන ගසක කොනේ
එන බව කාහට ද විපතකි නුදුරු දිනේ
මනසට නැගුණු බිය පවසයි හුරුව කිනේ

රුධිරය ඉවෙන් ගැස්සෙන නොමිනිස් බලය
විඳිනට එරස අල්වා තවෙකෙකු නිලය
බුදිනට සැරසෙනා විට ඇතිවන වලය
නිදි නැති රැයින් උලමෙකු ගෙයි පා මුලය

මිනිසුන් නිදන තව එක් මැදියම් රැයක
පටිසන් දෙවන බිය වද්දන මරණයක
සුසුමන් හෙළන නෑ හිත මිතුරන් නොයෙක
දසුනන් ඇඳෙයි උල ලේනෙකුගේ ළයක

ළයෙහි වූ ලෙය ද උණු වෙන කතා කියා
ලොවෙහි සතුන් බිය වැද්දුව රසය සොයා
පවෙහි විපාකය එන විට නැතිව දයා
සිතෙහි මැවෙන බිය පවසයි මුවට අයා

උලකින් විඳින ලෙස අන් ලේ උණු කරන
වැලකින් කතා පෙළ දිග හැර බිය දරන
කලකින් එහා කළ පාපය සැරි සරන
මුලකින් ඇදී ඇත අද බිය දෙන මරණ

අකල් මරණයක සේයා දැනෙන කොට
විකල් යකුන් දඟලයි ගිජු කොට ලෙයට
නොකල් රැයේ හඬනා උලමෙකු හඬට
තිකල් බිය දැනේ ලෝ සරනා සතට

එදත් මේ ලෙසට මිනිසුන් බිය වද්දා
නොදත් තරම දුගතියකට ගියෙ නැද්දා
අදත් පුරුද්දට දැමුවත් පෙර සද්දා
බෙදත් දුකම සතහට පෙර කල ලද්දා

එයි දැයි කියනු බැහැ වැනසුම තවෙකෙකුට
කොයි දේ කළත් මරණය උරුමය හැමට
දෙයි නම් කරුම එල අප පෙර කළ ලෙසට
ඇයි මේ තරම් බිය උලමෙකුගේ හඬට

පිළි සමුපන්න වී නිම වෙන ලෝකයක
හෙළි වෙයි නැත රහස් ඇති හැම බාවයක
බිලි වෙන විට යමෙකු අකලට කාලයක
පලි නැත හඬන උලමෙකු ළඟ මානයක



නොබැන සතෙකුගේ හඬකට බිය ගෙනෙන
ඉගෙන යමක් ඉන් ලෝකයෙ සොබ නැණෙන
මැරෙන වෙලාවක මුත් කොතැනක තැනෙන
වටින යමක් නැත භව ගමනෙහි යනෙන

පබැඳුම - නිශිඳු චන්දන සිරිවර්ධන

# මොක් දැකුමට



පායා නැගී එන දම් තරු පෙළට හිඳ
මායා සසර බිඳලන සිත් ගනිති වැඳ
දායාදයක් වූ කහ පිරි සළුව හැඳ
සේයා මවයි දැකුමට මොක් පුරය සොඳ

සිලි සිලි නදින් පිස යන මඳ පවන ගලා
පිළිබඳ දහම් කතිකාවක ළකුණු කළා
දිළිසෙන කහ සිලෙන් නැග එන කිරණ වලා
එළි කර අවට විහිදී යයි දසත බලා

ඇහිරෙයි සිහ නදින් තුන් ලොව මරු වහර
ඉගිරෙයි කෙලෙස් මළ සිල් ගුණයෙන් ඇහැර
බිහි වෙයි සඟුන් පෙළ ගලමින් දම් දහර
සිහි වෙයි පෙර දවස මුනි වැඩ සිටි වෙහෙර

පෙර කල පටන් ආ සසරෙහි නැගුනු දොස
බර ලෙස දැනේ ඇසෙනා විට මුනිඳු බස
තිර නැති ලොවක තව විසුවද කුමන තොස
දුර නැත වඩින්නට තව මොක් පුරය දෙස

ඇතත් විඳින්නට ඉඩකඩ ලෝ සැපත
සිතක් නැති නිසා ලෝ දුක යළි නොපත
මතක් වෙන විටත් ලෝ සතුනගෙ විපත
පතත් නොවේවා භව දුක දෙන උපත

පබැඳුම - නිහිඳ චන්දන සිරිවර්ධන



නිහිඳ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.